# විද්‍යාව

## I කොටස

## 7 ශ්‍රේණිය

අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව



# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා - ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති - අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ - අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ - අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

අපි වෙමු එක මවකගෙ දරුවෝ
එක නිවසෙහි වෙසෙනා
එක පාටැති එක රුධිරය වේ
අප කය තුළ දුවනා

එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ
එක ලෙස එහි වැඩෙනා
ජීවත් වන අප මෙම නිවසේ
සොඳින සිටිය යුතු වේ

සැමට ම මෙත් කරුණා ගුණෙනී
වෙළී සමගි දමිනී
රන් මිණි මුතු නො ව එය ම ය සැපතා
කිසි කල නොම දිරනා

ආනන්ද සමරකෝන්

# පෙරවදන

දියුණුවේ හිණිපෙත කරා ගමන් කරනා වත්මන් ලොවට, නිතැතින්ම අවැසි වනුයේ වඩාත් නව්‍ය වූ අධ්‍යාපන ක්‍රමයකි. එමගින් නිර්මාණය කළ යුත්තේ මනුගුණදම් සපිරුණු හා කුසලතාවලින් යුක්ත දරු පරපුරකි. එකී උත්තුංග මෙහෙවරට ජව බලය සපයමින්, විශ්වීය අභියෝග සඳහා දිරියෙන් මුහුණ දිය හැකි සිසු පරපුරක් නිර්මාණය කිරීම සඳහා සහාය වීම අපගේ පරම වගකීම වන්නේ ය. ඉගෙනුම් ආධාරක සම්පාදන කාර්යය වෙනුවෙන් සක්‍රීය ලෙස මැදිහත් වෙමින් අප දෙපාර්තමේන්තුව ඒ වෙනුවෙන් දායකත්වය ලබා දෙන්නේ ජාතියේ දරුදැරියන්ගේ නැණ පහන් දල්වාලීමේ උතුම් අදිටනෙනි.

පෙළපොත විටෙක දැනුම් කෝෂ්ඨාගාරයකි. එය තවත් විටෙක අප වින්දනාත්මක ලොවකට ද කැඳවාගෙන යයි. එසේම මේ පෙළපොත් අපගේ තර්ක බුද්ධිය වඩවාලන්නේ අනේකවිධ කුසලතා පුබුදු කරවාගන්නට ද සුවිසල් එළි දහරක් වෙමිනි. විදුබිමෙන් සමුගත් දිනක වුව අපරිමිත ආදරයෙන් ස්මරණය කළ හැකි මතක, පෙළපොත් පිටු අතර දැවටී ඔබ සමගින් අත්වැල් බැඳ එනු නොඅනුමාන ය. මේ පෙළපොත සමගම තව තවත් දැනුම් අවකාශ පිරි ඉසව් වෙත නිති පියමනිමින් පරිපූර්ණත්වය අත් කරගැනුමට ඔබ සැම නිරතුරුව ඇප කැප විය යුතු ය.

නිදහස් අධ්‍යාපනයේ මහානර්ඝ ත්‍යාගයක් සේ මේ පුස්තකය ඔබ දෝතට පිරිනැමේ. පෙළපොත් වෙනුවෙන් රජය වැය කර ඇති සුවිසල් ධනස්කන්ධයට අර්ථසම්පන්න අගයක් ලබා දිය හැක්කේ ඔබට පමණි. මෙම පාඨ්‍ය ග්‍රන්ථය මනාව පරිශීලනය කරමින් නැණ ගුණ පිරි පුරවැසියන් වී අනාගත ලොව ඒකාලෝක කරන්නට දැයේ සියලු දූ දරුවන් වෙත දිරිය සවිය ලැබේවායි හදවතින් සුබ පතමි.

පෙළපොත් සම්පාදන කාර්යය වෙනුවෙන් අප්‍රමාණ වූ සම්පත්දායකත්වයක් සැපයූ ලේඛක, සංස්කාරක හා ඇගයුම් මණ්ඩල සාමාජික පිරිවරටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයේ සැමටත් මාගේ හදපිරි ප්‍රණාමය පුදකරමි.

**පී. එන්. අයිලප්පෙරුම**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
ඉසුරුපාය
බත්තරමුල්ල
2020.06.26

## නියාමනය හා අධීක්ෂණය

පී. එන්. අයිලප්පෙරුම - අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

## මෙහෙයවීම

ඩබ්ලිව්. ඒ. නිර්මලා පියසීලී - අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන)
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

## සම්බන්ධීකරණය

කේ. ඩී. බන්දුල කුමාර - නියෝජ්‍ය කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

වයි. එම්. ප්‍රියංගිකා කුමාරි යාපා - සහකාර කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

ඩබ්. සුචේන්ද්‍රා ශ්‍යාමලීන් ජයවර්ධන - සහකාර කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

## සංස්කාරක මණ්ඩලය

1. එම්. පී. විපුලසේන - අධ්‍යාපන අධ්‍යක්ෂ (විද්‍යා)
අධ්‍යාපන අමාත්‍යංශය
2. ප්‍රේමලාල් උඩුපෝරුව - අධ්‍යක්ෂ
විද්‍යා දෙපාර්තමේන්තුව
ජාතික අධ්‍යාපන ආයතනය
3. ආචාර්ය පුෂ්පා විතාරණ - ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය
අධ්‍යාපන දෙපාර්තමේන්තුව
පේරාදෙණිය විශ්වවිද්‍යාලය
4. ආචාර්ය නිල්වලා කෝට්ටේගොඩ - ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය
රසායන විද්‍යා අධ්‍යානංශය
ශ්‍රී ජයවර්ධනපුර විශ්වවිද්‍යාලය
5. වී. රාජුදේවන් - සහකාර කථිකාචාර්ය
ජාතික අධ්‍යාපන ආයතනය
6. කේ. ඩී. බන්දුල කුමාර - නියෝජ්‍ය කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
7. වයි. එම්. ප්‍රියංගිකා කුමාරි යාපා - සහකාර කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
8. ඩබ්. සුචේන්ද්‍රා ශ්‍යාමලීන් ජයවර්ධන - සහකාර කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

## ලේඛක මණ්ඩලය

1. පී. අයි. විජේසුන්දර - ගුරු උපදේශක (විද්‍යා)
කලාප අධ්‍යාපන කාර්යාලය, උඩුගම

2. එල්. ගාමිණී ජයසූරිය - ගුරු උපදේශක (විද්‍යා)
කොට්ඨාස අධ්‍යාපන කාර්යාලය, වෙන්නප්පුව

3. ශිරාණි දිසානායක - ගුරු සේවය
විශාකා විද්‍යාලය, කොළඹ

4. එච්. ටී. සී. ගාමිණී ජයරත්න - ගුරු උපදේශක (විශ්‍රාමික)

5. ආර්. එම්. පී. බණ්ඩාර - ගුරු සේවය
නෙළුව ජාතික පාසල, නෙළුව

6. කේ. ඉන්දික ජයවර්ධන පීරිස් - ගුරු සේවය
මෙතෝදිස්ත උසස් විද්‍යාලය, මොරටුව

7. සුයාමා කෝට්ටගොඩ - ගුරු සේවය
බණ්ඩාරගම ම.ම.වි. බණ්ඩාරගම

8. චමිලා උක්වත්ත - ගුරු සේවය
ඩී. එස්. සේනානායක විද්‍යාලය
කොළඹ 07

9. ඒ. එම්. ටී. පිගේරා - සහකාර අධ්‍යාපන අධ්‍යක්ෂ (විශ්‍රාමික)

10. කේ. සාන්ත කුමාර් - ගුරු උපදේශක(විද්‍යා)
කලාප අධ්‍යාපන කාර්යාලය, හාලිඇල

11. එච්. එම්. එෆ්. රෆාකා - විදුහල්පති
දුම්මලදෙණිය මුස්ලිම් විද්‍යාලය

12. ටී. බාලකුමාරන් - ගුරු සේවය (විශ්‍රාමික)

## භාෂා සංස්කරණය හා සෝදුපත්

1. වයි. පී. එන්. පී. විමලසිරි - ගුරු උපදේශක
කලාප අධ්‍යාපන කාර්යාලය
ශ්‍රී ජයවර්ධනපුර

2. එස්. ප්‍රියංකා ද සිල්වා ගුණසේකර - ගුරු සේවය
දොඩන්ගොඩ මහා විද්‍යාලය
දොඩන්ගොඩ

## චිත්‍ර රූප සටහන්, පිට කවරය

1. මාලක ලලනජීව - චිත්‍ර හා ග්‍රැෆික් ශිල්පී

## පරිගණක අක්ෂර සහ පිටු සැකසීම

1. පී. නවීන් තාරක පීරිස් - අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
2. පී. ඩබ්. ළහිරු මධුෂාන් - අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
3. ඒ. ආශා අමාලි විරරත්න - අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
4. තරිඳු සමරසිංහ - අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

# හැඳින්වීම

2016 වර්ෂයේ සිට ශ්‍රී ලංකාවේ පාසල් පද්ධතිය තුළ 7 වන ශ්‍රේණියේ සිසුන්ගේ භාවිතය සඳහා ජාතික අධ්‍යාපන ආයතනය විසින් සකස් කරන ලද විෂය නිර්දේශයට අනුකූලව අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව මගින් මෙම පෙළපොත සම්පාදනය කර ඇත.

ජාතික අධ්‍යාපන අරමුණු, ජාතික පොදු නිපුණතා, විද්‍යාව ඉගැන්වීමේ අරමුණු හා විෂය නිර්දේශයේ අන්තර්ගතයට අනුකූල වන පරිදි විෂය කරුණු පෙළගැස්වීමට මෙහි දී උත්සාහ දරා ඇත.

සංවර්ධනාත්මක විද්‍යාත්මක චින්තනයක් සඳහා අවශ්‍ය දැනුම කුසලතා හා ආකල්ප ජනිතවන අයුරින් ශිෂ්‍යයා සක්‍රිය ඉගෙනුම් ක්‍රියාවලියකට යොමු කිරීම විද්‍යාව විෂයය මගින් සිදු කෙරේ.

මෙම පොත සම්පාදනයේ දී බොහෝ දුරට එදිනෙදා ජීවිත අත්දැකීම් පදනම් කර ගනිමින් විෂය කරුණු පෙළ ගැස්වීම සිදු කර ඇත.විද්‍යාව එදිනෙදා ජීවිතයට කොතරම් සමීප විෂයයක් ද යන්න එමගින් තහවුරු කර ඇත.

ක්‍රියාකාරකම් පාදක කර ගනිමින් පෙළපොත සම්පාදනය කර තිබීම ද සුවිශේෂත්වයකි. විද්‍යාත්මක ක්‍රමය පදනම් කර ගනිමින් දැනුම, කුසලතා ආකල්ප වර්ධනය වන පරිදි ක්‍රියාකාරකම් සකස් කර ඇත. නිවසේ දී තනිව කළ හැකි ක්‍රියාකාරකම් මෙන් ම, පාසලේ දී කළ හැකි ක්‍රියාකාරකම් ද මෙහි අන්තර්ගත වේ. ක්‍රියාකාරකම් මගින් ඉගෙනීම, ළමයා තුළ විෂයය කෙරෙහි ආකර්ශනයක් මෙන් ම ප්‍රියතාවක් ජනිත කර වීමට සමත්වනු ඇතැයි අපි විශ්වාස කරමු.

සෑම පරිච්ඡේදයක් අවසානයේ ම සාරාංශයක් ද, අභ්‍යාසමාලාවක් ද, පාරිභාෂික ශබ්ද මාලාවක් ද අන්තර්ගත කර ඇත. ඒ තුළින් පරිච්ඡේදයට අදාළ සුවිශේෂී කරුණු හඳුනා ගැනීමට ද, අපේක්ෂිත ඉගෙනුම් ඵල වෙත ළඟා වී ඇත් ද යන්න පිළිබඳව ස්වයං ඇගයීමක් ද සිදු කර ගත හැකි ය.

විෂය කරුණු පිළිබඳව වැඩිදුර අධ්‍යයනට යොමු කිරීම සඳහා 'අමතර දැනුම' යටතේ කරුණු ඉදිරිපත් කර ඇත. එම කරුණු ළමයාගේ විෂය පථය පුළුල් කිරීම සඳහා පමණක් වන අතර වාර විභාගවල දී ප්‍රශ්න ඇසීමට නොවන බව මෙහි දී අවධාරණය කරනු ලැබේ.

පැවරුම් හා ව්‍යාපෘති තුළින් අපේක්ෂා කරනුයේ ගවේෂණාත්මක අධ්‍යයනයට සිසුන් යොමු කිරීමයි. මෙහි දී පාඩමෙන් සාධනය කර ගන්නා සංකල්ප භාවිතය, විශ්ලේෂණය හා සංශ්ලේෂණය වැනි උසස් හැකියා දක්වා වර්ධනයට ඉඩ ප්‍රස්ථාව සලසනු ලැබේ.

සාම්ප්‍රදායික ඉගැන්වීම් ක්‍රම භාවිත කරමින් ළමයාට උගන්වනවා වෙනුවට, ළමයා ඉගෙනීමට යොමු කිරීම විද්‍යාව උගන්වන ගුරු භවතුන්ගේ කාර්ය භාරය විය යුතු බව අපගේ විශ්වාසය යි. තම ගුරු භූමිකාව නිසි පරිදි ක්‍රියාත්මක කිරීමට ගුරුවරුන්ට ද මෙම පොත ඉගෙනුම් ආධාරකයක් ලෙස යොදා ගත හැකි ය.

මෙම පොත සම්පාදනයේ දී අදහස් දක්වමින් සහයෝගය ලබා දුන් කැලණිය විශ්ව විද්‍යාලයේ ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය ආචාර්ය ඒ. ඒ. එල්. රත්නතිලක මහතාටත්, ජාතික අධ්‍යාපන ආයතනයේ ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය අසෝක ද සිල්වා මහතාටත් බෙහෙවින් ස්තුතිවන්ත වෙමු.

මෙම පෙළපොත පිළිබඳව ඔබගේ අදහස් හා යෝජනා වෙතොත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව වෙත යොමු කරන මෙන් කාරුණිකව ඉල්ලා සිටිමු.

ලේඛක හා සංස්කාරක මණ්ඩලය

# පටුන

පිටුව

# 01 ශාක විවිධත්වය

## 1.1 සපුෂ්ප ශාකවල රූපීය ලක්ෂණ

ශාක පිළිබඳව සඳහන් කිරීමේ දී අපට මල් සහ ගෙඩි හෙවත් **පුෂ්ප** හා **ඵල** මතකයට නැඟෙන්නේ නිතැතිනි. නමුත් සෑම ශාකයකම පුෂ්ප හටගනී ද? පහත රූපයේ දැක්වෙන උද්‍යානයේ තිබෙන විසිතුරු ශාක පිළිබඳව අවධානය යොමු කරන්න.



1.1 රූපය ▲ උද්‍යානයක දර්ශනයක්

එහි පුෂ්ප ඇති ශාක මෙන් ම පුෂ්ප නොමැති ශාක වර්ග ද තිබෙනු ඔබට නිරීක්ෂණය කළ හැකි ය. අප අවට පරිසරයේ විවිධ ශාක වර්ග දක්නට ලැබේ. ඒ සෑම ශාකයකම පුෂ්ප හටගන්නේ දැයි සොයා බැලීමට ක්‍රියාකාරකම 1.1 හි නිරතවන්න.

### ක්‍රියාකාරකම 1.1

ශාක කිහිපයක නම් හා රූප පහත දැක්වේ. ඒවායින් බොහෝ ශාක ඔබට හොඳින් හුරුපුරුදු ඒවා වන අතර ඇතැම් ශාක එතරම් හුරුපුරුදු ඒවා නොවන්නට පුළුවන.


රෝස

මීවණ වර්ගයක්

ඉද්ද

ගාඩිනියා

කුඩළු

මීවණ වර්ගයක්




1.2 රූපය ▲ විවිධ ශාක වර්ග කිහිපයක්

ඉහත සඳහන් කළ ශාක පුෂ්ප හටගන්නා ශාක සහ පුෂ්ප හට නොගන්නා ශාක වශයෙන් කාණ්ඩ දෙකකට වෙන්කර වගු ගත කරන්න. ඔබ සකස් කළ වගුව පහත දැක්වෙන වගුව සමඟ සංසන්දනය කරන්න.

1.1 වගුව ▼

| පුෂ්ප හටගන්නා ශාක | පුෂ්ප හට නොගන්නා ශාක |
|---|---|
| රෝස, ඉද්ද, ගාඩිනියා, කුඩළු, ඕලු, සල්, නෙළුම්, වද, කරපිංචා, කටරොළු, සමන්පිච්ච, පොල්, මෑ | මඩු, පාසි, සැල්වීනියා සයිප්‍රස්, බේදුරු, මීවණ ශාක |

මේ අනුව පුෂ්ප හටගන්නා ශාක මෙන් ම පුෂ්ප හට නොගන්නා ශාක ද අප අවට පරිසරයේ ඇති බව ඔබට අවබෝධ වන්නට ඇත. පුෂ්ප හටගන්නා ශාක **සපුෂ්ප ශාක** ලෙස හැඳින්වෙන අතර පුෂ්ප හට නොගන්නා ශාක **අපුෂ්ප ශාක** ලෙස හැඳින්වේ.

## පැවරුම 1.1

- ඔබේ ගෙවත්තේ / පාසල් වත්තේ ඇති ශාක නිරීක්ෂණය කරන්න.
- ඒවා සපුෂ්ප ශාක හා අපුෂ්ප ශාක ලෙස වෙන්කර හඳුනා ගන්න.
- ඔබ හඳුනාගත් ශාක සපුෂ්ප ශාක හා අපුෂ්ප ශාක ලෙස වගු ගත කරන්න.

## 1.2 සපුෂ්ප ශාකයක ප්‍රධාන කොටස්

ඔබ අවට පරිසරයේ ඇති සපුෂ්ප ශාක හොඳින් නිරීක්ෂණය කරන්න. ඒවා විවිධ ප්‍රමාණයෙන් යුක්ත ය. ඉතා කුඩා ශාක මෙන් ම විශාල වෘක්ෂ ද ඒ අතර වේ. ඒවායේ කඳ, මුල්, පත්‍ර ආදිය මෙන්ම, පුෂ්ප හා ඵල ද එකිනෙකින් වෙනස් ය. ශාක විශාලත්වයෙන් ද රූපීය ලක්ෂණ අනුව ද විශාල විවිධත්වයක් දරයි. නමුත් සියලුම සපුෂ්ප ශාකවලට පොදු කොටස් කිහිපයක් ඇත. සපුෂ්ප ශාකයක ප්‍රධාන කොටස් හඳුනා ගැනීමට පැවරුම 1.2 හා ක්‍රියාකාරකම 1.2 හි නිරත වෙමු.

### පැවරුම 1.2

**සපුෂ්ප ශාකයක ප්‍රධාන කොටස් හඳුනා ගැනීම**

- මල් හා ඵල දරන කුඩා ශාකයක් (නිදසුන් - මොණර කුඩුම්බිය, කුප්පමේනියා වැනි) තෝරා ගන්න.
- එහි මුලට ජලය යොදා, පස් බුරුල් වූ පසුව මුල් නොකැඩෙන පරිදි ප්‍රවේශමෙන් ගලවා ගන්න.
- මුල්වල ඇති පස් ප්‍රවේශමෙන් ඉවත් කරන්න.
- පුවත්පත් පිටු අතර මෙම ශාකය තබා ඒ මත බරක් තබා ශාකය වියැළෙන්නට හරින්න.
- සතියකට පමණ පසුව මෙම ශාක නිදර්ශකය ක්ෂේත්‍ර පොතක් සකසා එහි අලවා ගන්න.

### ක්‍රියාකාරකම 1.2

හොඳින් වර්ධනය වූ සපුෂ්ප ශාකයක රූප සටහනක් පහත දක්වේ. එහි ප්‍රධාන කොටස් (1) සිට (11) දක්වා නම් කර ඇත.

| | |
|---|---|
| 01. මුදුන් මුල | 06. පත්‍ර |
| 02. පාර්ශ්වික මුල් | 07. අග්‍රස්ථ අංකුරය |
| 03. මූල පද්ධතිය | 08. අතු |
| 04. කඳ | 09. ඵල |
| 05. පාර්ශ්වික අංකුර (කක්ෂීය අංකුර) | 10. පුෂ්ප |
| | 11. ප්‍රරෝහ පද්ධති |




1.3 රූපය ▸ සපුෂ්ප ශාකයක කොටස්

රූපය 1.3 ඇසුරින් පැවරුම 1.2ට අනුව ඔබ විසින් අලවා ගන්නා ලද ශාකයේ ප්‍රධාන කොටස් හඳුනා ගන්න. ඒවා නම් කරන්න. ඔබ විසින් වියළා අලවා ගන්නා ලද ශාකය ඔබේ මිතුරන් විසින් වියළා අලවා ගන්නා ලද ශාක සමග සංසන්දනය කරන්න. එම ශාකවල ප්‍රධාන කොටස් අතර පවතින සමානකම් හා වෙනස්කම් නිරීක්ෂණය කරන්න.

## 1.3 සපුෂ්ප ශාක කොටස්වල විවිධත්වය

සපුෂ්ප ශාකවල සුවිශේෂී ලක්ෂණය වනුයේ පුෂ්ප හට ගැනීමයි. බොහෝ ශාකවල කඳ, පත්‍ර, මුල්, අංකුර, පුෂ්ප හා ඵල ආදී සියලුම කොටස් දක්නට ඇත. නමුත් විවිධ ශාකවල මෙම කොටස් අතර විශාල විවිධත්වයක් පවතී.

### ශාක මුල්වල විවිධත්වය

**පැවරුම 1.3**

- කුඩා තෘණ ශාකයක් හා කුප්පමේනියා වැනි ශාකයක් තෝරා ගන්න.
- ශාක දෙකම මුල් නොකැඩෙන ලෙස ප්‍රවේශමෙන් ගලවා ගන්න.
- මුල්වල පස් සෝදාහැර පුවත්පත් පිටු අතර තබා ඒ මත බරක් තබා වියළා ගන්න.
- සතියකට පමණ පසුව ක්ෂේත්‍ර පොතට අලවා ගන්න.

සාමාන්‍යයෙන් ශාකවල මූල පද්ධතිය පස තුළ පවතී. එය ආකාර දෙකකින් පැවතිය හැකි ය.

- සමහර ශාකවල කඳේ පාදයෙන් හටගන්නා ප්‍රධාන මුලක් ඇති අතර එය මුදුන් මුල වශයෙන් ද එම මුදුන් මුලෙන් හටගන්නා ශාඛා මුල් **පාර්ශ්වික** මුල් වශයෙන් ද හැඳින්වේ. මෙවැනි මූල පද්ධතියක් **මුදුන් මූල පද්ධතියක්** ලෙස හැඳින්වේ.

නිදසුන්- කුප්පමේනියා, අඹ, කජු

- තවත් සමහර ශාකවල කඳේ පාදයෙන් හටගන්නා කුඩා ප්‍රමාණයේ මුල් රාශියක් පවතී. එවැනි මූල පද්ධතියක් **තන්තු මූල පද්ධතියක්** ලෙස හැඳින්වේ.

නිදසුන්- පොල්, පුවක්, උණ, තෘණ, කිතුල්



1.4 - a රූපය ▲ මුදුන් මූල පද්ධතිය



1.4 - b රූපය ▲ තන්තු මූල පද්ධතිය

**ක්‍රියාකාරකම 1.3**

- පැවරුම 1.3 ට අනුව ඔබ විසින් ක්ෂේත්‍ර පෙතෙහි අලවාගන්නා ලද ශාක දෙකෙහි මූල පද්ධති නිරීක්ෂණය කරන්න.
- එම මූල පද්ධතිවල වෙනස්කම් නිරීක්ෂණය කරන්න.

කුප්පමේනියා, අඹ, කජු වැනි ශාකවල මූල පද්ධති මුදුන් මූල පද්ධති බවත් අතර තෘණ පොල්, පුවක් හා උණ ශාකවල මූල පද්ධති තන්තු මූල පද්ධති බවත් ඔබට පෙනී යනු ඇත.

## ශාක මුල්වල කෘත්‍ය

- ශාකය පසට සවි කිරීම
- ජලය සහ ජලයේ දිය වූ ඛනිජ ලවණ අවශෝෂණය කිරීම (උරාගැනීම)
- ඇතැම් ශාක මුල් මගින් අලුත් ශාක ඇති කිරීම. එනම් වර්ධක ප්‍රචාරණය සිදු කිරීම.

  නිදසුන් :. කරපිංචා, බෙලි, දෙල්

මේ හැරුණු විට විවිධ කෘත්‍ය සඳහා හැඩ ගැසුණු මුල් ද පරිසරයේ දක්නට ඇත. ඒ පිළිබඳ සොයා බැලීමට 1.4 පැවරුමෙහි නිරත වෙමු.

**පැවරුම 1.4**

- නිදිකුම්බා (*Mimosa*) ශාකයක් මුල් නොකැඩෙන පරිදි ප්‍රවේශමෙන් ගලවා ගන්න. පස් සෝදා හරින්න.
- සුදු කඩදාසියක, එම මූල පද්ධතියේ රූපසටහනක් අඳින්න.
- එම කඩදාසිය ක්ෂේත්‍ර පොතට අලවා ගන්න.
- බීට්රූට්, කැරට්, බතල, මඤ්ඤොක්කා වැනි ශාකවල අල නිරීක්ෂණය කරන්න.
- සුදු කඩදාසියක ඒවායේ රූප සටහන් අඳින්න. එම කඩදාසිය ද ක්ෂේත්‍ර පොතට අලවා ගන්න.



මඤ්ඤොක්කා බීට්රූට් කැරට් බතල නිදිකුම්බා මුල්

1.5 රූපය ▲ විවිධ මුල් වර්ග

නිදිකුම්බා ශාකයේ මුල්වල තැනින් තැන කුඩා ගැටිති වැනි ව්‍යුහ දක්නට ලැබේ. ඒවා මූල ගැටිති ලෙස හැඳින්වේ. එම ගැටිතිවල බැක්ටීරියා නමැති ක්ෂුද්‍ර ජීවීන් ජීවත් වේ. මෙම බැක්ටීරියා මගින් ශාකයට අවශ්‍ය නයිට්‍රජනීය පෝෂක සපයන අතර මුල් මගින් බැක්ටීරියාවලට අවශ්‍ය පෝෂණය සපයයි. මෙම මූල ගැටිති රනිල කුලයේ *(Leguminosae)* ශාක වන කතුරු මුරුංගා, මෑ, බෝංචි වැනි ශාකවල දක්නට ලැබේ.

1.5 රූපයේ දක්වෙන අනෙකුත් මුල් වර්ග සාමාන්‍ය ව්‍යවහාරයේ දී අල වශයෙන් හැඳින්වෙන්නේ ඒවායේ ආහාර තැන්පත් වී ඇති බැවිනි. ආහාර තැන්පත් වී ඇති එවැනි මුල් **සංචිත මුල්** වශයෙන් හැඳින්වේ. මුදුන් මුලේ මෙන් ම පාර්ශ්වික මුල්වල ද එසේ ආහාර තැන්පත් විය හැකි ය.

සාමාන්‍යයෙන් මුල් පස තුළට වර්ධනය වන නමුත් පසෙන් ඉහළ පිහිටන මුල් වර්ග ද ඔබ විසින් නිරීක්ෂණය කරන්නට ඇත. 1.6 රූපයේ දැක්වෙන්නේ පසට ඉහළින් වැඩෙන මුල් සහිත ශාක කිහිපයකි. ඒවා හටගන්නේ ප්‍රරෝහයෙනි.



ඕකිඩ් ශාකය - වායව මුල්



නුග ශාකය - කරු මුල්



වැටකෙයියා ශාකය - කයිරු මුල්



බුලත් ශාකය - ආලග්න මුල්



කඩොලාන ශාක (කිරල) -
වායුධර මුල් හෙවත් ශ්වසන මුල්

1.6 රූපය ▲ විවිධ කෘත්‍ය සඳහා හැඩ ගැසුණු මුල් සහිත ශාක

## ක්‍රියාකාරකම 1.4

ඉහත 1.6 රූපයේ දැක්වෙන විවිධ මුල් වර්ග හඳුනා ගන්න.

1.2 වගුව අධ්‍යයනය කර විවිධ මුල් වර්ගවල කෘත්‍ය පිළිබඳ ව අවබෝධයක් ලබා ගන්න.

1.2 වගුව ▼ ශාකවල ඇති විවිධ මුල් වර්ග හා ඒවායේ කෘත්‍ය

| මුල් වර්ගය | නිදසුන් | කෘත්‍ය |
|---|---|---|
| කරු මුල් | නුග | අතුවලට ආධාරකයක් ලෙස ක්‍රියා කිරීම. |
| කයිරු මුල් | වැටකෙයියා, රම්පේ | ශාක කඳට ආධාරකයක් ලෙස ක්‍රියා කිරීම. |
| වායව මුල් | ඕකිඩ් වර්ග | වාතයේ ඇති ජල වාෂ්ප අවශෝෂණය කිරීම. සමහර වායව මුල් ප්‍රභාසංශ්ලේෂණය සිදු කරයි. |
| ආලග්න මුල් (ආරෝහක මුල්) | බුලත්, ගම්මිරිස් | කඳට ඉහළ නැගීම සඳහා ආධාරකයට සවිවීමට උපකාර වීම. |
| වායුධර මුල් (ශ්වසන මුල්) | කඩොල්, කිරල | වායුගෝලය සමග වායු හුවමාරුව සඳහා උපකාර වීම. |
| සංචිත මුල් | කැරට්, බීට්, මඤ්ඤොක්කා, බතල | ආහාර තැන්පත් කිරීම. |
| මූල ගැටිති සහිත මුල් | නිදිකුම්බා, රනිල කුලයේ ශාක (නිදසුන්- මෑ, බෝංචි, දඹල) | මූල ගැටිති තුළ වාසය කරන බැක්ටීරියා විසින් පස සරු කිරීම. |

**අමතර දැනුමට**

බෝතල් මූඩි සඳහා භාවිතයට ගන්නා කිරල ඇබ කපා ගන්නේ කිරල ශාකයේ වායුධර මුල්වලිනි. කිරල ඇබවල ඇති සවිවර ගතියට හේතුව මෙම මුල්වල ඉතා කුඩා සිදුරු පිහිටා තිබීමයි.

## ශාක කඳන්වල විවිධත්වය

ඔබ විසින් නිරීක්ෂණය කර ඇති ශාක කඳන්වල ස්වභාවය සිහිපත් කරන්න. ඉතා ශක්තිමත් කඳන්, ඝනකම් පොතු සහිත කඳන්, මෙන් ම විවිධ වර්ණවලින් යුතු කඳන් ද ඔබ නිරීක්ෂණය කරන්නට ඇත. එමෙන් ම වෙනත් ආධාරකවල වෙළී ඉහළ වැඩෙන දුර්වල කඳන් සහිත ශාක ද, බිම දිගේ දුවන දුර්වල කඳන් සහිත ශාක ද ඒ අතර තිබෙන්නට ඇත. මේ කුමන ආකාරයේ කඳක් වුව ද ඒවායේ දැකිය හැකි මූලික වෙනස්කම වන්නේ සමහර ශාක කඳන් අතු බෙදී තිබීමත් සමහර ශාක කඳන් අතු බෙදී නොතිබීමත් ය.



1.7 රූපය ▲ අතු නොබෙදුණු කඳ සහිත ශාකයක්
නිදසුන් - පොල්, පුවක්, කිතුල්, තල්, වී, උණ



1.8 රූපය ▲ අතු බෙදුණු කඳ සහිත ශාකයක්
නිදසුන්- අඹ, රඹුටන්, කජු, පේර, වද

### ශාකයක කඳ මගින් ඉටුවන ප්‍රධාන කෘත්‍ය

- පුෂ්ප, පත්‍ර, අංකුර, ඵල හා බීජ දරා සිටීම
- සන්ධාරකතාව ලබා දීම
- ආහාර සහ ජලය ගමන් කිරීම (පරිවහනය කිරීම)
- අලුත් ශාක ඇති කරයි. එනම් වර්ධක ප්‍රචාරණය සිදුකිරීම
  නිදසුන්- වද, සමන්පිච්ච, බතල, මඤ්ඤොක්කා
- කොළ පැහැති කඳන් සහිත ශාක ප්‍රභාසංශ්ලේෂණය සිදු කිරීම
  නිදසුන්- නවහන්දි, හීරැස්ස, හාතවාරිය

- සමහර වායව කඳන් තුළ ද ආහාර තැන්පත් කර තිබීම.
  නිදසුන්- උක්, කිතුල්

සාමාන්‍යයෙන් කඳ පසෙන් ඉහළට වර්ධනය වන නමුත් පස තුළ පිහිටන කඳන් ද ඇත. ඒවා **භූගත කඳන්** ලෙස හැඳින්වේ. භූගත කඳන් සහිත ශාක සඳහා නිදසුන් පහත දක්වා ඇත.


ඉඟුරු අර්තාපල් කිරි අල ලීක්ස් ලූනු

1.9 රූපය ▲ භූගත කඳන් සහිත ශාක

## ශාක පත්‍රවල විවිධත්වය

වෙනත් ශාක කොටස් මෙන් ම ශාක පත්‍ර ද හැඩය, ප්‍රමාණය හා වර්ණය අනුව විවිධත්වයක් පෙන්වයි. පත්‍රවල විවිධත්වය හඳුනා ගැනීම සඳහා ක්‍රියාකාරකම 1.5 හි නිරතවන්න.

### ක්‍රියාකාරකම 1.5

- ඔබේ ගෙවත්තෙන් විවිධ පත්‍ර වර්ග 10ක් පමණ රැස් කරගන්න.
  නිදසුන් - මඤ්ඤොක්කා, කරපිංචා, කොස්, තෘණ, ක්‍රෝටන්, අක්කපාන, වට්ටක්කා, හාතවාරිය, රතු තම්පලා, කතුරුමුරුංගා
- එම පත්‍ර හොඳින් නිරීක්ෂණය කර පත්‍ර වර්ගවල සමානකම් හා අසමානකම් අධ්‍යයනය කරන්න.

ප්‍රභාසංශ්ලේෂණය ප්‍රධාන වශයෙන් සිදුවන්නේ ශාක පත්‍රය තුළ ය. මේ ක්‍රියාවලියට ශක්තිය ලබාගන්නේ සූර්යා ලෝකයෙනි. එබැවින් සෑමවිටම ශාක පත්‍ර, උපරිම ලෙස හිරු එළිය ලබාගත හැකි ආකාරයට පිළියෙල වී ඇත (1.10 රූපය).


1.10 රූපය ▲ සූර්යාලෝකය උපරිමව අවශෝෂණය සඳහා පත්‍ර හැඩ ගැසී ඇති අන්දම

ශාක පත්‍ර විවිධ හැඩ, විවිධ ප්‍රමාණ, මෙන් ම විවිධ පැහැයන්ගෙන් ද යුක්ත විය හැකි ය. නමුත් සෑම ශාක පත්‍රයකම 1.11 රූපයේ නම් කර ඇති කොටස් හඳුනාගත හැකි ය.




1.11 රූපය ▲ ශාක පත්‍රයක කොටස්

**ක්‍රියාකාරකම 1.6**

- පුවත්පත් පිටු අතර තබා වියළන ලද (Press) තරමක් විශාල ශාක පත්‍රයක් තෝරා ගන්න. එය ක්ෂේත්‍ර පොතට අලවා ගන්න.
- දැන් 1.11 රූපයේ දැක්වෙන සියලුම කොටස් හඳුනාගෙන ඒ අනුව එම ශාක පත්‍රයේ කොටස් නම් කරන්න.

### පත්‍රවල නාරටි වින්‍යාසය

ශාක පත්‍රයක නාරටි පිහිටා ඇති රටාව නාරටි වින්‍යාසය ලෙස හැඳින්වේ. ශාක පත්‍රවල නාරටි වින්‍යාසය ප්‍රධාන වශයෙන් ආකාර දෙකකි.

- ජාලාභ නාරටි වින්‍යාසය



1.12 රූපය ▲ ජාලාභ නාරටි වින්‍යාසය

විශාල මැද නාරටියෙන් පටන් ගන්නා ශාඛා නාරටි පත්‍රය පුරා දැලක් මෙන් විහිදී පවතී.

නිදසුන්- වද, අඹ, කොස්, ගොටුකොළ

- සමාන්තර නාරටි වින්‍යාසය



1.13 රූපය ▲ සමාන්තර නාරටි වින්‍යාසය

විශාල මැද නාරටියට සමාන්තරව ශාඛා නාරටි පත්‍රයෙහි විහිදී පවතී.

නිදසුන්- තෘණ, උණ, පොල්, පුවක්, තල්

ශාක පත්‍රවල යටිපැත්ත නිරීක්ෂණය කිරීමෙන් මෙම නාරටි වින්‍යාස පැහැදිලිව හඳුනාගත හැකි ය.

### පැවරුම 1.5

ශාක පත්‍ර කිහිපයක යටි පැත්තේ සායම් තවරා සුදු කඩදාසියක් මතට ඒවායේ පිටපත් ලබා ගන්න. එම පිටපතේ ශාක පත්‍රය පහළින් ශාකයේ නම ලියන්න. එම ශාක පත්‍රවල ඇති නාරටි වින්‍යාසය හඳුනාගෙන ඒවා ජාලාභ ද සමාන්තර ද යන බව සඳහන් කරන්න. එම කඩදාසිය ක්ෂේත්‍ර පොතට අලවා ගන්න.




## සරල පත්‍ර හා සංයුක්ත පත්‍ර

ශාක පත්‍රයක පත්‍ර තලය කොටස්වලට බෙදී නැති විට ඒවා **සරල පත්‍ර** ලෙස හැඳින්වේ. නිදසුන්- වද, කොස්

සමහර සරල පත්‍රවල පත්‍ර තලය අර්ධ ලෙස බෙදී තිබිය හැකි ය.

නිදසුන්- පැපොල්, මඤ්ඤොක්කා




1.14 රූපය ▲ සරල පත්‍ර කිහිපයක්

සංයුක්ත පත්‍රවල පත්‍ර තලය සම්පූර්ණයෙන් ම කොටස් කිහිපයකට වෙන් වී පවතී. මෙසේ වෙන් වී ඇති කොටස් පත්‍රිකා ලෙස හැඳින්වේ. එවැනි පත්‍රිකා සහිත ශාක පත්‍ර **සංයුක්ත පත්‍ර** ලෙස හැඳින්වේ.

නිදසුන්- පොල්, කතුරුමුරුංගා, සියඹලා




1.15 රූපය ▲ සංයුක්ත පත්‍ර කිහිපයක්

**ශාක පත්‍රවල කෘත්‍ය**

- ශාක පත්‍ර තුළ සිදුවන ප්‍රධානම කෘත්‍යය ප්‍රභාසංශ්ලේෂණයයි. ප්‍රභාසංශ්ලේෂණය මගින් ශාකයට අවශ්‍ය ආහාර ශාක පත්‍ර තුළ නිපදවයි
- සමහර ශාක පත්‍රවලින් අලුත් ශාක ඇති වේ. (වර්ධක ප්‍රචාරණය)
  නිදසුන්: අක්කපාන, බිගෝනියා
- සමහර ශාක පත්‍ර ජලය ගබඩා කිරීමට අනුවර්තනය වී ඇත.
  නිදසුන් :. කෝමාරිකා, අක්කපාන



1.16 රූපය ▲ කෝමාරිකා



1.17 රූපය ▲ අක්කපාන *(Bryophyllum)*

**පැවරුම 1.6**

- අක්කපාන ශාක පත්‍රයක් පෙරහන් කඩදාසි දෙකක් අතර තබා ලොකු පොතක් තුළ වියැළෙන්නට හරින්න.
- දින කිහිපයකින් පසු නිරීක්ෂණය කරන්න.
- ශාක පත්‍රවල දාරයෙන් පැන නැගී ඇති මුල් හඳුනා ගන්න. ඒවා ආගන්තුක මුල් ලෙස හැඳින්වේ.
- මුල් සහිත පත්‍ර කොටස් සිටුවා අක්කපාන පැළ ලබා ගන්න.

**පුෂ්පයක කොටස් හා පුෂ්පවල විවිධත්වය**

මල් හෙවත් පුෂ්පවල ප්‍රධාන කෘත්‍යය ඵෙඩ් හෙවත් ඵල ඇති කිරීමයි. පුෂ්පයක ඇති රේණුවල නිපදවෙන පරාග, ඩිම්බ කෝෂය තුළ ඇති ඩිම්බ සමග එකතු වීමෙන් ඵල හා බීජ හට ගනී. ඒ සඳහා හැඩ ගැසී ඇති ව්‍යුහය පුෂ්පය යි. ඵල තුළ ඇති බීජ මගින් අලුත් ශාක ඇති කරයි. එම ඵල හා බීජ විවිධ ක්‍රම (සතුන්, සුළඟ, ජලය, ස්ෆෝටනය) මගින් පැතිරී යයි.

ශාකයක ඇති විවිධ කොටස් අතුරින් පුෂ්පය ඉතා ආකර්ෂණීය කොටසක් වේ. සුවඳ, හැඩය, වර්ණය මෙන් ම ප්‍රමාණයෙන් ද පුෂ්ප, විශාල පරාසයක විවිධත්වයක් පෙන්වයි.

**පැවරුම 1.7**

- විවිධ ආකාරයේ පුෂ්ප කිහිපයක් රැස් කර ගන්න.
- සුදු කඩදාසියක් මත පුෂ්ප කිහිපයක බාහිර පෙනුම අඳින්න.
- රූප සටහන පහළින් ශාකයේ නම ලියන්න.
- 1.18 හා 1.19 රූප ආධාර කරගෙන එම පුෂ්පවල කොටස් හඳුනාගෙන ඒවා නම් කරන්න.




1.18 රූපය ▲ වද පුෂ්පයක බාහිර පෙනුම




1.19 රූපය ▲ වද පුෂ්පයක අර්ධ පුෂ්පය

විවිධ ශාකවල පුෂ්ප අතර ඉතා විශාල විවිධත්වයක් දක්නට හැකි ය. නමුත් සෑම පුෂ්පයකම අඩංගු වන ප්‍රධාන කොටස් තුනක් ඇත.

- මණිපත්‍ර
- දළ පත්‍ර
- ජායාංගය/පුමංගය

වද පුෂ්පයක මේ සෑම කොටසක් ම ඉතා පැහැදිලි ව නිරීක්ෂණය කළ හැකි ය. වද පුෂ්පයක අර්ධ පුෂ්පයේ රූප සටහනක් (1.19 රූපය) ආධාරයෙන් එම කොටස් හඳුනා ගනිමු.

**ක්‍රියාකාරකම 1.7**

- තරමක් විශාල පුෂ්පයක් තෝරා ගන්න. (නිදසුන්: වද, තම්බර්ජියා)
- තියුණු බ්ලේඩ් එකක් ගෙන පුෂ්ප වෘන්තයේ සිට ප්‍රවේසමෙන් කපා පුෂ්පය සිරස්ව කොටස් දෙකකට වෙන් කර ගන්න.
- 1.19 රූපය උපයෝගී කරගෙන ඒ ආකාරයටම පුෂ්පයක සිරස්කඩක් රූපසටහනකින් දක්වීමට උත්සාහ කරන්න. එහි කොටස් හඳුනාගෙන නම් කරන්න.

### මණිපත්‍ර

සාමාන්‍යයෙන් විට මණිපත්‍ර කොළ පාට ය. මණිපත්‍රවල ප්‍රධාන කෘත්‍යය වනුයේ ළපටි පුෂ්ප ආරක්ෂා කිරීමයි.

### දළපත්‍ර

මල් පෙති හෙවත් දළපත්‍ර පුෂ්පයක ඉතා ආකර්ෂණීය කොටසයි. වර්ණවත් දළ පත්‍ර මගින් පරාගණය සඳහා කෘමීන් ආකර්ෂණය සිදු කරන අතර පුෂ්පයේ අභ්‍යන්තර කොටස් ආරක්ෂා කිරීම ද සිදු කරයි.

### පුමංගය

පුෂ්පයක රේණු එහි පුමංගය ලෙස හැඳින්වේ.
රේණුවක ප්‍රධාන කොටස් දෙකකි.

- පරාගධානිය
- සූත්‍රිකාව

පුමංගයේ කෘත්‍යය වනුයේ පරාග නිපදවීමයි.
පුෂ්පවල විවිධ හැඩැති රේණු දැකිය හැකි ය.



1.20 රූපය ▲ රේණුවක කොටස්



1.21 රූපය ▲ පුෂ්පවල විවිධ හැඩැති රේණු

## ජායාංගය

ජායාංගය තුළ කොටස් කිහිපයක් හඳුනාගත හැකි ය.

- කලංකය
- කීලය
- ඩිම්බ කෝෂය



1.22 රූපය ▲ පුෂ්පයක ජායාංගය

ඩිම්බ කෝෂය තුළ ඩිම්බ පිහිටයි.
ජායාංගයේ කෘත්‍ය වනුයේ බීජ නිපදවීමට දායක වීමයි.

**ක්‍රියාකාරකම 1.8**

ඔබ විසින් නිරීක්ෂණය කරන ලද පුෂ්පවල ලක්ෂණ ඇසුරින් හැකිතාක් නිදසුන් යොදාගෙන පහත දැක්වෙන වගුව තවදුරටත් සම්පූර්ණ කරන්න. එක් නිදසුනක් සපයා ඇත.

1.3 වගුව

| | |
|---|---|
| සුදු පැහැති පුෂ්ප | ඉද්ද, ......................................... |
| වර්ණවත් පුෂ්ප | රෝස, ................................................ |
| රාත්‍රියට පිපෙන පුෂ්ප | සේපාලිකා, ......................................... |
| සුවඳ ඇති පුෂ්ප | සමන්පිච්ච, ......................................... |
| මධු කෝෂ සහිත පුෂ්ප | කතුරුමුරුංගා, ..................................... |

## එල හා බීජවල විවිධත්වය

සපුෂ්ප ශාකවල පුෂ්පවලින් ඵල හටගනී. ඵල තුළ බීජ ඇත. බීජ මගින් අලුත් ශාක හටගනියි.

## පැවරුම 1.8

- පාසල් වත්තේ ගස් යට වැටී ඇති ඵල හා බීජ එකතු කරන්න.
- ඔබේ ගෙවත්තේ ගස් යට වැටී ඇති ඵල හා බීජ එක්රැස් කරන්න.
- ඒවා පෙට්ටියක් තුළ රැස් කර බීජ පෙට්ටියක් සකසන්න.
- නිතර හමුනොවන, වෙනස් ආකාරයේ ඵල හා බීජ හමු වූ විට ඒවා ද එකතු කරන්න. (සෑම විටම ඔබට හමුවන ඵල හා බීජ අයත් වන ශාකයේ නම සොයා ගැනීමට උත්සාහ කරන්න)

ඵල හා බීජ ස්වභාවයෙන් ම ව්‍යාප්තිය සඳහා අනුවර්තනය වී ඇත. ඒ සඳහා ඒවායේ විවිධ හැඩගැසීම් ඇත.

## පැවරුම 1.9

1.23 රූපයේ දක්වා ඇති ඵල හා බීජ සපයා ගන්න. ගුරුතුමා/ගුරුතුමියගේ සහාය ඇතිව එම ඵල හා බීජ සුළඟින් ව්‍යාප්තිය සඳහා දක්වන අනුවර්තන ලැයිස්තු ගත කරන්න. සුළඟින් ව්‍යාප්ත වන වෙනත් ඵල හා බීජ පිළිබඳව සොයා බලන්න.



කපු



වරා



හොර



ගම්මාලු

1.23 රූපය ▲ සුළඟින් ව්‍යාප්ත වන ඵල හා බීජ

## පැවරුම 1.10

1.24 රූපයේ දක්වා ඇති ඵල හා බීජ සපයා ගන්න. ගුරුතුමා/ගුරුතුමියගේ සහාය ඇතිව එම ඵල හා බීජ ජලයෙන් ව්‍යාප්තිය සඳහා දක්වන අනුවර්තන ලැයිස්තු ගත කරන්න.


පුවක්


පොල්


කොට්ටම්බා


දිය කදුරු


නෙළුම්

1.24 රූපය ▲ ජලයෙන් ව්‍යාප්ත වන ඵල හා බීජ

## පැවරුම 1.11

1.25 රූපයේ දක්වා ඇති ඵල හා බීජ සපයා ගන්න. ගුරුතුමා/ගුරුතුමියගේ සහාය ඇතිව එම ඵල හා බීජ සතුන්ගෙන් ව්‍යාප්තිය සඳහා දක්වන අනුවර්තන ලැයිස්තු ගත කරන්න.


තක්කාලි


පැපොල්


මිරිස්


එඬරු


නාගදරණ

1.25 රූපය ▲ සතුන්ගෙන් ව්‍යාප්ත වන ඵල හා බීජ

## 1.4 ඒකබීජපත්‍රී හා ද්විබීජපත්‍රී ශාක

සපුෂ්ප ශාක ඒකබීජපත්‍රී හා ද්විබීජපත්‍රී ශාක ලෙස ප්‍රධාන කාණ්ඩ දෙකකට වර්ග කළ හැකි ය.

එම ශාක අතර පවතින වෙනස්කම් හඳුනා ගැනීම සඳහා පහත පැවරුමෙහි නිරතවන්න.

### පැවරුම 1.12

- ඔබේ මුළුතැන්ගෙයි භාවිත කරන බීජ හැකිතාක් රැස් කරගන්න.
  නිදසුන් :. කඩල, සහල්/වී, මුං, සියඹලා, කව්පි, බෝංචි, මෑ, රටකජු, පුවක්, බඩඉරිඟු, කොස් ඇට
- එම බීජවලින් එක් වර්ගයකින් බීජ පහක් පමණ ගෙන ජලයේ පෙඟෙන්නට හරින්න.
- හොඳින් පෙඟුණු පසු ඒවා පියලිවලට වෙන් කිරීමට උත්සාහ ගන්න.
- බීජය තුළ ඇති පියලි සංඛ්‍යාව අනුව බීජ වර්ගීකරණය කර වගුගත කරන්න. (බීජයක අඩංගු බීජ පත්‍ර සාමාන්‍ය ව්‍යවහාරයේ දී පියලි වශයෙන් හැඳින්වේ). ඔබ වගුගත කළ ආකාරය 1.4 වගුව සමග සසඳා බලන්න.

1.4 වගුව - ඒකබීජපත්‍රී හා ද්විබීජපත්‍රී බීජ

| එක් බීජ පත්‍රයක් සහිත බීජ | බීජ පත්‍ර දෙකක් සහිත බීජ |
|---|---|
| වී, පුවක්, බඩඉරිඟු | බෝංචි, මෑ, කඩල, මුං, රටකජු, සියඹලා, කව්පි, කොස් ඇට |

සමහර බීජ පහසුවෙන් පියලි දෙකකට වෙන් කළ හැකි බව ද සමහර බීජ පහසුවෙන් එසේ වෙන් කළ නොහැකි බව ද ඔබට දකින්නට ලැබෙනු ඇත. එසේ පියලි දෙකකට වෙන් වන බීජවල බීජ පත්‍ර දෙකක් ඇත. පියලි වශයෙන් හඳුන්වන්නේ **බීජ පත්‍රයි.** මෙවැනි බීජ පත්‍ර දෙකක් සහිත බීජ **ද්විබීජපත්‍රී බීජ** වශයෙන් හැඳින්වේ.

සමහර බීජ පියලි දෙකකට වෙන් කළ නොහැකි වන්නේ ඒවායේ බීජ පත්‍ර එකක් පමණක් තිබීම නිසා ය. මෙවැනි බීජ **ඒකබීජපත්‍රී බීජ** ලෙස හැඳින්වේ.

ඒකබීජපත්‍රී බීජ හා ද්විබීජපත්‍රී බීජ ප්‍රරෝහණය වන ආකාරය ද එකිනෙකට වෙනස් වේ.

1.9 ක්‍රියාකාරකමෙහි නිරත වී එම බීජවල ස්වභාවය පිළිබඳව අවබෝධය ලබා ගන්න.

## ක්‍රියාකාරකම 1.9

- පැය 24ක් පමණ ජලයේ පොඟවා ගත් බෝංචි බීජ හා වී/බඩඉරිඟු බීජ කිහිපයක් ගෙන තෙත රෙදි කැබැල්ලක් මත තබා දින තුනක් පමණ තබන්න. දිනකට වරක් පමණක් ජලය ස්වල්පයක් එක් කරන්න.
- බෝංචි බීජ දෙකට පැලෙන්නට ආසන්න වන විට එක බීජයක පියලි දෙක වෙන් කර නිරීක්ෂණය කරන්න.
- අනෙක් බීජ තෙත පස් සහිත පෝච්චියක සිටුවන්න. දින කිහිපයකට පසුව ප්‍රරෝහණය වන බෝංචි බීජවල අනෙක් පත්‍රවලට වඩා වෙනස් පත්‍ර දෙකක් දක්නට ලැබෙනු ඇත. ඒවා එම බීජයේ බීජ පත්‍ර ලෙස නම් කළ හැකි ය.
- වී/බඩඉරිඟු බීජවල එසේ බීජ පත්‍ර නිරීක්ෂණය කළ නොහැකි ය. එයට හේතුව එම බීජ ප්‍රරෝහණය වන විට බීජ පත්‍රය පසෙන් ඉහළට නොපැමිණීමයි.




1.26 රූපය ▲ ඒකබීජපත්‍රී බීජයක ප්‍රරෝහණය




1.27 රූපය ▲ ද්විබීජපත්‍රී බීජයක ප්‍රරෝහණය

## පැවරුම 1.13

ඔබේ පාසල් වත්තේ හා ගෙවත්තේ ඇති ශාක ඒකබීජපත්‍රී හා ද්විබීජපත්‍රී ලෙස කාණ්ඩ කර වගුගත කරන්න.

ඔබ විසින් මෙම පාඩම හැදෑරීමේ දී ශාක කොටස්වල විවිධත්වය පිළිබඳව අධ්‍යයනය කරන ලදී. එසේ නිරීක්ෂණය කරන ලද ඒකබීජපත්‍රී හා ද්විබීජපත්‍රී ශාකවල විවිධ කොටස් අතර ප්‍රධාන වෙනස්කම් පිළිබඳව ද අධ්‍යයනය කරන්න. ඔබ විසින් නිරීක්ෂණය කරන ලද වෙනස්කම් පහත වගුව සමඟ සංසන්දනය කරන්න.

1.5 වගුව

| අංගය | ඒකබීජපත්‍රී ශාක | ද්විබීජපත්‍රී ශාක |
|---|---|---|
| බීජ | බීජයේ පියලි එකක් ඇත. | බීජයේ පියලි දෙකක් ඇත. |
| මුල | තන්තු මූල පද්ධතියක් සහිත ය. | මුදුන් මූල පද්ධතියක් සහිත ය. |
| කඳ | අතු බෙදී නැත. | අතු බෙදී ඇත. |
| පත්‍ර | සමාන්තර නාරටි වින්‍යාසය පෙන්වයි. | ජාලාභ නාරටි වින්‍යාසය පෙන්වයි. |
| පුෂ්ප | මල් පෙති තුනක් හෝ තුනෙහි ගුණාකාර ලෙස පවතී. | මල් පෙති හතරක් හෝ හතරේ ගුණාකාර සහ පහක් හෝ පහේ ගුණාකාර ලෙස පවතී. |



1.28 රූපය ▲
ඒකබීජපත්‍රී ශාක



1.29 රූපය ▲
ද්විබීජපත්‍රී ශාක

**ක්‍රියාකාරකම 1.10**

- ඔබ විසින් නිරීක්ෂණය කරන ලද ඒකබීජපත්‍රී සහ ද්විබීජපත්‍රී ශාක කොටස්වල වෙනස්කම් දැක්වීමට ඔබට කැමති ආකාරයකට ආකෘතියක් නිර්මාණය කරන්න.

ශාක ලෝකයේ සාමාජිකයන් අතර රූපීය වශයෙන් පෙන්වන්නා වූ අති විශාල විවිධත්වය නිරීක්ෂණය කිරීමෙන් හා අධ්‍යයනයෙන් ඒ පිළිබඳ මනා අවබෝධයක් ඔබ ලබා ගන්නට ඇත. ඔබ සකස් කළ ක්ෂේත්‍ර පොත ශාක විවිධත්වය මනාව නිරූපණය කරනු ඇත.

## සාරාංශය

- පුෂ්ප හටගන්නා ශාක සපුෂ්ප ශාක ලෙස හැඳින්වෙන අතර පුෂ්ප හට නොගන්නා ශාක අපුෂ්ප ශාක ලෙස හැඳින්වේ.
- සපුෂ්ප ශාකයක මුල්, කඳ, පත්‍ර, පුෂ්ප, ඵල හා බීජ ආදී ලෙසට ප්‍රධාන කොටස් කිහිපයක් දැකිය හැකි ය.
- ශාකවල ප්‍රධාන කොටස් බොහෝ විට එකම කාර්යයක් සිදු කළ ද සමහර විට වෙනත් සුවිශේෂී කාර්ය සඳහා ද හැඩගැසී ඇත.

- මේ නිසා ශාකවල ප්‍රධාන කොටස් අතර ඉතා පුළුල් විවිධත්වයක් දැකිය හැකි ය.
- සපුෂ්ප ශාක ඒකබීජපත්‍රී ශාක හා ද්විබීජපත්‍රී ශාක ලෙස ප්‍රධාන කාණ්ඩ දෙකකට වර්ග කළ හැකි ය.

## අභ්‍යාස

1. සිසුන් පිරිසක් විසින් ලඳු කැලෑවක යෙදුණු ක්ෂේත්‍ර චාරිකාවක දී ඔවුන් විසින් හඳුනාගනු ලැබූ ශාක වර්ග කිහිපයක් සහ එම ශාක සංඛ්‍යාව පහත වගුවෙහි දක්වා ඇත.

| ශාකයේ නම | කිතුල් | කජු | දං | කොට්ටම්බා | බේදුරු | මඬු | මදු වැල් | නිදිකුම්බා |
|---|---|---|---|---|---|---|---|---|
| ශාක සංඛ්‍යාව | 2 | 3 | 4 | 4 | 2 | 1 | 10 | 12 |

i) මෙහි අඩංගු දත්ත ස්තම්භ ප්‍රස්තාරයකින් නිරූපණය කරන්න.

ii) එම කැලෑවේ වැඩිපුරම හමුවූ ශාකය කුමක් ද?

iii) එම කැලෑවේ දක්නට ලැබුණු;

(a) දුර්වල කඳන් සහිත ශාකයක්

(b) අතු නොබෙදුණු කඳක් සහිත ශාකයක්

(c) පුෂ්ප හට නොගන්නා ශාකයක්

(d) තන්තු මූල පද්ධතියක් සහිත ශාකයක්

(e) සංයුක්ත පත්‍ර සහිත ශාක දෙකක්

(f) කෙඳි සහිත ආවරණයක් ඇති ඵල සහිත ශාකයක්

(g) මූල ගැටිති සහිත ශාකයක් නම් කරන්න.

iv) a) ඉහත දැක්වූ ශාක අතරින් ඒකබීජපත්‍රී හා ද්විබීජපත්‍රී ශාක දෙකක් තෝරා ලියන්න.

b) එම ශාක දෙකෙහි (a) පත්‍ර (b) කඳ (c) මුල් (d) බීජ අතර දක්නට ලැබෙන ප්‍රධාන වෙනස්කම් එක බැගින් ලියන්න.

## පාරිභාෂික වචන

| | | | |
|---|---|---|---|
| ඒකබීජපත්‍රී | - Monocotyledenous | මණි පත්‍ර | - Sepals |
| ඒකබීජපත්‍රී | - Dicotyledenous | කලංකය | - Stigma |
| සපුෂ්ප ශාක | - Flowering plants | කීලය | - Style |
| අපුෂ්ප ශාක | - Non Flowering plants | ඩිම්බ කෝෂය | - Ovary |
| දල පත්‍ර | - Petals | නාරටි වින්‍යාසය | - Venation |
| ජායාංගය | - Gynoecium | පුමංගය | - Androecium |

# 02 ස්ථිති විද්‍යුතය

## 2.1 වස්තුවක් ආරෝපණය කිරීම

ඉතා කුඩා ප්‍රමාණයේ වියළි කඩදාසි කැබලි කිහිපයක් කපා ගන්න. එම කඩදාසි කැබලි මේසයක් මත තබන්න. පෑනකින් වියළි හිසකෙස් පිරිමදින්න. එම පෑන කඩදාසි කැබලි අසලට ගෙන එන්න.



2.1 රූපය ▲ කඩදසි කැබලි පෑන වෙත ආකර්ෂණය වන ආකාරය

ඔබට කුමක් නිරීක්ෂණය කළ හැකි වේද?

කඩදසි කැබලි පෑන වෙත ආකර්ෂණය වන ආකාරය නිරීක්ෂණය කළ හැකි ය.

- හිසකෙස්වලට අමතරව පෑන පිරිමැදීමෙන් කඩදාසි කැබලි ආකර්ෂණයට සමත් වෙනත් ද්‍රව්‍ය තිබේදැයි පරීක්ෂා කරන්න.
- පෑන වෙනුවට යොදාගත හැකි වෙනත් ද්‍රව්‍ය තිබේ ද ?

ඇතැම් ද්‍රව්‍ය තවත් ද්‍රව්‍යයකින් පිරිමැදීම සිදුකළ විට සැහැල්ලු ද්‍රව්‍ය ඒවාට ආකර්ෂණය වීමට හේතුව ඔබට කිව හැකි ද ?
මේ පිළිබඳව සොයාබැලීමට පහත ක්‍රියාකාරකමෙහි නිරත වෙමු.

### ක්‍රියාකාරකම 2.1

අවශ්‍ය ද්‍රව්‍ය :- වීදුරු දණ්ඩක්, PVC බට කැබැල්ලක්, එබනයිට් දණ්ඩක්, පොලිතීන් කොළයක්, සේද රෙදි කැබැල්ලක් (සිල්ක් රෙදි), ලෝම රෙදි කැබැල්ලක් හා සිහින් කඩදාසි කැබලි

ක්‍රමය :- සපයා ඇති ද්‍රව්‍ය (2.1 වගුවේ ආකාරයට) පිරිමැදීමට පෙර හා පිරිමැදීමෙන් පසු කුඩා කඩදාසි කැබලි වෙත ළංකර නිරීක්ෂණය කරන්න.

2.1 වගුව ▼

| අවස්ථාව | ද්‍රව්‍ය | කඩදාසි කැබලි වෙත ළංකළ විට නිරීක්ෂණය |
|---|---|---|
| පිරිමැදීමට පෙර | • වීදුරු දණ්ඩ<br>• PVC බටය<br>• එබනයිට් දණ්ඩ | |
| පිරිමැදීමෙන් පසු | • සේදවලින් පිරිමැදි වීදුරු දණ්ඩ<br>• ලෝමවලින් පිරිමැදි එබනයිට් දණ්ඩ<br>• පොලිතින්වලින් පිරිමැදි PVC බටය | |

වගුව 2.1 හි සඳහන් ද්‍රව්‍ය පිරිමැදීමට පෙර කඩදසි කැබලි ආකර්ෂණය නොකළ ද පිරිමැදීමෙන් පසු කුඩා කඩදසි කැබලි ආකර්ෂණය කරන බව නිරීක්ෂණය කළ හැකි ය. මේ අනුව ද්‍රව්‍ය පිරිමැදීම කළ විට ඒවා මත කිසියම් වෙනසක් සිදුවී ඇති බව ඔබට පැහැදිලි වන්නට ඇත.

ඇතැම් ද්‍රව්‍ය පිරිමැදීම කළ විට ඒවාට සැහැල්ලු ද්‍රව්‍ය ආකර්ෂණය වන බව පළමුව පෙන්වා දෙන ලද්දේ විලියම් ගිල්බර්ට් (ක්‍රි.ව 1600) නම් විද්‍යාඥයා විසිනි.

**අමතර දැනුමට**

විලියම් ගිල්බර්ට් නම් විද්‍යාඥයා විසින් ඇම්බර් නමින් හඳුන්වන ඝන ද්‍රව්‍ය කැබැල්ලක් සේද රෙදිවලින් පිරිමැදීම කළ විට ඒ වෙත සිහින් කඩදාසි කැබලි කුරුලු පිහාටු වැනි සැහැල්ලු ද්‍රව්‍ය ආකර්ෂණය වන බව නිරීක්ෂණය කරන ලදි.

පිරිමැදීමේ දී ද්‍රව්‍ය මතුපිට විද්‍යුත් ආරෝපණ හට ගන්නා බවත් මේ නිසා එම ද්‍රව්‍ය වෙත සැහැල්ලු දේ ආකර්ෂණය වන බවත් ගිල්බර්ට් විසින් ප්‍රකාශ කරන ලදී.





- ඇතැම් ද්‍රව්‍ය පිරිමැදීමේ දී ඒවා මත විද්‍යුත් ආරෝපණ ඇති වේ.
- පිරිමැදීම නිසා ද්‍රව්‍ය මතුපිට හටගන්නා විද්‍යුත් ආරෝපණ **ස්ථිති විද්‍යුත් ආරෝපණ** ලෙස හැඳින්වේ.

## 2.2 ස්ථිති විද්‍යුත් ආරෝපණ වර්ග

ස්ථිති විද්‍යුත් ආරෝපණ පිළිබඳ ව තවදුරටත් අධ්‍යයනය සඳහා පහත ක්‍රියාකාරකමෙහි යෙදෙමු.

**ක්‍රියාකාරකම 2.2**

**අවශ්‍ය ද්‍රව්‍ය :-** වීදුරු දඬු දෙකක්, එබනයිට් දඬු දෙකක්, සිල්ක් රෙදි කඩක්, ලෝම රෙදි කඩක්, නූල් කැබලි හා ආධාරක දෙකක්

**ක්‍රමය :-**

- සේද රෙදිවලින් පිරිමදින ලද වීදුරු දණ්ඩක් ආධාරකයක එල්ලන්න.

- ලෝම රෙදිවලින් පිරිමැදි එබනයිට් දණ්ඩක් අනෙක් ආධාරකයේ එල්ලන්න.
- සේද රෙදිවලින් පිරිමැද ආරෝපණය කරගත් අනෙක් වීදුරු දණ්ඩ එල්ලන ලද දඬු අසලට වෙන වෙන ම ගෙන එන්න.



2.2 රූපය ▲ ආකර්ෂණ හා විකර්ෂණ

- නිරීක්ෂණ සටහන් කරන්න.
- ලෝම රෙදිවලින් පිරිමැද ආරෝපණය කරගත් අනෙක් එබනයිට් දණ්ඩ ඒ ආකාරයටම එල්ලන ලද දඬු අසලට වෙන වෙන ම ගෙන එන්න.
- නිරීක්ෂණ වගුගත කරන්න.

| එල්ලන ලද දණ්ඩ | ළංකරන ලද දණ්ඩ | නිරීක්ෂණ |
|---|---|---|
| වීදුරු | වීදුරු | විකර්ෂණය වේ |
| එබනයිට් | වීදුරු | |
| වීදුරු | එබනයිට් | |
| එබනයිට් | එබනයිට් | |

නිරීක්ෂණ සඳහා හේතු සාකච්ඡා කරන්න.

ආරෝපිත දඬු අතර ආකර්ෂණ මෙන් ම විකර්ෂණ ද ඇති වන බව නිරීක්ෂණය කළ හැකි ය.

ආරෝපිත දඬු අතර ආකර්ෂණ හා විකර්ෂණ ඇතිවන ආකාරය 2.3 හා 2.4 රූපවල දැක්වේ.



2.3 රූපය ▲ විකර්ෂණය 2.4 රූපය ▲ ආකර්ෂණය

සජාතීය ආරෝපණ → විකර්ෂණය වේ. විජාතීය ආරෝපණ → ආකර්ෂණය වේ.

ආරෝපිත දඬු අතර ආකර්ෂණ හා විකර්ෂණ ඇති වීමට හේතුව ස්ථිති විද්‍යුත් ආරෝපණ වර්ග දෙකක් පැවතීමයි. ඒවා පහත පරිදි වේ,

1. ධන (+) ස්ථිති විද්‍යුත් ආරෝපණ
2. ඍණ (-) ස්ථිති විද්‍යුත් ආරෝපණ

- සජාතීය ස්ථිති විද්‍යුත් ආරෝපණ සහිත වස්තු අතර විකර්ෂණ ඇති වේ.
- විජාතීය ස්ථිති විද්‍යුත් ආරෝපණ සහිත වස්තු අතර ආකර්ෂණ ඇති වේ.

එහෙයින් සේදවලින් පිරිමදින ලද වීදුරුවලට (+) ස්ථිති විද්‍යුත් ආරෝපණයක් ද, ලෝමවලින් පිරිමදින ලද එබනයිට්වලට (-) ස්ථිති විද්‍යුත් ආරෝපණ ද ලැබේ.

## ස්ව අධ්‍යයන අභ්‍යාස

පොලිතීන් කොළයකින් පිරිමදින ලද PVC දණ්ඩක් නූලකින් එල්ලා ඇත. සේදවලින් පිරිමදින ලද වීදුරු දණ්ඩක් ඒ අසලට ළංකළ විට PVC දණ්ඩ ඉවතට තල්ලු වී යනු පෙනුණි. PVC දණ්ඩ සතු ආරෝපණ වර්ගය කුමක් ද?

## අමතර දැනුමට

- ස්ථිති විද්‍යුත් ආරෝපණ හඳුනා ගැනීම සඳහා භාවිත කරන උපකරණ කිහිපයක් ඇත. ඉන් එක් උපකරණයක් නම් ස්වර්ණපත්‍ර විද්‍යුත් දර්ශකය යි.

ආරෝපිත වස්තුවක් ඉහළින් ඇති තැටිය අසලට ළං කළ විට ස්වර්ණපත්‍ර එකිනෙකින් ඈත්වීම සිදු වේ.



අප විසින් මෙතෙක් උගත් කරුණු නැවත සාරාංශ කිරීම සඳහා 2.3 ක්‍රියාකාරකමෙහි යෙදෙමු.

## ක්‍රියාකාරකම 2.3

අවශ්‍ය ද්‍රව්‍ය :- වියළි පිරිසිදු බීම බට, ඩ්‍රෝවින් පින්, වීදුරුවක්, පොලිතීන් කැබැල්ලක්

ක්‍රමය :- • බීම බටයක් ගෙන පොලිතීන් කැබැල්ලකින් පිරිමැදීමෙන් ආරෝපණය කරගන්න.

- ආරෝපණය කරන ලද බීම බටය පහත රූපයේ ආකාරයට සමතුලිතව පිහිටන සේ ඩ්‍රෝවින් පින් එකක රඳවා යටිකුරු කරන ලද වීදුරුව මත තබන්න.



a රූපය (පැත්තෙන් බැලූ විට) b රූපය (ඉහළින් බැලූ විට)

2.5 රූපය

- ඇඟිල්ල නොගෑවෙන සේ ආරෝපිත බීම බටය අසලට (සෙ.මී. 1 පමණ) අතෙහි ඇඟිල්ලක් ළං කරන්න. (ඉහළින් බැලූ විට පෙනෙන ආකාරය රූපයේ දක්වා ඇත.)


2.6 රූපය

- බීම බටයට පිරිමදින ලද පොලිතීන් කැබැල්ල ළං කර බලන්න.



- ඉන් පසු ආරෝපිත බීම බටය අසලට ආරෝපණය කරන ලද තවත් බීම බටයක් ළං කරන්න.

- නිරීක්ෂණ සඳහා හේතු සාකච්ඡා කරන්න.

2.7 රූපය

බීම බටය රෙදි කැබැල්ලෙන් හෝ පොලිතීන් මගින් පිරිමැදීම නිසා ඒවායේ ස්ථිති විද්‍යුත් ආරෝපණ හට ගනී. ආරෝපිත බීම බට වෙත වෙනත් ද්‍රව්‍ය ආකර්ෂණය කරයි. සජාතීය ආරෝපණ සහිත බීම බට අතර විකර්ෂණ ඇති වේ. සම්මත ආරෝපිත දණ්ඩක් මගින් බීම බටය සතු ආරෝපණ වර්ගය හඳුනා ගැනීමට හැකි ය. ඒ අනුව බීම බටය ඍණ ලෙස ආරෝපණය වී ඇති බව හඳුනාගත හැකි වනු ඇත.

## 2.3 ස්ථිති විද්‍යුත් ආරෝපණ ඇතිවීම

අප මෙතෙක් අධ්‍යයනය කළ වීදුරු, එබනයිට්, ලෝම, සේද ආදී සෑම ද්‍රව්‍යයක් තුළම (+) හා (-) ලෙස ආරෝපිත අංශු සමාන ප්‍රමාණයක් බැගින් පවතී. පිරිමැදීමට පෙර ද්‍රව්‍ය මත (+) හා (-) අංශු සමාන ප්‍රමාණ බැගින් විසිරී පවතී. එබැවින් එම වස්තු ආරෝපණයක් නොදක්වයි.

ද්‍රව්‍ය යුගල එකිනෙක පිරිමැදීමේ දී සිදුවන්නේ එක් ද්‍රව්‍යයක මතුපිට ඇති (-) ආරෝපිත අංශු (ඉලෙක්ට්‍රෝන) ගැලවී අනෙක් ද්‍රව්‍යයේ මතුපිටට එකතු වීමයි.

(-) ආරෝපිත අංශු ඉවත් වූ ද්‍රව්‍ය (+) ලෙස ද , (-) ආරෝපිත අංශු එකතු වූ වස්තුව (-) ලෙස ද ආරෝපණය වේ.

ද්‍රව්‍ය යුගල එකිනෙක පිරිමැදීමේ දී සිදුවන ක්‍රියාවලිය පියවර මගින් පහත ආකාරයට දැක්විය හැකි ය.

**1) පිරිමැදීමට පෙර**



2.8 රූපය

+ ආරෝපිත හා - ආරෝපිත අංශු සමාකාර ලෙස විසිරී පවතී. ආරෝපණයක් නොදක්වයි.

**2) පිරිමැදීමේදී**


2.9 රූපය

එක් වස්තුවක් මත ඇති (-) ආරෝපිත අංශු ගැලවී අනෙක් වස්තුව මතුපිටට එක් වෙයි.

**3) පිරිමැදීමෙන් පසු**


2.10 රූපය

(-) ආරෝපිත අංශු මතුපිට එක්රැස්වීම නිසා එක් ද්‍රව්‍යයක් (-) ලෙස ද (-) ආරෝපණ ඉවත්වූ ද්‍රව්‍ය (+) ලෙස ද ආරෝපණය වේ.

වස්තු දෙකක් එකිනෙක පිරිමැදීමේ දී සැමවිටම එක් වස්තුවක් (+) ලෙස ද අනෙක් වස්තුව (-) ලෙස ද ආරෝපණය වන බව ඔබට පැහැදිලි වනු ඇත.

ඒ ආකාරයට (+) හා (-) ලෙස ආරෝපිත වස්තු එකිනෙක ස්පර්ශ වූ විට ප්‍රතිවිරුද්ධ ආරෝපණ එකිනෙක උදාසීන වීම සිදු වේ. එවිට වස්තු මත ස්ථිති විද්‍යුත් ආරෝපණයක් නොමැත.

මේ පිළිබඳව තවදුරටත් අධ්‍යයනය සඳහා පහත 2.4 ක්‍රියාකාරකමෙහි යෙදෙමු.

### ක්‍රියාකාරකම 2.4

**ස්ථිති විද්‍යුත් ආරෝපණ හුවමාරු වීම මගින් ආරෝපිත වස්තු උදාසීන වන අයුරු පරීක්ෂා කිරීම**

අවශ්‍ය ද්‍රව්‍ය :- සමාන ප්‍රමාණයේ වීදුරු සහ එබනයිට් දණ්ඩක්, සේද හා ලෝම රෙදි කැබලි, ආධාරක දෙකක්, නූල් කැබලි

ක්‍රමය :-

- සේදවලින් පිරිමැදීමෙන් ආරෝපණය කරගත් වීදුරු දණ්ඩක් සහ ලෝමවලින් පිරිමැදීමෙන් ආරෝපණය කරගත් එබනයිට් දණ්ඩක් නූල් මගින් ආධාරකවල එල්ලන්න.
- එල්ලන ලද දඬු සෙමෙන් ළං කරන්න.
- නිරීක්ෂණ සටහන් කරන්න.
- දැන් නැවත නැවතත් ආධාරක මත එල්ලූ දඬු ළංකර පළමු නිරීක්ෂණය ම ලැබේදැයි බලන්න.
- නිරීක්ෂණ සඳහා හේතු සාකච්ඡා කරන්න.




(+) හා (-) ලෙස ආරෝපණය කළ දඬු එකිනෙක ළං කළ පළමු අවස්ථාවේ දී පමණක් ආකර්ෂණය වූ බවත් නැවත නැවතත් ළං කළ ද ඒවායේ ආකර්ෂණ හෝ විකර්ෂණ ඇති නොවූ බවත් නිරීක්ෂණය වේ.

මීට හේතුව වනුයේ පළමු අවස්ථාවේ දී සිදු වූ ආකර්ෂණයේ දී ඒවායේ ආරෝපණ හුවමාරු වීම නිසා ආරෝපිත දඬු එකිනෙක උදාසීන වීමයි.

### පැවරුම 2.1

එබනයිට් දණ්ඩක් ලෝම රෙදිවලින් පිරිමැදීමේ දී (+) හා (-) ආරෝපණ මාරුවන අයුරු කෙටියෙන් විස්තර කරන්න

## 2.4 ස්ථිති විද්‍යුතය හා සම්බන්ධ සංසිද්ධි

එදිනෙදා ජීවිතයේ දී ස්ථිති විද්‍යුතය හා සම්බන්ධ සිදුවීම් අප හට අත්විඳීමට සිදුවන අවස්ථා බොහෝ ය. එවැනි අවස්ථා කිහිපයක් පිළිබඳ සලකා බලමු.

- **අකුණු ඇතිවීම**

වැසි සහිතව හෝ රහිතව අකුණු ඇතිවන අවස්ථා ඔබ දැක ඇත. අකුණු මගින් ඇතැම් විට දේපළ හානි මෙන් ම ජීවිත හානි ද සිදුවන අවස්ථා අසන්නට ලැබේ. අකුණු ඇතිවීම සිදුවන්නේ වලාකුළු මත ඇතිවන ස්ථිති විද්‍යුත් ආරෝපණ හේතුවෙනි.



2.11 රූපය ▲ අකුණු ඇතිවීම

වලාකුළුවල ස්ථිති විද්‍යුත් ආරෝපණ හටගැනීම පිළිබඳව විද්‍යාඥයින් විසින් ස්ථිර නිගමනයකට එළඹ නැත. වලාකුලේ ඇති අයිස් අංශු සහ ජල අංශු එකිනෙක සමඟ ඇතිල්ලීමේ දී ඒවා මත ස්ථිති විද්‍යුත් ආරෝපණ හටගන්නා බව වැඩි විශ්වාසයයි. මෙසේ වලාකුළු මත ස්ථිති විද්‍යුත් ආරෝපණ රැස්වීම නිසා ආරෝපිත වලාකුළු ඇති වේ.

මෙම ස්ථිති විද්‍යුත් ආරෝපණ වලාකුළක ඇතුළත, වලාකුළු දෙකක් අතර හෝ වලාකුළක් හා පෘථිවිය අතර විද්‍යුත් ආරෝපණ පුලිඟුවක් ලෙස පැනීම අකුණු ඇතිවීම ලෙස හඳුන්වනු ලැබේ.

**අමතර දැනුමට**

අකුණු ඇතිවන ආකාරය පිළිබඳව ප්‍රථමවරට පරීක්ෂණ සිදුකරන ලද්දේ බෙන්ජමින් ෆ්‍රැන්ක්ලින් නම් විද්‍යාඥයා විසිනි. ඔහු විසින් අකුණු සහිත අවස්ථාවක දී වලාකුළු දක්වා යවන ලද සරුංගලයක් ආධාරයෙන් එහි ඇති ස්ථිති විද්‍යුත් ආරෝපණ පොළොව වෙත ගෙන එන ලදි.



බෙන්ජමින් ෆ්‍රැන්ක්ලින්



බෙන්ජමින් ෆ්‍රැන්ක්ලින් අකුණු පිළිබඳ පර්යේෂණ සිදු කරමින්

- **රෙදි මැදීමේ දී ටික් හඬ ඇති වීම**

සිල්ක් වැනි රෙදි වර්ග මැදීමේ දී ඇතැම් විට ටික් ශබ්දයක් සමඟ ඔබගේ අතෙහි රෝම ඒ වෙත ඇදීම ඔබ නිරීක්ෂණය කරන්නට ඇත. මීට හේතුව රෙදි මැදීමේ දී ඉස්ත්‍රික්කය රෙදි සමඟ ස්පර්ශ වීම නිසා ස්ථිති විද්‍යුත් ආරෝපණ ඇතිවීමයි.

- **රූපවාහිනී තිරය අසලට අත ළංකළ විට රෝම ඒ වෙත ආකර්ෂණය වීම**

සමහර රූපවාහිනී යන්ත්‍ර ක්‍රියා විරහිත කිරීමේ දී අතෙහි රෝම එහි තිරය දෙසට ආකර්ෂණය වන බව ඔබ දකින්නට ඇත. රූපවාහිනී තිරයේ මතුපිට ඇති ස්ථිති විද්‍යුත් ආරෝපණ හේතුවෙන් ශරීරයේ රෝම ඒ වෙත ඇදීම සිදු වේ.

**ඉහත සිදුවීම්වලට අමතරව**

ඡායා පිටපත් යන්ත්‍ර, ගුවන් විදුලි හා රූපවාහිනී යන්ත්‍ර වැනි ඉලෙක්ට්‍රෝනික පරිපථ ආදිය තුළ ද ස්ථිති විද්‍යුතය ප්‍රයෝජනයට ගන්නා අවස්ථා පවතී.

## 2.5 ධාරිත්‍රක

### ක්‍රියාකාරකම 2.5

**අවශ්‍ය ද්‍රව්‍ය** :- 15 cm x 15 cm ප්‍රමාණයෙන් හෝ ඒ ආසන්න ප්‍රමාණයක තුනී ඇලුමිනියම් තහඩු දෙකක්, වයර කැබලි දෙකක්, ගැල්වනෝ මීටරයක්, පොලිතීන් කොළයක්, වියළි කෝෂ දෙකක්, සෙලෝටේප් හෝ රබර් පටි

**ක්‍රමය** :-

- ඇලුමිනියම් තහඩු දෙකට වයර් කැබලි දෙක සවි කරන්න.
- තහඩු දෙක අතරට පොලිතින් කොළය තබා තහඩු එකිනෙක ස්පර්ශ නොවන සේ රබර් පටි හෝ සෙලෝටේප් මගින් රඳවන්න.
- තහඩු හා සම්බන්ධ වයර දෙක වියළි කෝෂවලට සම්බන්ධ කර සුළු වේලාවක් තබන්න.
- කෝෂ දෙක ඉවත් කර තහඩු හා සම්බන්ධ කළ වයරවලට ගැල්වනෝමීටරය සම්බන්ධ කර ක්ෂණිකව නිරීක්ෂණය කරන්න. (මෙම පියවර ක්ෂණිකව සිදු කළ යුතු ය.)
- නිරීක්ෂණ සඳහා හේතු සාකච්ඡා කරන්න.




2.12 රූපය ▲ සරල ධාරිත්‍රකය




2.13 රූපය ▲ සරල ධාරිත්‍රකය හා වියළි කෝෂ යෙදූ පරිපථයක්

ඔබ විසින් ක්‍රියාකාරකම 2.5හි දී සාදන ලද්දේ සරල ධාරිත්‍රකයකි. වියළි කෝෂවලට සම්බන්ධ කළ විට ධාරිත්‍රකය තුළ ස්ථිති විද්‍යුත් ආරෝපණ ගබඩා වීම සිදු වේ. ඇටවුම ගැල්වනෝ මීටරයට සම්බන්ධ කළ වහාම එහි තිබූ ආරෝපණ ඉවත් වී යයි. ස්ථිති විද්‍යුත් ආරෝපණ ගබඩා කළ හැකි උපාංග **ධාරිත්‍රක** ලෙස හැඳින්වේ.

ධාරිත්‍රකය තුළ ඇති ආරෝපණ ඉවත් වීම විසර්ජනය ලෙස හැඳින්වේ.



2.14 රූපය ▲
ධාරිත්‍රකයක රූපසටහනක්

ගැල්වනෝ මීටරය හරහා ආරෝපණ විසර්ජනය වීම නිසා එහි උත්ක්‍රමණය වීම සිදු වේ.

ධාරිත්‍රකය තුළ ගබඩා කළ හැකි ආරෝපණ මනිනුයේ ෆැරඩ්වලිනි (F). එහි උප ඒකකයක් ලෙස මයික්‍රෝ ෆැරඩ් (μF) දැක්විය හැකි ය.

විවිධ ප්‍රමාණයේ වඩා කාර්යක්ෂම ධාරිත්‍රක වර්ග ඇත. ඒවා බොහොමයක ආරෝපණය කළ යුතු වෝල්ටීයතාව, (+) හා (-) අග්‍ර, එහි ගබඩා කළ හැකි උපරිම ආරෝපණ ප්‍රමාණය ඇතුළු තවත් කරුණු රාශියක් සටහන් කර ඇත.



2.15 රූපය ▲
ධාරිත්‍රකයක සංකේතය

## පැවරුම 2.2

ගුවන් විදුලි යන්ත්‍ර, රූපවාහිනී යන්ත්‍ර, CFL ආදී ඉලෙක්ට්‍රොනික් පරිපථ නිරීක්ෂණය කරමින් ඒවා තුළ ඇති විවිධ වර්ගයේ ධාරිත්‍රක හඳුනා ගන්න.

## ක්‍රියාකාරකම 2.6

**ධාරිත්‍රකයක ආරෝපණය හා විසර්ජන හඳුනා ගැනීම**

**අවශ්‍ය ද්‍රව්‍ය** :- 1000 μF ධාරිත්‍රකයක්, වියළිකෝෂ තුනක්, කුඩා LED එකක්, වයර කැබලි

**ක්‍රමය** :- ධාරිත්‍රකයේ දෙකෙළවර වයර් කැබලි හා සම්බන්ධ කරන්න. වියළි කෝෂ දෙක නිවැරදි ලෙස ධාරිත්‍රකයේ අග්‍රවලට සම්බන්ධ කරන්න. තත්පර කිහිපයක් තබන්න. ක්ෂණිකව වියළි කෝෂ ඉවත් කර ධාරිත්‍රකයේ අග්‍ර අතරට LED එක සම්බන්ධ කර නිරීක්ෂණ ලබා

ගන්න. (බැටරියේ + අග්‍රය සවි වූ පැත්තට LED හි + අග්‍රය සම්බන්ධ කළ යුතු ය)

ඔබේ නිරීක්ෂණ සඳහා හේතු සාකච්ඡා කරන්න.



2.16 රූපය ▲ ධාරිත්‍රකයක් ආරෝපණය හා විසර්ජනය

LEDය දැල්වීමට හේතුව ධාරිත්‍රකය තුළ ගබඩා වී තිබූ ආරෝපණ LEDය හරහා විසර්ජනය වීමයි. නැවතත් නිවැරදි ලෙස වියළි කෝෂ ධාරිත්‍රකයට සම්බන්ධ කිරීම මගින් එය ආරෝපණය කරගත හැකි ය.

ඉහත ක්‍රියාකාරකම කිහිප වරක් සිදුකර බලන්න.

## සාරාංශය

- ඇතැම් ද්‍රව්‍ය වෙනත් ද්‍රව්‍යවලින් පිරිමැදීම නිසා ස්ථිති විද්‍යුතය හට ගනී.
- ස්ථිති විද්‍යුත් ආරෝපණ වර්ග දෙකක් ඇත. එනම් (+) ස්ථිති විද්‍යුත් හා (-) ස්ථිති විද්‍යුත් ආරෝපණ වශයෙනි.
- වස්තු පිරිමැදීමේ දී එක් වස්තුවක ඇති (-) ආරෝපිත අංශු ඉවත් වී අනෙක් වස්තුවට මාරුවීම සිදු වේ.
- සජාතීය ආරෝපණ සහිත වස්තු අතර විකර්ෂණ බල ද විජාතීය ආරෝපණ සහිත වස්තු අතර ආකර්ෂණ බල ද හටගනී.
- අකුණු ගැසීම ස්ථිති විද්‍යුත් ආරෝපණ නිසා හටගන්නා ස්වාභාවික සංසිද්ධියකි.
- රූපවාහිනී යන්ත්‍ර, ඡායා පිටපත් යන්ත්‍ර ආදිය තුළ ද ස්ථිති විද්‍යුතය භාවිත වේ.
- විද්‍යුත් ආරෝපණ ගබඩා කළ හැකි උපාංගයක් ලෙස ධාරිත්‍රකය හැඳින්විය හැකි ය.

## අභ්‍යාස

1. ස්ථිති විද්‍යුත් ආරෝපණ භාවිතයට ගන්නා අවස්ථා දෙකක් ලියන්න.
2. ශිෂ්‍යයකු විසින් පිරිමැදීම මගින් ආරෝපණය කරගත් PVC දණ්ඩක් නූලකින් එල්ලා සේදවලින් පිරිමදින ලද වීදුරු දණ්ඩක් ඒ අසලට ගෙන එන ලදි. PVC දණ්ඩ ඉවතට තල්ලු වී යනු නිරීක්ෂණය විය.

    i. PVC දණ්ඩ විකර්ෂණය වීමට හේතුව කුමක් ද ?

    ii. PVC දණ්ඩ සතු ස්ථිති විද්‍යුත් ආරෝපණ වර්ගය කුමක් ද ?

3. පහත 2.16 රූපයේ දැක්වෙන්නේ එක්තරා ශිෂ්‍යයකු සැකසූ පරිපථයකි. X අග්‍රය A ස්ථානයට සම්බන්ධ කළ විට මිලි ඇමීටරයේ කටුව චලනය වූ අතර, B ස්ථානයට සම්බන්ධ කළ විට නැවතත් චලනය විය. ඉහත සිදුවීම පැහැදිලි කරන්න. එම අවස්ථාවේ දැකිය හැකි තවත් නිරීක්ෂණයක් ලියන්න.




රූපය 2.17

## පාරිභාෂික වචන

| | |
|---|---|
| ස්ථිති විද්‍යුතය | - Static Electricity |
| ආරෝපණය | - Charge |
| විසර්ජනය | - Discharge |
| ධන ආරෝපණ | - Positive charges |
| සෘණ ආරෝපණ | - Negative charges |
| ධාරිත්‍රක | - Capacitor |

# 03 විදුලි ජනනය



දිනක් උදා වී නිම වන තෙක් ම අපි බොහෝ කාර්යයන්හි නියැළෙන්නෙමු. ඒ සඳහා විවිධ උපකරණ ද භාවිත කරන්නෙමු. එදිනෙදා කටයුතු පහසුකර ගැනීම සඳහා භාවිත කරන බොහෝ උපකරණ ක්‍රියා කරනුයේ විදුලියෙන් බව ඔබ දන්නා කරුණකි.

එදිනෙදා ජීවිතය තුළ අපට විදුලිය ප්‍රයෝජනවත් වන ආකාරය පිළිබඳ හය වන ශ්‍රේණියේ දී උගත් කරුණු ද සිහිපත් කරමින් 3.1 පැවරුමෙහි යෙදෙමු.



**පැවරුම 3.1**

නිතර භාවිත කරන විදුලි උපකරණ සම්බන්ධයෙන් තොරතුරු දැක්වෙන 3.1 වගුව සම්පූර්ණ කරන්න.

3.1 වගුව

| විදුලි උපකරණයේ නම | ප්‍රයෝජනය | උපකරණය සඳහා විදුලිය ලැබෙන ක්‍රමය |
|---|---|---|
| 1. ඔරලෝසුව | වේලාව දැන ගැනීම | විදුලි කෝෂ |
| 2. බත් පිසිනය | බත් පිසීම | |
| 3. පා පැදියේ ඉදිරි ලාම්පුව | | |
| 4. | | |
| 5. | | |
| 6. | | |

## 3.1 විද්‍යුත් ප්‍රභව

ක්‍රියාකාරකම 3.1 ට අදාළ වගුවෙහි අවසාන තීරය වෙත අවධානය යොමු කරමු.

එදිනෙදා ජීවිතයේ දී විවිධ අවශ්‍යතා සඳහා විදුලිය සපයන ආකාර එහි දැක්වේ.

විද්‍යුතය නිපදවනු ලබන උපාංග **විද්‍යුත් ප්‍රභව** ලෙස හැඳින්වේ.

විද්‍යුත් ප්‍රභව පිළිබඳ තවදුරටත් අධ්‍යයනය සඳහා පන්ති කාමරය තුළ කණ්ඩායම් වශයෙන් 3.1 ක්‍රියාකාරකමෙහි යෙදෙමු.

## ක්‍රියාකාරකම 3.1

3.1 රූපයේ දැක්වෙන්නේ විවිධ අවස්ථාවල දී විද්‍යුතය උත්පාදනය කිරීම සඳහා වැදගත් වන විද්‍යුත් ප්‍රභව කිහිපයකි.



3.1 රූපය ▲ විවිධ ආකාරයේ විද්‍යුත් ප්‍රභව

- එක් එක් උපකරණයෙහි විද්‍යුතය උත්පාදනය වන ආකාරය සාකච්ඡා කරන්න.
- විද්‍යුතය උත්පාදනය වන ආකාරය පදනම් කොටගෙන එම විද්‍යුත් ප්‍රභව වර්ග කරන්න.
- ඔබ කණ්ඩායමේ අනාවරණ පන්තියට ඉදිරිපත් කරන්න.

- අපට හමුවන ඇතැම් විද්‍යුත් ප්‍රභව තුළ විදුලිය උත්පාදනය වනුයේ රසායනික ක්‍රියාවලියක් මගිනි. මේවා තුළ විවිධ රසායනික ද්‍රව්‍ය අන්තර්ගත වේ.

  නිදසුන් - වියළි කෝෂ, සරල කෝෂ, වාහන බැටරි

වියළි කෝෂයක අන්තර්ගත රසායන ද්‍රව්‍ය හඳුනා ගැනීමට 3.2 ක්‍රියාකාරකමෙහි නිරත වෙමු.

## ක්‍රියාකාරකම 3.2

**වියළි කෝෂයක් තුළ අඩංගු දෑ පරීක්ෂා කරමු**

**අවශ්‍ය ද්‍රව්‍ය :-**

භාවිතයෙන් ඉවත් කළ වියළි කෝෂ කිහිපයක්, කියත් පටියක්, කඩදාසි කොළයක්, අඬුවක්, අත්වැසුම්

**ක්‍රමය :-** (ගුරු ආදර්ශනයක් ලෙස සිදු කරමු)

- කියත් පටිය ආධාරයෙන් භාවිතයෙන් ඉවත් කළ වියළි කෝෂය දික් අතට කපා ගන්න.

- කැපීමෙන් ලැබෙන අර්ධය හොඳින් නිරීක්ෂණය කරන්න.
- වියළි කෝෂයේ අඩංගු ද්‍රව්‍ය නිරීක්ෂණය කරන්න.
- ගුරුතුමාගේ සහාය ඇතිව වියළි කෝෂය තුළ විවිධ රසායනික ද්‍රව්‍ය ඇති බව හඳුනා ගන්න.
- පරීක්ෂාව අවසානයේ ගුරුතුමාගේ උපදෙස් ලබාගෙන රසායන ද්‍රව්‍ය ආරක්ෂිතව ඉවත් කරන්න.



3.2 රූපය ▲ වියළි කෝෂ තුළ අඩංගු ද්‍රව්‍ය

ක්‍රියාකාරකම තුළින් පැහැදිලි වනුයේ වියළි කෝෂ තුළ විවිධ රසායනික ද්‍රව්‍ය අඩංගු බවයි. මේ ආකාරයට සෑම විද්‍යුත් කෝෂයක් හා බැටරියක් තුළ ම විවිධ රසායනික ද්‍රව්‍ය අන්තර්ගත වේ.

- කරකැවීම හෝ චලනය කිරීම මගින් ඇතැම් විද්‍යුත් ප්‍රභව විදුලිය නිපදවනු ලබයි.

නිදසුන් - බයිසිකල් ඩයිනමෝව, විදුලි ජනක යන්ත්‍ර

අපට හමුවන විද්‍යුත් ප්‍රභව විදුලිය උත්පාදනය වන ක්‍රමය අනුව පහත ආකාරයට දැක්විය හැකි ය.

1. විද්‍යුත් කෝෂ සහ බැටරි - රසායනික ක්‍රියාවලි මගින් විදුලිය නිපදවන උපාංග
2. ඩයිනමෝව - චලනය මගින් / කරකැවීම මගින් විදුලිය නිපදවන උපාංග
3. සූර්ය කෝෂ - සූර්ය ශක්තිය මගින් විදුලිය උත්පාදනය වන උපාංග

## කෝෂ සහ බැටරි

විද්‍යුතය නිපදවා ගැනීම ඉතා පහසු කාර්යයකි. එය ඔබට ද නිවසේදී ම වුව ද සිදු කළ හැකි ය. මේ සඳහා සරල ක්‍රියාකාරකමක යෙදෙමු.

### ක්‍රියාකාරකම 3.3

**දෙහි ගෙඩියෙන් විදුලිය උත්පාදනය කිරීම**

**අවශ්‍ය ද්‍රව්‍ය :-** යුෂ පිටතට නො එන පරිදි හොඳින් තෙරපන ලද දෙහි ගෙඩියක්, කොපර් තහඩුවක්, සින්ක් තහඩුවක්, සම්බන්ධක වයර, සංගීත නාදය නිපදවන සුබ පැතුම් පතක් තුළ ඇති පරිපථ කොටස හෝ මිලි ඇමීටරයක්

**ක්‍රමය :-**

- දෙහි ගෙඩිය සිදුරු කර කොපර් හා සින්ක් තහඩු දෙක ඇතුළු කරන්න. (තහඩු එකිනෙක නොගැටෙන පරිදි ඉතා ආසන්නව)
- එම තහඩු දෙකට වයරය බැගින් සම්බන්ධ කරන්න.
- ඔබ සවි කළ වයර මිලි ඇමීටරයට හෝ සංගීත නාදය නිපදවෙන සුබ පැතුම් පතෙහි පරිපථයේ ඇති කෝෂය ඉවත්කර එම ස්ථානයට නිවැරදිව සම්බන්ධ කරන්න. (තඹ තහඩුව + අග්‍රයට හා සින්ක් තහඩුව - අග්‍රයට)
- ඔබට කුමක් නිරීක්ෂණය කළ හැකි ද?




3.3 රූපය

දැන් අප තවදුරටත් වැඩිදියුණු කළ ඇටවුමක් කෙරෙහි අවධානය යොමු කරමු.

## ක්‍රියාකාරකම 3.4

### සරල කෝෂයක් නිර්මාණය කිරීම

**අවශ්‍ය ද්‍රව්‍ය :-** කුඩා බීකරයක් (250 ml), කොපර් තහඩුවක් හා සින්ක් තහඩුවක් (3 cm X 5 cm පමණට වඩා වැඩි නම් වඩා යෝග්‍ය වේ.), විදුලි පන්දම් බල්බයක් හා බල්බ ධාරකයක්, කුඩා විදුලි මෝටරයක්, 15 cm පමණ දිග කොපර් කම්බියක් (සර්කිට් වයර් තුළ ඇති එක් සිහින් කම්බියක්), මැද බින්දු ඇමීටරයක්, තනුක සල්ෆියුරික් අම්ලය, වයර කැබලි

**ක්‍රමය :-**

- තඹ හා සින්ක් තහඩු හොඳින් සූරා පිරිසිදු කර ඒවායේ කෙළවරට වයරය බැගින් සම්බන්ධ කරන්න.
- බීකරයේ අඩක් පමණ තනුක සල්ෆියුරික් අම්ලය පුරවන්න.
- කොපර් හා සින්ක් තහඩු එකිනෙක ස්පර්ශ නොවන සේ ඒ තුළ ගිල්වන්න.

- තහඩු දෙක හා සම්බන්ධක වයරවලට බල්බය සම්බන්ධ කර බලන්න.
- බල්බයෙහි එක් කෙළවරකට රූපයේ පරිදි මැද බින්දු ඇමීටරය සම්බන්ධ කර බලන්න. (රූපය 3.4)
- බල්බය වෙනුවට මෝටරය සම්බන්ධ කර බලන්න. (රූපය 3.5)
- මෝටරය ඉවත් කර දඟරයක් ලෙස පිළියෙල කළ සිහින් ලෝහ කම්බිය (පෑන් බටයක් වටා එතීමෙන්) සම්බන්ධ කරන්න.

(උපකරණ සම්බන්ධ කරන සෑම අවස්ථාවකට ම පෙර තඹ හා සින්ක් තහඩු ඉහළට ඔසවා බුරුසුවකින් පිස දැමීම සිදු කළ යුතු ය.)




3.4 රූපය




3.5 රූපය

- ඔබගේ නිරීක්ෂණ පහත ආකාරයේ වගුවක සටහන් කරන්න.

3.2 වගුව

| බල්බය සම්බන්ධ කළවිට නිරීක්ෂණය | මෝටරය සම්බන්ධ කළ විට නිරීක්ෂණය | කම්බි දඟරය සම්බන්ධ කළ විට නිරීක්ෂණය | ඇමීටරය සම්බන්ධ කළ විට නිරීක්ෂණය | ඔබ දුටු වෙනත් නිරීක්ෂණ |
|---|---|---|---|---|
| | | | | |

- ඔබ විසින් නිපදවනු ලැබුවේ **සරල කෝෂය** නැමැති උපකරණයයි.
- බල්බය දැල්වීම සහ ඇමීටරයේ කටුව චලනය වීම මගින් විද්‍යුතය උත්පාදනය වී ඇති බව පැහැදිලි වේ.
- දඟරය රත්වීමට හේතුව ද ඒ තුළින් විදුලි ධාරාව ගැලීමයි
- තනුක සල්ෆියුරික් අම්ලය වෙනුවට ඔබට සපයාගත හැකි වෙනත් අම්ල භාවිත කර පරීක්ෂණය නැවත සිදු කරන්න.

**අමතර දැනුමට**

### මැදබින්දු ඇමීටරය

සන්නායකයක් තුළින් ගලන විදුලි ධාරා ප්‍රමාණය මෙන් ම විදුලි ධාරාව ගලන දිශාව හඳුනා ගැනීමට මැදබින්දුව සහිත ඇමීටරය හෝ මැදබින්දුව සහිත මිලි ඇමීටරය උපකාරී වේ.



ධාරාව මනිනු ලබන සම්මත ඒකකය ඇම්පියරය (A) වේ. කුඩා ධාරාවල් මැනීම සඳහා මිලි ඇම්පියර (mA) යන උප ඒකකය ද භාවිත කරයි.

**ක්‍රියාකාරකම 3.5**

- ඔබ කණ්ඩායම් විසින් සකස් කළ සරල කෝෂ සියල්ල එක් මේසයක් මත තබන්න.
- එක් කෝෂයක තඹ තහඩුව අනෙක් කෝෂයේ සින්ක් තහඩුව හා සම්බන්ධ කරමින් කෝෂ එකිනෙක සම්බන්ධ කරන්න. (3.5 රූපයේ ආකාරයට)
- ඉතිරි වන (A හා B) අග්‍ර දෙකට විදුලි පන්දම් බල්බය, විදුලි මෝටරය හා කම්බි දඟරය වෙන වෙන ම සම්බන්ධ කර බලන්න.
- ඔබේ නිරීක්ෂණ සහ ඒ සඳහා හේතු සාකච්ඡා කරන්න.
- මෙම ඇටවුම සඳහා උචිත නමක් යෝජනා කරන්න.




3.6 රූපය

බල්බයේ දීප්තියත්, මෝටරයේ වේගයත්, දඟරයේ රත් වීමත්, තනි කෝෂයක් ඇති අවස්ථාවට වඩා වැඩි බව ඔබට පෙනෙනු ඇත.

ඔබ විසින් සකස් කරන ලද්දේ කෝෂ කිහිපයක් සම්බන්ධ කළ ඇටවුමකි.

■ වියළි කෝෂ කිහිපයක් භාවිත කරමින් තවත් ඇටවුමක් සකසමු.

## ක්‍රියාකාරකම 3.6

**අවශ්‍ය ද්‍රව්‍ය :-** වියළි කෝෂ 4ක්, සම්බන්ධක වයර, කාඩ්බෝඩ් කැබැල්ල, සෙලෝටේප් හෝ රබර් පටි

**ක්‍රමය :-**

- රූපයේ ආකාරයට වියළි කෝෂ 4 සම්බන්ධ කරන්න.
- වියළි කෝෂ සඳහා වයර සම්බන්ධ කිරීමට සෙලෝටේප් හෝ රබර්පටි යොදා ගත හැකි ය.
- වියළි කෝෂ කට්ටලය කාඩ්බෝඩ්වලින් ඔතා හුරුබුහුටි ඇසුරුමක් ලෙස සකසා ගන්න.
- සැපයුම් අග්‍ර දෙක ඉවතට ගන්න.




3.7 රූපය

**කෝෂ කිහිපයක් නිවැරදිව එකිනෙක සම්බන්ධ කරන ලද ඇටවුමක් බැටරියක් ලෙස හැඳින්වේ. කෝෂයකට වඩා වැඩි විදුලි ධාරාවක් බැටරියක් මගින් ලබාගත හැකි ය.**

කෝෂයක් හා බැටරියක් අතර වෙනස ඔබට දැන් ප්‍රකාශ කළ හැකි ද?

## ස්ව අධ්‍යයන අභ්‍යාස

1. සරල කෝෂයේ දුර්වලතා සඳහන් කරන්න.
2. තනි කෝෂයකට වඩා බැටරියක් මගින් ලබා ගත හැකි වාසියක් ලියන්න.
3. එදිනෙදා ජීවිතයේ දී කෝෂ සහ බැටරි භාවිත වන අවස්ථා සඳහා නිදසුන් ලියන්න.

සරල කෝෂයෙහි ඇති දුර්වලතා නිසා ප්‍රායෝගිකව එය භාවිත නොවේ. එම දුර්වලතා කිහිපයක් පහත දැක්වේ.

- ද්‍රව අඩංගු වන බැවින් භාවිතය අපහසු වීම
- වැඩි වේලාවක් විදුලිය ලබා ගැනීමට නොහැකි වීම

භාවිතය පහසු මෙන් ම වැඩි ධාරාවක් ලබා ගත හැකි කෝෂ හා බැටරි වර්ග අද බහුලව භාවිතයේ පවතී.

## අමතර දැනුමට

වෙළෙඳපොළෙන් ලබාගත හැකි කෝෂ හා බැටරි වර්ග කිහිපයක් පිළිබඳ තොරතුරු පහත වගුවේ දැක්වේ.

3.3 වගුව ▼ විවිධ වර්ගයේ රසායනික කෝෂ හා බැටරි

| නම | සාදා ඇති ද්‍රව්‍ය | බහුලව භාවිත කරන අවස්ථා |
|---|---|---|
| වියළිකෝෂ  | සින්ක් තහඩු, කාබන් කූර හා කාබන් කුඩු වැනි රසායනික ද්‍රව්‍ය | විදුලි පන්දම්,ගුවන් විදුලි යන්ත්‍ර, බිත්ති ඔරලෝසු ආදිය සඳහා |
| ක්ෂාර කෝෂ  | නිකල්, කැඩ්මියම් වැනි ලෝහ වර්ග සහ ක්ෂාර වර්ග | දුරකථන, කැමරා ආදිය සඳහා |
| බොත්තම් කෝෂ  | ලිතියම්, රසදිය වැනි ද්‍රව්‍ය | අත් ඔරලෝසු, ගණක යන්ත්‍ර ආදිය සඳහා |
| ඊයම් - අම්ල ඇකියුම්ලේටරය (කාර් බැටරි)  | ඊයම් හා තනුක සල්ෆියුරික් අම්ලය | කාර්, බස්, මෝටර් සයිකල් ආදිය තුළ සහ ආරෝපණය කළ හැකි විදුලි පන්දම්වල බොහෝ විට පවතී |

## විශේෂ අවධානයට

භාවිතයෙන් ඉවත් කළ මෙවැනි කෝෂ වර්ග පරිසරයට එක් නොවන සේ ක්‍රමවත් ආකාරයට ප්‍රතිචක්‍රීකරණය කිරීමට යොමු කළ යුතු ය.





▲ භාවිතයෙන් ඉවත් කළ බැටරි හා කෝෂ

## විද්‍යුත් ප්‍රභවයක අග්‍ර

විදුලි පන්දමකට හෝ සෙල්ලම් කාරයකට වියළි කෝෂ සම්බන්ධ කිරීමේ දී අග්‍ර නිවැරදිව සවිකළ යුතු බව ඔබ දන්නා කරුණකි.

- විද්‍යුත් ප්‍රභවයක සිට බැහැරව විදුලිය ලබා ගැනීම සඳහා විදුලි අග්‍ර පවතී.
- බොහොමයක් විද්‍යුත් ප්‍රභවවල ප්‍රධාන විදුලි අග්‍ර දෙකක් පවතී.

1. (+) අග්‍රය
2. (-) අග්‍රය

**ක්‍රියාකාරකම 3.7**

- විවිධ ආකාරයේ කෝෂ හා බැටරි කිහිපයක් සපයා ගන්න.
- ඒවායේ අග්‍ර අසල සටහන් කර ඇති තොරතුරු නිරීක්ෂණය කරන්න.
- ඒ ඇසුරින් ඒවායේ (+) හා (-) අග්‍ර සලකුණු කර ඇති ආකාරය සාකච්ඡා කරන්න.




3.8 රූපය ▲ විවිධ බැටරි හා කෝෂවල අග්‍ර සලකුණු කර ඇති ආකාරය

විවිධ කෝෂ හා බැටරිවල විවිධ ආකාරයට (+) හා (-) අග්‍ර සලකුණු කර තිබෙන ආකාරය ඔබට පැහැදිලි වන්නට ඇත.

විදුලි උපකරණ සඳහා කෝෂ හා බැටරි සම්බන්ධ කිරීමේ දී ඒවායේ අග්‍ර නිවැරදිව සම්බන්ධ කිරීම ඉතා වැදගත් වේ.

**අමතර දැනුමට**

සරල කෝෂයෙහි (+) අග්‍රය ලෙස සලකනුයේ තඹ (කොපර්) තහඩුව හා සම්බන්ධ අග්‍රය වන අතර සින්ක් තහඩුව හා සම්බන්ධ අග්‍රය (-) අග්‍රය වේ.




▲ සරල කෝෂය

කෝෂයක් දැක්වීම සඳහා යොදා ගන්නා සම්මත සංකේතය




3.9 රූපය

## විද්‍යුත් ප්‍රභවයක ධාරාව ගලන දිශාව

විද්‍යුත් ප්‍රභවයකට සම්බන්ධ වයර මගින් බාහිර විදුලි උපකරණයක් (නිදසුන : බල්බයක්) සම්බන්ධ කරමු. විදුලි ප්‍රභවයේ සිට විදුලි උපකරණයක් හරහා වයරය තුළින් විදුලි ධාරාවක් ගැලීම සිදු වේ.

උපකරණය ක්‍රියාත්මක වන්නේ මේ නිසා ය.




3.10 රූපය ▲ විදුලි ධාරාවක් මගින් විදුලි මෝටරයක් ක්‍රියාත්මක කරවීම

### ක්‍රියාකාරකම 3.8

අවශ්‍ය ද්‍රව්‍ය :- වියළි කෝෂ දෙකක්, වයර කැබලි, විදුලි මෝටරයක්, මැදබින්දුව සහිත මිලි ඇමීටරයක්

ක්‍රමය :-

- 3.11 (අ) රූපයේ ආකාරයට පරිපථය සකසා ගන්න.
- විදුලි මෝටරය කැරකෙන දිශාව හා ඇමීටර කටුව ගමන්කර ඇති දිශාව සටහන් කර ගන්න.
- කෝෂවල අග්‍ර මාරුකර සම්බන්ධ කරමින් නැවත නිරීක්ෂණය කරන්න. (3.11 (ආ) රූපය)
- නිරීක්ෂණ සටහන් කරන්න.




3.11 (අ) රූපය




3.11 (ආ) රූපය

විද්‍යුත් ප්‍රභවයක ධාරාව ගලන සම්මත දිශාව ලෙස සලකනුයේ (+) සිට (-) අග්‍රය දක්වා දිශාවයි.

කෝෂවල අග්‍ර මාරු කළවිට මෝටරයේ භ්‍රමණ දිශාව මෙන් ම ඇමීටරයේ කටුව චලනය වූ දිශාව ද වෙනස් විය. මීට හේතුව ධාරාව ගලන දිශාව වෙනස් වීමයි. 3.12 රූපයෙන් පරිපථයක් තුළින් ධාරාව ගලන දිශාව නිරූපණය වේ.

මේ අනුව විද්‍යුත් ධාරාව ගැලීම සඳහා නිශ්චිත දිශාවක් ඇති බව පැහැදිලි වේ.



3.12 රූපය
වියළි කෝෂයක ධාරාව ගලන දිශාව

## සූර්ය කෝෂ

සූර්යයාගේ ශක්තිය තාපය සහ ආලෝකය ලෙස පෘථිවි තලයට ලැබේ. වර්තමානයේ මිනිසා විසින් බොහෝ කාර්ය සඳහා සූර්ය ශක්තිය භාවිත කරනු ලබයි. විදුලි උත්පාදනය ඉන් එක් ප්‍රයෝජනයකි.

සූර්යාලෝකය භාවිතයෙන් විදුලිය උත්පාදනය සඳහා භාවිත කරන උපකරණය සූර්ය කෝෂය ලෙස හැඳින්වේ. සූර්ය කෝෂ භාවිතයෙන් ක්‍රියා කරන අත් ඔරලෝසු, ගණක යන්ත්‍ර, ක්‍රීඩා භාණ්ඩ ආදිය ඔබ දැක තිබේ ද?

සූර්ය කෝෂයක ක්‍රියාකාරීත්වය හඳුනා ගැනීම සඳහා 3.9 ක්‍රියාකාරකමෙහි යෙදෙමු.

### ක්‍රියාකාරකම 3.9

**සූර්ය කෝෂයක ක්‍රියාකාරීත්වය හඳුනා ගැනීම**

අවශ්‍ය ද්‍රව්‍ය :- සූර්ය කෝෂය, කුඩා විදුලි මෝටරය, විදුලි පන්දම් බල්බය

ක්‍රමය :-

- සූර්ය කෝෂයේ අග්‍රවලට විදුලි මෝටරයේ අග්‍ර සම්බන්ධ කරන්න.
- ආලෝකය ඇති ස්ථානයක තබා නිරීක්ෂණය කරන්න.
- සූර්ය කෝෂයේ අග්‍ර මාරු කර මෝටරයට සම්බන්ධ කරන්න. මෝටරයේ භ්‍රමණ දිශාව වෙනස් වේ දැයි නිරීක්ෂණය කරන්න.


3.13 රූපය

- මෝටරය වෙනුවට බල්බය සම්බන්ධ කර නැවත ක්‍රියාකාරකම සිදු කරන්න.
- නිරීක්ෂණ වගු ගත කරන්න.

3.4 වගුව

| අවස්ථාව | මෝටරය | බල්බය |
| --- | --- | --- |
| ආලෝකයට තැබූ විට | | |
| අඳුරු කළ විට | | |
| අග්‍ර මාරු කළ විට | | |

සූර්ය කෝෂවලද (+) සහ (-) අග්‍ර සටහන්ව ඇත. මේ නිසා සූර්ය කෝෂ භාවිතයේ දී නිවැරදිව අග්‍ර සම්බන්ධ කිරීම කළ යුතු ය.

වර්තමානයේ නිවාසවල විදුලි අවශ්‍යතා සඳහා මෙන් ම ඇතැම් මෝටර් රථ ධාවනය සඳහා ද සූර්ය කෝෂ භාවිත කරයි.

සූර්ය කෝෂයකින් විද්‍යුතය උත්පාදනය වනුයේ ආලෝකය ඇති විට දී පමණි. එසේ උත්පාදනය වන විද්‍යුතය කෝෂ හෝ බැටරි තුළ ගබඩා කර ගනු ලැබේ.



**අමතර දැනුමට**

සිලිකන් වැනි මූලද්‍රව්‍ය භාවිතයෙන් සූර්ය කෝෂ නිපදවයි. එක් සූර්ය කෝෂයකින් නිපදවනුයේ ඉතා කුඩා ධාරාවක් බැවින් විශාල ධාරාවක් ලබා ගැනීම සඳහා සූර්ය කෝෂ විශාල ගණනක් එකට සම්බන්ධ කර ගත යුතු ය. එවිට එය සූර්ය පැනලයක් ලෙස හැඳින්වේ.



## ඩයිනමෝව

බොහොමයක් පාපැදිවල ලාම්පු දැල්වීම සඳහා අවශ්‍ය විදුලිය ලබා ගැනීමට බයිසිකල් ඩයිනමෝව යොදා ගනී. ඩයිනමෝව ද විද්‍යුතය නිපදවා ගැනීම සඳහා භාවිත කරන විද්‍යුත් ප්‍රභවයකි.



3.14 රූපය ▲ බයිසිකලයක් සඳහා ඩයිනමෝවක් සවිකර ඇති අයුරු

## පැවරුම 3.2

පාපැදිවලට අමතරව විදුලිය ලබා ගැනීම සඳහා ඩයිනමෝව යොදා ගන්නා වෙනත් අවස්ථා ලැයිස්තු ගත කරන්න.

පා පැදිවලට අමතරව ඉන්ධන මගින් ක්‍රියා කරන විදුලි ජනක යන්ත්‍ර, විදුලි බලාගාර, තාප බලාගාර, රථවාහන ආදියෙහි ද විදුලිය උත්පාදනය කරනුයේ විවිධ ආකාරයේ ඩයිනමෝ මගිනි.

## විවිධ ආකාරයේ ඩයිනමෝ වර්ග




ඉන්ධන මගින් ක්‍රියාකරන විදුලි ජනක යන්ත්‍රයක්



ජල විදුලි බලාගාරයක විදුලි ජනක යන්ත්‍රයක්

3.15 රූපය

## අමතර දැනුමට

විද්‍යාගාරයේ ඩයිනමෝ පිළිබඳ අධ්‍යයනය සඳහා ඩයිනමෝ ආකෘතිය නම් උපකරණය භාවිත කරයි.



විද්‍යාගාර ඩයිනමෝ අකෘතිය

ඩයිනමෝවක් තුළ විදුලිය උත්පාදනය වන්නේ කෙසේ ද යන්න පිළිබඳව සලකා බලමු.

## ක්‍රියාකාරකම 3.10

ඩයිනමෝවක විදුලිය උත්පාදනය වන ආකාරය හඳුනා ගැනීම

අවශ්‍ය ද්‍රව්‍ය :- පරිවෘත තඹ කම්බි මීටර් එකක් පමණ, දණ්ඩ චුම්බකයක්, ගැල්වනෝමීටරයක්

ක්‍රමය :-

- බට කැබැල්ලක් හෝ වියළි කෝෂයක් වැනි සිලින්ඩරාකාර ද්‍රව්‍යයක් වටා තඹ කම්බිය ඔතා දඟරයක් සාදා ගන්න.
- එහි දෙකෙළවර හොඳින් සූරා පිරිසිදු කර ගැල්වනෝමීටරයට සම්බන්ධ කරන්න.
- දණ්ඩ චුම්බකය ගෙන සන්නායක දඟරය තුළින් ඇතුළට හා ඉවතට චලනය කරන්න.
- ගැල්වනෝමීටරයේ කටුව චලනය වන අයුරු නිරීක්ෂණය කරන්න.
- නිරීක්ෂණ සඳහා හේතුව සාකච්ඡා කරන්න.



3.16 රූපය

සන්නායකයක් සමග චුම්බක බල රේඛා ගැටීමේ දී සන්නායකය තුළ විද්‍යුතය උත්පාදනය වීම විද්‍යුත් **චුම්බක ප්‍රේරණය** ලෙස හැඳින්වේ.

බයිසිකල් ඩයිනමෝවක් තුළ සන්නායක දඟරයක් හා ඒ මැද ස්ථිර චුම්බකයක් පවතී. බයිසිකල් රෝදය කරකැවෙන විට ඩයිනමෝව තුළ ඇති චුම්බකය ද කරකැවීම සිදු වේ. මෙවිට සන්නායක දඟරය තුළ විද්‍යුතය උත්පාදනය වේ.

බයිසිකල් ඩයිනමෝව තුළ විද්‍යුතය නිපදවනුයේ ද විද්‍යුත් චුම්බක ප්‍රේරණ මූලධර්මයට අනුව බව ඔබට පැහැදිලි වනු ඇත.

ඩයිනමෝවක ක්‍රියාකාරිත්වය අධ්‍යයනය සඳහා 3.11 ක්‍රියාකාරකමෙහි යෙදෙමු.



3.17 රූපය ▲ බයිසිකල් ඩයිනමෝවක ඇතුළත පෙනුම

## ක්‍රියාකාරකම 3.11

### ඩයිනමෝවකින් විදුලිය නිපදවීම

අවශ්‍ය ද්‍රව්‍ය :- බයිසිකල් ඩයිනමෝවක් හෝ විද්‍යාගාර ඩයිනමෝ ආකෘතියක්, විදුලි පන්දම් බල්බයක්, වයර කැබලි

ක්‍රමය :-

- ඩයිනමෝවෙහි අග්‍රවලට විදුලි පන්දම් බල්බය සම්බන්ධ කරන්න.
- ඩයිනමෝව සෙමින් සහ වේගයෙන් කරකවමින් බල්බයේ දීප්තිය නිරීක්ෂණය කරන්න.
- නිරීක්ෂණ සඳහා හේතුව සාකච්ඡා කරන්න.



3.18 රූපය

ඩයිනමෝවක් කරකැවෙන වේගය වැඩි වන විට ප්‍රේරණය වන විදුලි ප්‍රමාණයද වැඩිවන බව පැහැදිලි වනු ඇත.

## ක්‍රියාකාරකම 3.12

### සරල ඩයිනමෝවක් සෑදීම

අවශ්‍ය ද්‍රව්‍ය :- 32 SWG වර්ගයේ පරිවරණ තඹ කම්බි මීටර් හතරක් පමණ, දණ්ඩ චුම්බකයක්, රබර් ඇබයක්, යකඩ කම්බි හෝ පතුරු මිටියක්, ගැල්වනෝ මීටරයක්, සෙලෝටේප්, බයිසිකල් ස්පෝක් කම්බියක්

ක්‍රමය :- • 15 cm පමණ දිග යකඩ කම්බි 10 ක් පමණ එකට තබා මිටියක් සේ සාදා ගන්න.

- එහි දෙකෙළවරින් 2 cm පමණ නවා U හැඩයට සකස් කර ගන්න.
- කම්බි මිටිය වටා රූපයේ පරිදි සන්නායක කම්බිය දඟරයක් සේ ඔතා ගන්න.
- සන්නායක දඟරයෙහි දෙකෙළවර සූරා පිරිසිදු කර ගැල්වනෝ මීටරයට සම්බන්ධ කරන්න.
- රබර් ඇබය දණ්ඩ චුම්බකයෙහි අලවා එයට ස්පොක් කම්බිය සවිකර දණ්ඩ චුම්බකය සන්නායක දඟරය මැද රඳවා කරකවන්න.
- ගැල්වනෝ මීටරයෙහි කටුවෙහි චලිතය නිරීක්ෂණය කරන්න.




3.19 රූපය

ඔබ සාදා ඇත්තේ සරල ඩයිනමෝවකි. එහි ක්‍රියාකාරිත්වය තවදුරටත් වැඩිදියුණු කළ හැක්කේ කෙසේ ද යන්න දැන් සලකා බලමු.

ඔබ සකසා ගත් සරල ඩයිනමෝවෙහි
1. දඟරයේ පොට සංඛ්‍යාව වැඩි කර ක්‍රියාත්මක කරන්න. ඇමීටරයේ කටුව චලනය වන ප්‍රමාණය සටහන් කරගන්න.
2. ප්‍රබලතාවයෙන් වැඩි චුම්බකයක් සමබන්ධ කර නැවත ක්‍රියාත්මක කර බලන්න.

නිරීක්ෂණ සඳහා හේතු ඔබට දැක්විය හැකි ද?

දඟරයේ පොට සංඛ්‍යාව සහ චුම්බකයේ ප්‍රබලතාව වැඩි කිරීමෙන් ඩයිනමෝවේ කාර්යක්ෂමතාව වැඩි කළ හැකි ය.

## 3.2 සරල ධාරාව හා ප්‍රත්‍යාවර්තක ධාරාව

වියළි කෝෂයකට හා ඩයිනමෝවකට මෝටරයක් සම්බන්ධ කළ විට එය ක්‍රියා කරන ආකාරය සෙවීම සඳහා 3.13 ක්‍රියාකාරකමෙහි යෙදෙමු.

### ක්‍රියාකාරකම 3.13

අවශ්‍ය ද්‍රව්‍ය - වියළි කෝෂයක්, කුඩා සුළං පෙත්තක්, සම්බන්ධක වයර, බයිසිකල් ඩයිනමෝව

**ක්‍රමය** -

- 3.20 රූප සටහනේ දක්වෙන පරිදි වියළි කෝෂය සරල ධාරා මෝටරයකට සවි කරන්න. මෝටරයට කුඩා සුළං පෙත්ත සවි කරන්න.
- නිරීක්ෂණ සටහන් කරන්න.
- වියළි කෝෂ ඉවත්කර ඒ වෙනුවට ඩයිනමෝව සම්බන්ධ කර ඩයිනමෝව කරකවන්න.
- නිරීක්ෂණ සටහන් කරන්න.




3.20 රූපය

වියළි කෝෂ සම්බන්ධකර ඇතිවිට සුළං පෙත්ත භ්‍රමණය වන බවත් ඩයිනමෝව සම්බන්ධ කර ඇතිවිට සුළං පෙත්ත කම්පනය වීමක් පමණක් සිදුවන බවත් නිරීක්ෂණය කළ හැකි ය.

## ක්‍රියාකාරකම 3.14

අවශ්‍ය ද්‍රව්‍ය - වියළි කෝෂ 2ක්, LED 2ක් (වර්ණ 2කින්) මැද බින්දු මිලි ඇමීටරයක්, සම්බන්ධක වයර, බයිසිකල් ඩයිනමෝවක්

ක්‍රමය - • රූප සටහනෙහි දක්වෙන LED දෙක (+) හා (-) අග්‍ර විරුද්ධ වන ලෙස සම්බන්ධ කරන්න. ඇමීටරයට එය සම්බන්ධ කරන්න.

- ඇටවුමෙහි X හා Y ස්ථානවලට වියළි කෝෂ සම්බන්ධ කරන්න.
- නිරීක්ෂණ සටහන් කරන්න.
- වියළි කෝෂවල අග්‍ර මාරුකර නැවත සම්බන්ධ කරන්න.
- නිරීක්ෂණ සටහන් කරන්න.
- වියළි කෝෂ ඉවත්කර X හා Y අග්‍ර සඳහා ඩයිනමෝව සම්බන්ධ කරන්න.
- ඩයිනමෝව කරකැවීමේ දී දැකිය හැකි නිරීක්ෂණ සටහන් කරන්න.
- ඔබේ නිරීක්ෂණ ඇසුරින් ලබාගත හැකි නිගමන සාකච්ඡා කරන්න.




3.21 රූපය

ක්‍රියාකාරකම 3.14 ඇසුරින් පහත ගැටලුවලට පිළිතුරු සාකච්ඡා කරන්න.

1. වියළි කෝෂ සම්බන්ධ කර ඇති සෑම විටම එක් බල්බයක් පමණක් දැල්වීම හා මිලි ඇමීටරයේ කටුව එක් දිශාවකට පමණක් ගමන් කිරීමට හේතුව කුමක් ද ?
2. ඩයිනමෝව කරකැවීමේ දී LED දෙක මාරුවෙන් මාරුවට දැල්වීම හා මිලි ඇමීටරයේ කටුව චලනය වන දිශාව වරින් වර වෙනස් වීමට හේතුව සාකච්ඡා කරන්න.

වියළි කෝෂ සම්බන්ධ කර ඇති විට ධාරාව ගලා ගොස් ඇත්තේ එක් දිශාවකට පමණි. ඩයිනමෝව කරකැවීමේ දී ධාරාව ගලා යන දිශාව වරින්වර වෙනස් වී ඇත.

- එකම දිශාවට ගලන ධාරාවක් සරල ධාරාවක් (Direct Current/ D.C) ලෙස හැඳින්වේ.
- සියලු ම විදුලි කෝෂ හා බැටරි වර්ග මගින් නිපදවනුයේ සරල ධාරාවකි.
- ධාරාව ගලන දිශාව වරින් වර වෙනස් වේ නම් එය ප්‍රත්‍යාවර්තක ධාරාව (Alternating Current/ A.C) ලෙස හැඳින්වේ.
- බොහොමයක් ඩයිනමෝ හා විදුලි ජනක යන්ත්‍ර මගින් ප්‍රත්‍යාවර්තක ධාරාවක් නිපදවයි.

ධාරාව ගලන දිශාව හඳුනා ගැනීමට මැද බින්දු ඇමීටරයක් හෝ ගැල්වනෝමීටරයක් භාවිත කළ හැකි ය.

## අමතර දැනුමට

සරල ධාරාව හා ප්‍රත්‍යාවර්තක ධාරාව, කාලයත් සමග ප්‍රස්තාරගත කළ විට ලැබෙන ප්‍රස්තාරයේ රටාව පහත දැක් වේ.




(අ) ප්‍රස්තාරය




(ආ) ප්‍රස්තාරය

## සාරාංශය

- එදිනෙදා ජීවිතයේ දී විදුලිය ලබා ගැනීමට විවිධ ආකාරයේ විද්‍යුත් ප්‍රභව භාවිත කරයි. ඒවා ප්‍රධාන වශයෙන් රසායනික කෝෂ/ බැටරි, ඩයිනමෝ හා සූර්ය කෝෂ ලෙස දැක්විය හැකි ය.
- සරල කෝෂ, වියළි කෝෂ, ක්ෂාර කෝෂ ආදිය රසායනික කෝෂ සඳහා නිදසුන් වේ.

- කෝෂ කිහිපයක් එකිනෙකට නිවැරදිව සම්බන්ධ කර ගැනීමෙන් බැටරියක් සාදා ගනු ලැබේ.
- තනි කෝෂයකට වඩා වැඩි ධාරාවක් බැටරියක් මගින් ලබාගත හැකි ය.
- විදුලි කෝෂයක අග්‍ර, (+) සහ (-) ලෙස නම් කරයි. ධාරාව ගැලීම සිදුවන්නේ (+) අග්‍රයේ සිට (-) අග්‍රය දක්වා ය.
- ඩයිනමෝව තුළ චුම්බකයක් හා සන්නායක දඟරයක් පවතී.
- ඩයිනමෝව තුළ ධාරාව උත්පාදනය වනුයේ විද්‍යුත් චුම්බක ප්‍රේරණය නම් මූලධර්මයට අනුව ය.
- පාපැදිවල, මොටර් රථවල, විදුලි ජනක යන්ත්‍ර හා ජල විදුලි බලාගාර තුළ ද විවිධ ආකාරයේ ඩයිනමෝ යොදා ගනී.
- එකම දිශාවට ගලන ධාරාව සරල ධාරාවක් ලෙස ද, කාලයත් සමග දිශාව වෙනස් කරමින් ගලන ධාරාව, ප්‍රත්‍යාවර්තක ධාරාව ලෙස ද හැඳින්වේ.
- විද්‍යුත් කෝෂ මගින් ලබා දෙනුයේ සරල ධාරාවක් වන අතර ඩයිනමෝ මගින් ප්‍රත්‍යාවර්තක ධාරාවක් නිපදවයි.
- භාවිතයෙන් ඉවත් කළ රසායනික කෝෂ මිනිසා ඇතුළු පරිසරයට විෂ සහිත වේ. ඒවා නිසි පරිදි බැහැර කළ යුතු වේ.

## අභ්‍යාස

1. එක්තරා ශිෂ්‍යයකු විසින් සමාන ප්‍රමාණයේ කොපර් සහ සින්ක් කැබලි තබා ඒවා අතරට තනුක සල්ෆියුරික් අම්ලයෙන් පොඟවන ලද කඩදාසි කැබැල්ලක් තබන ලදි. (තහඩු එකිනෙක නොගැටෙන සේ) තහඩු දෙකෙළවර වයර් කැබලි සවිකර ඇත. ඔහු සැකසූ ඇටවුම පහත පරිදි වේ.



i. මෙම ඇටවුමට නමක් දක්වන්න.
ii. මෙහි (+) හා (-) අග්‍ර නම් කරන්න
iii. A හා B දෙකෙළවරට මෝටරයක් සම්බන්ධ කළ විට කුමක් නිරීක්ෂණය කළ හැකි ද ? ඒ සඳහා හේතුව ද දක්වන්න.
iv. මෙම ඇටවුමෙන් ලැබෙනුයේ සරල ධාරාවක් ද ? ප්‍රත්‍යාවර්තක ධාරාවක් ද?
v. ඉහත (iv) හි පිළිතුර තහවුරු කර ගැනීම සඳහා සිදු කළ හැකි සරල පරීක්ෂණයක් කෙටියෙන් දක්වන්න.
vi. ඉහත ඇටවුම සඳහා යොදා ගත හැකි සංකේතය ඇඳ දක්වන්න.

2.

i. විදුලි අර්බුදය සඳහා විසඳුමක් ලෙස භාවිත කළ හැකි විද්‍යුත් ප්‍රභව තුනක් සඳහන් කරන්න.
ii. අප නිවෙස් සඳහා ලැබෙන ප්‍රධාන විදුලිය සරල ධාරාවක් ද ප්‍රත්‍යාවර්තක ධාරාවක් ද ?
iii. විද්‍යුත් ප්‍රභව සම්බන්ධයෙන් පහත වගුව සම්පූර්ණ කරන්න.

| | අවස්ථාව | ප්‍රභවය | ක්‍රියාත්මක කරවීමට සපයන ධාරාව | |
|---|---|---|---|---|
| | | | සරල ධාරාවකි | ප්‍රත්‍යාවර්තක ධාරාවකි |
| 1 | පා පැදියක ලාම්පුව දැල්වීම | ඩයිනමෝව | | ✓ |
| 2 | විදුලියෙන් බිත්ති ඔරලෝසුවක් ක්‍රියා කිරීම | | | |
| 3 | ජල විදුලි බලාගාරයක විදුලිය නිපදවීම | | | |
| 4 | ආලෝකය වැටුණු විට ගණක යන්ත්‍රයක් (Calculator) ක්‍රියා කිරීම | | | |
| 5 | කාරයක් පණ ගැන්වීම | | | |

## පාරිභාෂික වචන

| | | | |
|---|---|---|---|
| කෝෂය | - Cell | බල්බ ධාරකය | - Bulb Holder |
| බැටරිය | - Battery | විදුලි ජනක යන්ත්‍රය | - Electric Generator |
| ඩයිනමෝව | - Dynamo | සරල ධාරාව | - Direct Current(D.C) |
| සූර්ය කෝෂය | - Solar Cell | ප්‍රත්‍යාවර්තක ධාරාව | - Alternating Current (A.C) |
| දඟරය | - Coil | විද්‍යුත් චුම්බක ප්‍රේරණය | - Electro Magnetic Induction |
| විද්‍යුත් ධාරාව | - Electric Current | | |

# 04 ජලයේ කාර්ය

## 4.1 ජලය ද්‍රාවකයක් ලෙස

සාගර ජලය ලුණු රස වූයේ ඇයි? එහි විවිධ ලවණ වර්ග දියවීම ඊට හේතුවයි. සියලුම ජීවීන්ට ශ්වසනය සඳහා ඔක්සිජන් අවශ්‍ය වේ. මත්ස්‍යයින් එම අවශ්‍යතාව සපුරා ගන්නේ ජලයේ දියවී ඇති ඔක්සිජන්වලිනි. මෙම සංසිද්ධි හා සම්බන්ධ වන ජලය සතු සුවිශේෂී ගුණාංගයක් ඇත. එම ගුණාංගය ජලයේ **ද්‍රාවක ගුණය** ලෙස හඳුන්වයි.



4.1 රූපය ▲ සාගර ජලය



4.2 රූපය ▲ ජලයේ ජීවත් වන මත්ස්‍යයින්

ජලයේ ද්‍රාවක ගුණය පිළිබඳව සොයා බැලීමට පහත සඳහන් ක්‍රියාකාරකමෙහි නිරතවෙමු.

**ක්‍රියාකාරකම 4.1**

විවිධ ද්‍රව්‍ය ජලයේ දියවන ආකාරය පිළිබඳ සොයා බැලීමට පහත ක්‍රියාකාරකමෙහි නිරත වෙමු.

වගුවෙහි සඳහන් ද්‍රව්‍ය සමාන ප්‍රමාණය බැගින් ගන්න. වෙන වෙන ම පරීක්ෂා නළවලට දමා 5 ml පමණ වූ ජල ප්‍රමාණයක දිය කරන්න. දිය වීම සම්බන්ධයෙන් නිරීක්ෂණ පහත ආකාර වගුවක සටහන් කරන්න.

4.1 වගුව

| ද්‍රව්‍යය | නිරීක්ෂණ |
|---|---|
| සුදු සීනි | දමන ලද සීනි කැට නොපෙනී යයි. සෑදෙන ද්‍රාවණය අවර්ණ ය. |
| ග්ලූකෝස් | |
| කොන්ඩිස් කැට | |
| ශල්‍ය ස්ප්‍රිතු | |
| පොල් තෙල් | |
| නිල් කුඩු | |
| ඉටි | |
| භූමිතෙල් | |
| ලුණු | |
| විනාකිරි | |
| කහ කුඩු | |
| කපුරු බෝල | |
| ආප්ප සෝඩා | |

ඉහත වගුවේ ඇති බොහෝ ද්‍රව්‍ය ජලයේ හොඳින් දිය වේ. ඇතැම් ද්‍රව්‍ය ජලයේ මඳ වශයෙන් දිය වේ. තවත් සමහරක් ද්‍රව්‍ය ජලයේ දිය නොවේ. ඉහත අප පරීක්ෂා කළේ ඝන හා ද්‍රව තත්ත්වයේ පවතින ද්‍රව්‍යවල ජලයේ දියවීම පිළිබඳවයි. වායු වර්ග ජලයේ දියවේ ද? මේ පිළිබඳව සොයා බැලීමට පහත පැවරුමෙහි නිරත වෙමු.

**පැවරුම 4.1**

- වාතය (ඔක්සිජන් ) බුබුලනය කරනු ලබන මාළු ටැංකියක වායු සැපයුම ඇති විට මත්ස්‍යයින් වැඩිපුර ගැවසෙන ස්ථාන මොනවාදැයි සොයා බලා වාර්තා කරන්න.
- වායු සැපයුම නතර කොට ටික වේලාවක් තැබූ විට මත්ස්‍යයින් වැඩිපුර ගැවසෙන ස්ථාන මොනවාදැයි සොයා බලා වාර්තා කරන්න.

ඔක්සිජන්, කාබන් ඩයොක්සයිඩ් වැනි වායු ජලයේ දිය වේ. මත්ස්‍යයින් ජලයේ දියවුණු ඔක්සිජන් ශ්වසනය සඳහා භාවිත කරයි.

බොහෝ ද්‍රව්‍ය ජලයේ දියවන බැවින් ජලය ඉතා හොඳ ද්‍රාවකයකි. ජලය ද්‍රාවකයක් වීම නිසා අපිට විවිධ දෑ දියකර ගත හැකි ය. එසේ ම ජලයේ දිය වී ඇති දෑ ජලයෙන් වෙන් කරගත හැකි ය. එමගින් එදිනෙදා ජීවිතයේ දී මෙන්ම කර්මාන්තවල දී ද අපට බොහෝ ප්‍රයෝජන ලබා ගත හැකි ය.

ජලයේ විවිධ ද්‍රව්‍ය දියවීමේ ගුණය දවස ආරම්භයේ සිට එදිනෙදා කටයුතු සඳහා ඔබට කෙතරම් ප්‍රයෝජනවත් වූවාදැයි සිතා බලන්න.

ජලයේ දියවීමේ ගුණය පිළිබඳව තොරතුරු සොයා බැලීමට 4.2 පැවරුමෙහි යෙදෙමු.



**පැවරුම 4.2**

- ජල සැපයුම නොමැති දිනයක මුළුතැන්ගෙයි මුහුණදීමට සිදුවන අපහසුතා ලැයිස්තුවක් පිළියෙල කරන්න.
- ජලගත වගාවකට (පස් රහිත) අවශ්‍ය පෝෂක සපයා ඇති ආකාරය පිළිබඳ සොයා බලා වාර්තා කරන්න.

ජලයේ ද්‍රාවක ගුණය අපට විවිධ වූ කාර්ය ඉටුකර ගැනීමටත්, ජලජ ජීවීන්ට ජීවත් වීමටත්, ශාක වර්ධනයටත් උපකාරී වන බව ඔබට අවබෝධ වන්නට ඇත.

එදිනෙදා ජීවිතයේ දී ජලයේ ද්‍රාවක ගුණය ප්‍රයෝජනයට ගන්නා අවස්ථා කිහිපයක් විමසා බලමු.

- සීනි, රසකාරක හා වර්ණක ජලයේ දියකර ගැනීම මගින් පාන වර්ග සෑදීම
- ආහාර රසවත් කිරීමට ලුණු හා රසකාරක ජලයේ දියකර ගැනීම
- කෘත්‍රිම විනාකිරි, බැටරි ඇසිඩ් ආදිය පිළියෙල කර ගැනීම සඳහා සාන්ද්‍ර අම්ල ජලයෙහි දිය කර ගැනීම
- ඖෂධ වර්ග ජලයේ දියකර ගැනීම
- සෞඛ්‍ය කටයුතුවල දී සේලයින්, එන්නත් වැනි දෑ නිපදවීමේ දී
- ඔක්සිජන් ජලයේ දියවී තිබීම නිසා ජලජ ජීවීන්ට ශ්වසනයට අවශ්‍ය ඔක්සිජන් ජලයෙන් ලබා ගත හැකි වීම
- සිරුරේ හා රෙදිපිළිවල තැවරුණු දෑ සෝදා හැරීම
- අලංකරණ කටයුතු සඳහා වර්ණ ගැන්වූ ජලය යොදා ගැනීම

## පැවරුම 4.3

ද්‍රාවකයක් ලෙස ජලය භාවිත වන වෙනත් අවස්ථා ලැයිස්තුවක් පිළියෙල කරන්න.

## අමතර දැනුමට

- බැටරි ඇසිඩ් ලෙස හඳුන්වන්නේ ජලය සමඟ මිශ්‍ර කර තනුක කරන ලද සාන්ද්‍ර සල්ෆියුරික් අම්ලය යි.
- කෘත්‍රිම විනාකිරි ලෙස හඳුන්වන්නේ ජලය සමඟ මිශ්‍රකර සකසා ගත් ඇසිටික් අම්ලය යි.
- නියමිත ප්‍රමිතියට සැකසූ ජලීය සෝඩියම් ක්ලෝරයිඩ් (ලුණු) ද්‍රාවණයක් සේලයින් වර්ගයක් ලෙස යොදා ගනු ලබයි.

## පැවරුම 4.4

- විවිධ වර්ණයෙන් යුතු සායම් (ඩයි වර්ග) ඉතා ස්වල්ප ප්‍රමාණයක් බැගින් ජලයේ දිය කර වර්ණවත් ද්‍රාවණ කිහිපයක් සකසන්න.
- ඒවා විවිධ හැඩති වීදුරු බඳුන්වලට දමන්න.
- එවැනි වර්ණවත් ද්‍රාවණ එදිනෙදා ජීවිතයේ දී යොදා ගන්නා අවස්ථා ලැයිස්තුවක් පිළියෙල කරන්න.



4.3 රූපය

## පැවරුම 4.5

- විවිධ පැණි බීම වර්ගවල ලේබල් එකතු කරන්න.
- ඒවා සැකසීමේ දී ජලයේ දියකර ඇති විවිධ ද්‍රව්‍ය මොනවාදැයි සොයා බලන්න.
- එම ද්‍රව්‍යවල ලේඛනයක් සකසන්න.

## ජලයේ දියවී ඇති දෑ වෙන් කර ගැනීම ප්‍රයෝජනවත් වන අවස්ථා

### ක්‍රියාකාරකම 4.2

අවශ්‍ය ද්‍රව්‍ය :- ලුණු ද්‍රාවණයක්, වයින් ස්ප්‍රීතු ලාම්පුවක්, ඉටිපන්දමක්, ටින් පියනක්

- ලුණු ද්‍රාවණ ස්වල්පයක් ටින් පියන මත තබා රත් කරන්න.

රත් කිරීම සඳහා රූපයේ දක්වෙන තෙපාව සහ ස්ප්‍රිතු ලාම්පුවක් හෝ පතුලේ කවුළුවක් සහිත, භාවිතයෙන් ඉවත් කළ කිරිපිටි පෙට්ටියක් හා දල්වන ලද ඉටිපන්දම හෝ භාවිත කරන්න.


4.4 ▲ රූපය

- නිරීක්ෂණ සටහන් කරන්න.

ටින් පියන මත සුදු කුඩක් ලෙස ලුණු තැන්පත් වී ඇති අයුරු නිරීක්ෂණය කළ හැකි ය.

ඇළ, දොළ, ගංගා ආදිය ගොඩබිම සිට මුහුදට ගලා යන විට පොළොවෙහි ඇති විවිධ ලවණ වර්ග ජලයේ දිය වේ. ඉතා දිගු කාලයක් තිස්සේ මෙසේ එකතු වූ ලවණ නිසා මුහුදු ජලය ලුණු රස වී ඇත. මුහුදු ජලයේ වැඩිපුරම දිය වී ඇති ලවණය වන්නේ සෝඩියම් ක්ලෝරයිඩ් ය. ලුණු ලේවායක දී සූර්ය තාපයෙන් මුහුදු ජලය වාෂ්ප කිරීමෙන් ලුණු හෙවත් සෝඩියම් ක්ලෝරයිඩ් වෙන් කර ගැනීම සිදු කරයි.


4.5 රූපය ▲ ලුණු ලේවායක්


4.6 රූපය ▲ උක් ශාකයක්

උක් ශාකයේ යුෂයෙහි ඇත්තේ ජලයේ දිය වූ සුක්රෝස් නම් සීනි වර්ගයයි. උක් යුෂයෙහි ඇති ජලය ඉවත් කිරීමෙන් සීනි නිපදවා ගනු ලබයි.

පොල් ශාකයේ මලෙන් සීනි ද්‍රාවණයක් ලබා ගත හැකි ය. එම දියරය මී රා ලෙසින් හඳුන්වනු ලබයි. මීරාවල ඇති ජලය කොටසක් වාෂ්ප කිරීමෙන් පැණි ද ජලය සම්පූර්ණයෙන් ම වාෂ්ප කිරීමෙන් හකුරු ද නිපදවනු ලබයි. තල් හා කිතුල් ශාකවලින් ද මෙසේ පැණි සහ හකුරු ලබා ගත හැකි ය.



4.7 රූපය ▲ පොල් මලෙන් මීරා ලබා ගැනීම

**පැවරුම 4.6**

ද්‍රාවකයක් ලෙස ජලයේ භාවිත විදහා දැක්වීම සඳහා පෝස්ටරයක් නිර්මාණය කරන්න.

## 4.2 ජලය සිසිලන කාරකයක් ලෙස

උණුසුම් වේලාවට මී හරකුන් වැනි සතුන් ජලයේ ලැග සිටිනවා ඔබ දැක ඇත. දහදිය දමූ විටෙක මුහුණ, අතපය ඇල් ජලයෙන් සෝදා ගැනීමෙන් සිරුරට සිසිලසක් ලැබෙන බව ඔබ අත්දැකීමෙන් දනියි. එම අවස්ථාවල දී සිරුර සිසිල් කිරීමට ජලයට හැකියාවක් ලැබුණේ කෙසේ ද?

ජලයට බොහෝ තාප ප්‍රමාණයක් දරා ගත හැකි ය.

මෙසේ ජලයට තාපය ලබා ගැනීමෙන් බාහිර වස්තුවක තිබූ තාපය අඩු කිරීමට හැකි ය. මෙය ජලයේ **සිසිලනකාරක ගුණය** ලෙස හැඳින්වේ. සිසිලනකාරක ගුණය නිසා ජලයට සිසිලනකාරකයක් ලෙස ක්‍රියා කළ හැකි ය.

ජලයේ සිසිලනකාරක ගුණය පරීක්ෂා කිරීමට පහත සඳහන් ක්‍රියාකාරකමෙහි නිරත වෙමු.

**ක්‍රියාකාරකම 4.3**

**ජලයේ සිසිලනකාරක ගුණය පරීක්ෂා කිරීම**

අවශ්‍ය ද්‍රව්‍ය:- බීකර දෙකක්, පුළුන්, උෂ්ණත්වමාන දෙකක්

- එක සමාන බීකර දෙකක් සපයා ගන්න. බීකර දෙකට ම එක සමාන පුළුන් ප්‍රමාණයක් එකතු කරන්න.



4.8 රූපය ▲

- රූප සටහනේ (රූපය 4.8) පෙනෙන පරිදි පුළුන් අතර උෂ්ණත්වමාන රඳවා උෂ්ණත්වමානවල පාඨාංක සටහන් කර ගන්න.
- එක් බීකරයක ඇති පුළුන් ජලයෙන් තෙත් කර ටික වේලාවක් තබන්න.
- නැවත උෂ්ණත්වමානවල පාඨාංක සටහන් කරන්න.
- ආරම්භක පාඨාංක සමග පසු පාඨාංක සංසන්දනය කරන්න.

ජලයෙන් තෙත් කළ පුළුන් සහිත උෂ්ණත්වමානයේ පාඨාංකය පහළ ගොස් ඇති බව නිරීක්ෂණය කළ හැකි ය.

**ජලයේ සිසිලනකාරක ගුණය ප්‍රයෝජනවත්වන අවස්ථා**




4.9 ▲ රූපය

- වාහනයක් ගමන් කරන්නේ ඉන්ධන දහනය කිරීමෙන් ලබා ගන්නා ශක්තිය මගිනි. එවිට එන්ජිම අධික උෂ්ණත්වයකට රත්වී එහි ක්‍රියාකාරිත්වය ඇන හිටියි. එන්ජිමේ තාපය එයට සම්බන්ධ විකිරකයකට (Radiator) දමා ඇති ජලය හෝ කූලන්ට් (Coolant) මගින් ලබා ගැනීම නිසා එන්ජිම අධික ලෙස රත්වීම පාලනය වේ (4.9 රූපය).
- කර්මාන්තශාලාවල විවිධ යන්ත්‍ර ක්‍රියාකරන විට තාපය නිපදවේ. ජලය භාවිතයෙන් එම තාපය ඉවත් කර ගත හැකි වේ. මේ සඳහා වැදගත් වන්නේ ද ජලයේ සිසිලනකාරක ගුණයයි.

**පැවරුම 4.7**

සිසිලනකාරකයක් ලෙස ජලය භාවිත වන වෙනත් අවස්ථා ලැයිස්තුවක් පිළියෙල කරන්න.

## 4.3 ජලය ජීවයේ මාධ්‍යයක් ලෙස



4.10 රූපය ▲

ජලයේ පිහිනමින් සිටින මත්ස්‍යයකු ජලයෙන් ඉවතට ගෙන තැබුවහොත් මත්ස්‍යයාට තව දුරටත් ජීවය පවත්වා ගැනීමට හැකිවේ ද?

මත්ස්‍යයා ටික වේලාවකින් මිය යනු ඇත. ඊට හේතුව කුමක් විය හැකි ද ?

මත්ස්‍යයින් ශ්වසනයට අවශ්‍ය ඔක්සිජන් වායුව ලබා ගන්නේ ජලයේ දියවී ඇති ඔක්සිජන්වලිනි. ඔක්සිජන් දිය වූ ජලය කරමල් හරහා ගමන් කරන විට රුධිර නාළ තුළට ඔක්සිජන් ඇතුළු කර ගනු ලබයි.

ජලය නොමැති වුවහොත් මත්ස්‍යයින්ට ඔක්සිජන් ලබා ගත නොහැකි වනු ඇත. නියං සමයේ දී ජලය සිඳීයාමෙන් දහස් ගණන් මත්ස්‍යයින්ට තම ජීවය අහිමි වේ.

- ජලජ ජීවීන්ට තම ජීවිතය පවත්වා ගැනීමේ මාධ්‍යයක් ලෙස ජලය වැදගත් වේ. ජලයේ ජීවත් වන මත්ස්‍යයින් (තිලාපියා, කෙළවල්ලා) ක්ෂීරපායීන් (තල්මසුන්, ඩොල්ෆින්) උරගයින් (කැස්බෑවා, ඉදිබුවා, දියබරියා) සහ උභයජීවීන් (මැඩියා) මේ සඳහා නිදසුන් වේ.
- ශීත කාලවල දී අයිස් මිදුන ද ජලාශවල අයිස් තට්ටු ජලය මත පාවී තිබෙමින් ඊට පහළින් වූ ජලය ද්‍රව අවස්ථාවේම පවතී. එනිසා ජීවීන්ට ජීවත්වීමට තිබූ මාධ්‍ය අහිමි නොවේ.

ශීත රටවල අයිස් මිදුන ජලාශවල අයිස් තට්ටුව සිදුරු කර මාළු අල්ලා ගනු ලබයි.

ජලය ජලජ ජීවීන්ට ජීවත්වීමට මාධ්‍යයක් වූවාසේම, ජලයේ ජීවත් වන හා නොවන සියලු ජීවීන්ගේ ද සිරුර තුළ සිදුවන ජීව ක්‍රියා සඳහා මාධ්‍යයක් ලෙස ක්‍රියා කරයි.


4.11 රූපය ▲ අයිස් තට්ටු සිදුරුකර මාළු ඇල්ලීම

අප ගන්නා ආහාර ජීරණයෙන් සෑදෙන ග්ලූකෝස් සෛල තුළ දී ඔක්සිජන් සමඟ ප්‍රතික්‍රියා කර ශක්තිය නිපදවීම ඇතුළු මිනිස් සිරුර තුළ සිදුවන තවත් රසායනික ප්‍රතික්‍රියා ගණනාවක් ම සිදුවන්නේ ජලීය මාධ්‍යයක දී ය.

- ආහාර ජීරණයෙන් සිරුරට උරා ගන්නා පෝෂක, සෛල දක්වා පරිවහනය කරන්නේ රුධිරයෙහි දියවීමෙන් ය. එහිදී ද පරිවහනය සිදුවන්නේ ජලීය මාධ්‍යයක දී ය.
- විටමින්, ඛණිජ ලවණ, ඖෂධ වැනි දෑ අප සිරුරේ අවශ්‍ය ස්ථානවලට පරිවහනය කරන්නේත් රුධිරයෙහි වූ ජලය මාධ්‍යයක් ලෙස යොදා ගනිමින් ය.
- සිරුරේ සෛල තුළ නිපදවෙන යූරියා වැනි බහිස්ස්‍රාවීය ද්‍රව්‍ය නිපදවන ස්ථානවල සිට බැහැර කරන අවයව දක්වා පරිවහනය කිරීම සිදු කරන්නේ රුධිරය මගින් ජලීය මාධ්‍යයක ය.

**අමතර දැනුමට**

- සිරුරට වැඩිපුර ගන්නා ප්‍රෝටීන් වියෝජනය වීමෙන් අක්මාවේ දී යූරියා නිපද වේ.
- එම යූරියා ප්‍රධාන වශයෙන් බැහැර කෙරෙන්නේ ජලීය මාධ්‍යයක් වන මූත්‍ර ලෙස ය. දහදිය මගින් ද යූරියා සුළු ප්‍රමාණයක් බැහැර වේ.

ඒ අනුව ජීවයේ පැවැත්මට අත්‍යවශ්‍ය ම වූ ද්‍රව්‍යයක් ලෙස ජලයට හිමිවන්නේ සුවිශේෂී ස්ථානයකි.

**පැවරුම 4.8**

ජලය ජීවිතය පවත්වා ගැනීමට ජලය මාධ්‍යයක් කරගන්නා ජීවීන් ශාක, සතුන් හා ක්ෂුද්‍ර ජීවීන් ලෙස වර්ග කර බිත්ති පුවත්පතට නිර්මාණයක් සකස් කරන්න.

**පැවරුම 4.9**

මාධ්‍යයක් ලෙස ජලයේ භාවිත විදහා දක්වීම සඳහා පෝස්ටරයක් නිර්මාණය කරන්න.

**සාරාංශය**

- ජලය මගින් විවිධ කාර්ය ඉටු කෙරෙන අතර ද්‍රාවකයක් ලෙස, සිසිලන කාරකයක් ලෙස හා මාධ්‍යයක් ලෙස ඉටු කෙරෙන කාර්ය ඉන් ප්‍රධාන තැනක් ගනියි.
- ද්‍රව්‍ය දියකර ගැනීමටත්, ජලයේ දියවූ ද්‍රව්‍යය වෙන් කර ගැනීමටත් ජලයේ ද්‍රාවක ගුණය වැදගත් වේ.
- ජීවී දේහ තුළ සිදුවන ක්‍රියාවලින් තාපය නිපදවේ. යන්ත්‍ර ක්‍රියාකරන විට තාපය නිපදවේ. ජලය භාවිතයෙන් එම තාපය ඉවත් කර ගත හැකි වේ. මේ සඳහා වැදගත් වන්නේ ජලයේ සිසිලනකාරක ගුණයයි.
- ජලරුහ ජීවීන්ට ජලය ජීවත්වීමට අවශ්‍ය මාධ්‍යයකි.
- සියලුම ජීවීන්ට ජීවක්‍රියා පවත්වා ගැනීමට ජලය අත්‍යවශ්‍ය මාධ්‍යයකි.

## අභ්‍යාසය

1) පහත ප්‍රශ්න සඳහා දී ඇති පිළිතුරු අතුරින් නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ පිළිතුර තෝරන්න.

01. ජලයේ වඩාත් හොඳින් දියවන ද්‍රව්‍යයක් වන්නේ පහත ඒවායින් කුමක් ද?
   1. නිල් කුඩු 2. ලුණු කුඩු 3. වැලි 4. පොල් තෙල්

02. වාහන එන්ජිම සිසිල් කිරීමට ජලය යොදා ගනු ලබන්නේ ජලය කුමන කාර්යයක් ඉටු කරන නිසා ද?
   1. ද්‍රාවකයක් ලෙස 2. මාධ්‍යයක් ලෙස
   3. සිසිලනකාරකයක් ලෙස 4. පරිවාරකයක් ලෙස

2) සුදුසු වචන යොදා හිස්තැන් සම්පූර්ණ කරන්න.

01. මුහුදු ජලය ලුණු රස වී ඇත්තේ ..............................................දියවීම නිසා ය.

02. මුහුදු ජලය වාෂ්පීභවනය වීමට ඉඩ හැරීමෙන් ................................ ................................................ ලබා ගත හැකි ය.

03. ශාකවලට ඛනිජ ලවණ උරා ගැනීම පහසු කරවන්නේ ජලයේ පවත්නා ......................................... ගුණයයි.

04. අයිස් කැටයක් අතට ගත්විට සිසිලසක් දැනෙන්නේ .......................... ....................... න් ..............................................................ට තාපය ගලා යාම නිසා ය.

05. මිනිස් සිරුර තුළ සිදුවන ජීව ක්‍රියාවලට මාධ්‍යයක් ලෙස ක්‍රියා කරන්නේ .............................. යි.

## පාරිභාෂික වචන

| | | |
|---|---|---|
| ද්‍රාවකය | - | Solvent |
| ද්‍රාවණය | - | Solution |
| ද්‍රාව්‍යය | - | Solute |
| සිසිලනකාරකය | - | Coolant |
| මාධ්‍යය | - | Medium |

# 05 අම්ල හා භස්ම

## 5.1 අම්ල හා භස්ම හඳුනා ගැනීම

ඔබ ආහාරයට ගන්නා විවිධ පලතුරු වර්ග විවිධ රසයෙන් යුක්ත වනුයේ ඇයි කියා ඔබ සිතා ඇති ද?



5.1 රූපය ▲ විවිධ පලතුරු වර්ග

ඒවායේ විවිධ රසවලට හේතු වන්නේ එම පලතුරු තුළ අඩංගු වන විවිධ රසායනික සංයෝග බව ඔබ දන්නවා ද? දොඩම්, නාරං, සියඹලා, අන්නාසි වැනි බොහෝ පලතුරුවල ඇඹුල් රසයක් ඇති බව ඔබ අත්දැකීමෙන් දනී. ආහාර රසවත් කිරීමට යොදා ගන්නා විනාකිරි ද, දෙහි, බිලිං තක්කාලි වැනි දේවල් ද ඇඹුල් රස ය. ඒවායේ ඇඹුල් රසට හේතුව **අම්ල** ලෙස හැඳින්වෙන රසායන ද්‍රව්‍යයක් ඒවා තුළ අන්තර්ගත වීමයි.

මී මැස්සකු දෂ්ට කළ විට ආප්ප සෝඩා ආලේප කරයි. ආමාශයේ ඇතිවන ගැස්ට්‍රයිටිස් හෙවත් බඩේ දැවිල්ලට, මිල්ක් ඔෆ් මැග්නීසියා පෙති විකා ගිලියි. පසෙහි ආම්ලිකතාව අඩුකිරීමට පසට හුනු එකතු කරයි. අම්ල නිසා ඇතිවන අහිතකර තත්ත්ව සමනය කිරීමට හුනු, ආප්පසෝඩා, මිල්ක් ඔෆ් මැග්නීසියා යොදා ගත හැකි වූයේ ඒවායේ අඩංගු **භස්ම** ලෙස හැඳින්වෙන රසායනික ද්‍රව්‍යයක් නිසා ය. සබන් වැනි ලිස්සන සුළු ස්වභාවයකින් යුක්ත වීම භස්මවල ලක්ෂණයකි.

ජලය, මද්‍යසාර, ලුණු ද්‍රාවණය, භූමිතෙල් වැනි දේවල් අම්ල හෝ භෂ්මවල ගුණ නොදක්වයි. එවැනි ද්‍රව්‍ය **උදාසීන ද්‍රව්‍ය** ලෙස හඳුන්වනු ලබයි.

## 5.2 නිවසේ හා පාසල් විද්‍යාගාරයේ ඇති අම්ල හා භස්ම

නිවෙස්වල භාවිත කරන බොහෝ ද්‍රව්‍ය මෙන් ම විද්‍යාගාරයේ භාවිත කරන රසායනික සංයෝග ද ඒවායේ ගුණ අනුව අම්ල, භස්ම හා උදාසීන ද්‍රව්‍ය ලෙස වර්ග කර දැක්විය හැකි ය.
අප ඉහත අම්ල, භස්ම හා උදසීන ද්‍රව්‍ය සඳහා සලකා බැලූ ද්‍රව්‍ය වෙන්කර හඳුනා ගැනීමට පහත දැක්වෙන ක්‍රියාකාරකමෙහි නිරත වෙමු.

### ක්‍රියාකාරකම 5.1

**අවශ්‍ය ද්‍රව්‍ය :-** පොකුරු වදමල් තැම්බූ ජලය, දෙහි යුෂ, විනාකිරි, සබන් දියර, හුනු දියර, අළු දිය කළ ජලය, ලුණු ද්‍රාවණය, ජලය



5.2 රූපය ▲ පොකුරු වද පුෂ්පයක්

**ක්‍රමය :-**

- පොකුරු වද මල් ජලයේ තම්බා ද්‍රාවණයක් පිළියෙල කරන්න.
- පහත වගුවේ සඳහන් ජලීය ද්‍රාවණවල සමාන පරිමා (2 ml පමණ) වෙන වෙනම පරීක්ෂා නළවලට දමන්න.
- වදමල් යුෂ තම්බා සාදගත් ද්‍රාවණයේ බිංදු දෙක බැගින් එම පරීක්ෂා නළවලට එකතුකර හොඳින් මිශ්‍ර කරන්න.
- ලැබෙන නිරීක්ෂණ පහත ආකාර වගුවක සටහන් කරන්න.

5.1 වගුව ▼

| ජලීය ද්‍රාවණය | අම්ලද භස්ම ද උදාසීන ද යන බව | වදමල් යුෂ සමඟ ලබා දෙන වර්ණය |
|---|---|---|
| දෙහි යුෂ | අම්ල | |
| විනාකිරි | අම්ල | |
| සබන් දියරය | භස්ම | |
| හුනු දියරය | භස්ම | |
| අළු මිශ්‍ර කරන ලද ජලය | භස්ම | |
| ලුණු ද්‍රාවණය | උදාසීන | |
| ජලය | උදාසීන | |

වදමල් යුෂ අම්ල සමඟ එක් වර්ණයක් ද භස්ම සමඟ තවත් වර්ණයක් ද ලබා දෙන බව නිරීක්ෂණවලට අනුව ඔබට පෙනී යන්නට ඇත.

මෙලෙස අම්ල හා භස්ම සමඟ වෙනස් වර්ණ ලබාදෙන ද්‍රව්‍ය **දර්ශක** ලෙස හැඳින්වේ.
විද්‍යාගාරයේ ඇති ලිට්මස් කඩදාසි එවැන්නකි. ලිට්මස් කඩදාසි වර්ග දෙකක් ඇත. ඉන් එක් වර්ගයක් රතු ලිට්මස් ලෙස හඳුන්වන අතර අනෙක් වර්ගය නිල් ලිට්මස් ලෙස හඳුන්වයි.
ලිට්මස් කඩදසි භාවිතයෙන් අම්ල, භස්ම හා උදසීන ද්‍රව්‍ය වෙන්කර හඳුනා ගැනීමට පහත දැක්වෙන ක්‍රියාකාරකම සිදු කරමු.


නිල් ලිට්මස්


රතු ලිට්මස්

5.3 රූපය

## ක්‍රියාකාරකම 5.2

ක්‍රියාකාරකම 5.1 සඳහා යොදාගත් ජලීය ද්‍රාවණවලට වදමල් යුෂ වෙනුවට නිල් ලිට්මස් හා රතු ලිට්මස් කඩදාසි එකතුකර ක්‍රියාකාරකම සිදු කර බලන්න. නිරීක්ෂණ සුදුසු පරිදි වගුවක වාර්තා කරන්න.
ඔබේ නිරීක්ෂණ පහත සටහන සමඟ සංසන්දනය කරන්න.

| ලිට්මස් වර්ගය | අම්ල සමඟ වර්ණය | භස්ම සමඟ වර්ණය | උදාසීන ද්‍රව්‍ය සමඟ වර්ණය |
|---|---|---|---|
| රතු ලිට්මස් | | | |
| නිල් ලිට්මස් | | | |

මේ අනුව,

- අම්ල මගින් නිල් ලිට්මස්වල වර්ණය රතු පැහැයට හරවන බවත්, රතු ලිට්මස්වල වර්ණය වෙනස් නොකරන බවත් තහවුරු වේ.
- භස්ම මගින් රතු ලිට්මස්වල වර්ණය නිල් පැහැයට හරවන බවත් නිල් ලිට්මස්වල වර්ණය වෙනස් නොකරන බවත් තහවුරු වේ.

- උදාසීන ද්‍රව්‍ය නිල් ලිට්මස්වල හෝ රතු ලිට්මස්වල වර්ණය වෙනස් නොකරන බවත් තහවුරු වේ.

ස්වාභාවික පරිසරයේ ඇති විවිධ ද්‍රව්‍ය මගින් දර්ශක සකසා ගත හැකි ය. එවැනි දර්ශක කිහිපයක් පහත දක්වා ඇත.

- පොකුරු වද මල් තම්බා ගත් යුෂ
- නිල් කටරොළු මල් තම්බා ගත් යුෂ
- කහ තැම්බූ ජලය
- ගිරිතිල්ල මල් තලාගත් යුෂ
- පුවක් තැම්බූ ජලය
- රතු ගෝවා තම්බා සාදගත් යුෂ

ඉහත සඳහන් කළ දර්ශකවලින් කිහිපයක් පිළියෙල කර පහත දැක්වෙන ක්‍රියාකාරකම සිදු කරමු.

## ක්‍රියාකාරකම 5.3

පරිසරයේ ඇති ද්‍රව්‍යවලින් දර්ශක කිහිපයක් සාද ගන්න. එම දර්ශකවලින් බිංදු කිහිපය බැගින් වගුවේ දැක්වෙන ද්‍රව/ද්‍රාවණවලට එකතු කරන්න. නිරීක්ෂණය වන වර්ණය වගුවේ අදාළ තැන සටහන් කරන්න.

5.2 වගුව

| ද්‍රව/ද්‍රාවණ | සාදා ගත් දර්ශක | | | |
|---|---|---|---|---|
| | කහ තැම්බූ ජලය | | | |
| දෙහි යුෂ | | | | |
| විනාකිරි | | | | |
| හුනු දියරය | | | | |
| සබන් දියර | | | | |
| ෂැම්පු ද්‍රාවණයක් | | | | |
| සෝඩා වතුර | | | | |
| අවර්ණ සිසිල් බීම | | | | |
| ලුණු ද්‍රාවණය | | | | |
| සීනි ද්‍රාවණය | | | | |
| ග්ලූකෝස් ද්‍රාවණය | | | | |
| භූමිතෙල් | | | | |

එක් එක් දර්ශක ලබාදෙන වර්ණ විපර්යාසය පදනම් කරගෙන ඉහත ක්‍රියාකාරකමෙහි භාවිත කළ ද්‍රව/ද්‍රාවණ අම්ල, භස්ම හා උදාසීන ද්‍රව්‍ය ලෙස වර්ග කරන්න.

පාසල් විද්‍යාගාරයේ ඇති අම්ල හා භස්ම හඳුනා ගැනීමට පැවරුම 5.1 හි නිරත වෙමු.

### පැවරුම 5.1

විද්‍යා ගුරුතුමා / ගුරුතුමියගේ සහාය ඇතිව අම්ල, භස්ම වර්ග දමා ඇති බඳුන්වල හෝ දවටනයේ සඳහන් තොරතුරු නිරීක්ෂණය කර විද්‍යාගාරයේ ඇති අම්ල හා භස්මවල ලැයිස්තුවක් පිළියෙල කරන්න. එහි දී අම්ල හෝ භස්ම ස්පර්ශයෙන් වැළකීමට වග බලාගන්න.

පාසල් විද්‍යාගාරයේ වැඩි වශයෙන් භාවිත වන අම්ල කිහිපයක් ලෙස සල්ෆියුරික් අම්ලය, නයිට්රික් අම්ලය හා හයිඩ්‍රොක්ලෝරික් අම්ලය දැක්විය හැකි ය.



සල්ෆියුරික් අම්ලය



නයිට්‍රික් අම්ලය



හයිඩ්‍රොක්ලෝරික් අම්ලය

5.4 රූපය ▲ අම්ල කිහිපයක්

විද්‍යාගාරයේ වැඩි වශයෙන් භාවිත වන භස්ම කිහිපයක් ලෙස සෝඩියම් හයිඩ්‍රොක්සයිඩ්, පොටෑසියම් හයිඩ්‍රොක්සයිඩ් හා කැල්සියම් හයිඩ්‍රොක්සයිඩ් දැක්විය හැකි ය.






සෝඩියම් හයිඩ්‍රොක්සයිඩ්






පොටෑසියම් හයිඩ්‍රොක්සයිඩ්

5.5 රූපය ▲ භස්ම කිහිපයක්

ලිට්මස්වලට අමතරව අම්ල, හස්ම හා උදාසීන ද්‍රව්‍ය හඳුනා ගැනීම සඳහා විද්‍යාගාරයේ දී පහත ද්‍රව්‍ය භාවිත කළ හැකි ය.

- pH කඩදාසි
- ෆිනොප්තැලීන් දර්ශකය
- මෙතිල් ඔරේන්ජ් දර්ශකය

විවිධ දර්ශක අම්ල හස්ම හමුවේ දී දක්වන වර්ණ විපර්යාස පහත වගුගත කර ඇත.

5.3 වගුව ▼ විවිධ දර්ශක අම්ල හස්ම හමුවේ දී දක්වන වර්ණ විපර්යාස

| දර්ශකය | දර්ශකයේ ස්වභාවය | අම්ල සමග ලබා දෙන වර්ණය | හස්ම සමග ලබා දෙන වර්ණය |
| --- | --- | --- | --- |
| නිල් ලිට්මස් | නිල් පාට කඩදාසි පටි විශේෂයකි. | රතු | නිල් පාට (වර්ණ වෙනසක් නොවේ) |
| රතු ලිට්මස් | රතු පාට කඩදාසි පටි විශේෂයකි. | රතු (වර්ණ වෙනසක් නොවේ. ) | නිල් |
| pH කඩදාසි | කහ පාට කඩදාසි පටි විශේෂයකි. | රතු, තැඹිලි, කහ | තද කොළ, නිල්, දම් |
| ෆිනොප්තැලීන් | සුදු පැහැති කුඩු විශේෂයකි. මේවා මද්‍යසාරයේ (එතනෝල් හෝ ශල්‍ය ස්ප්‍රිතු) දිය කර ගැනීමෙන් අවර්ණ ද්‍රාවණයක් සාදාගනු ලබයි. | අවර්ණ | රෝස |
| මෙතිල් ඔරේන්ජ් (මීතයිල් ඔරේන්ජ්) | කහපාට කුඩු විශේෂයකි. ජලයේ දියකර ගැනීමෙන් කහපාට ද්‍රාවණයක් සාදා ගනු ලැබේ. | රතු | කහ |

- **pH කඩදාසි**






5.6 රූපය



පිනොප්තැලීන් කුඩු



පිනොප්තැලීන් ද්‍රාවණය | අම්ල සමඟ ලබාදෙන වර්ණය | භස්ම සමඟ ලබාදෙන වර්ණය

5.7 රූපය



මීතයිල් ඔරේන්ජ් කුඩු






මීතයිල් ඔරේන්ජ් ද්‍රාවණය | අම්ල සමඟ ලබාදෙන වර්ණය | භස්ම සමඟ ලබාදෙන වර්ණය

5.8 රූපය

pH කඩදසි භාවිතයෙන් අම්ල, භස්ම හා උදාසීන ද්‍රව්‍ය වෙන්කර හඳුනා ගැනීමට පහත ක්‍රියාකාරකමෙහි නිරත වෙමු.

## ක්‍රියාකාරකම 5.4

**අවශ්‍ය ද්‍රව්‍ය :-** pH කඩදාසි, 5.3 ක්‍රියාකාරකමේ භාවිත කළ ද්‍රව/ද්‍රාවණ

**ක්‍රියා පිළිවෙල :-** ක්‍රියාකාරකම 5.3 හි සඳහන් ද්‍රව/ද්‍රාවණවලට pH කඩදාසි එකතුකර වර්ණය සපයා ඇති පරිමාණය සමග සසඳන්න.
අනුරූප අංක අනුව ඔබ භාවිත කළ ද්‍රාවණ පෙළ ගස්වන්න.

- 1, 2, 3, 4, 5, 6 වර්ණ ලබා දෙන ද්‍රව්‍ය අම්ල ලෙසත්,
- 8, 9, 10, 11, 12, 13, 14 වර්ණ ලබා දෙන ද්‍රව්‍ය භස්ම ලෙසත්
- 7 වර්ණය ලබා දෙන ද්‍රව්‍ය උදාසීන ද්‍රව්‍ය ලෙසත් දැක්විය හැකි ය.

## ක්‍රියාකාරකම 5.5

**අවශ්‍ය ද්‍රව්‍ය :-** තනුක හයිඩ්‍රොක්ලෝරික් අම්ලය, තනුක සල්ෆියුරික් අම්ලය, තනුක සෝඩියම් හයිඩ්‍රොක්සයිඩ් ද්‍රාවණය, තනුක කැල්සියම් හයිඩ්‍රොරොක්සයිඩ් ද්‍රාවණය

**ක්‍රියා පිළිවෙල :-** විද්‍යා ගුරුතුමා/ගුරුතුමිය විසින් ලබා දෙන ඉහත ද්‍රවණවලට නිල් ලිට්මස්, රතු ලිට්මස්, pH කඩදාසි, ෆිනොප්තැලීන්, මෙතිල් ඔරේන්ජ් දර්ශකවලින් පරීක්ෂා කර නිරීක්ෂණ සටහන් කරන්න. අම්ල හා භස්ම වෙන් කර වගුගත කරන්න.

## සාරාංශය

- එදිනෙදා කටයුතුවල දී මෙන් ම විද්‍යාගාර පරීක්ෂාවලදී ද අම්ල, භස්ම හා උදාසීන ද්‍රව්‍ය සුලබව භාවිත කරයි.
- අම්ල හා භස්ම හඳුනා ගැනීම එදිනෙදා ජීවිතයේ දී ප්‍රයෝජනවත් වේ.
- අම්ල, භස්ම හා උදාසීන ද්‍රව්‍ය හඳුනා ගැනීමට විවිධ දර්ශක භාවිත කෙරේ.
- දෙහි, විනාකිරි, සියඹලා, ගොරකා නිවසේ දී භාවිත වන ආම්ලික ද්‍රව්‍ය කිහිපයක් සඳහා නිදසුන් වේ.
- සල්ෆියුරික් අම්ලය, හයිඩ්‍රොක්ලෝරික් අම්ලය, නයිට්‍රික් අම්ලය විද්‍යාගාරයේ භාවිත වන අම්ල කිහිපයක් සඳහා නිදසුන් වේ.
- සබන්, හුනු, ෂැම්පු, අළු නිවසේ දී භාවිත වන භාස්මික ද්‍රව්‍ය කිහිපයකි.
- සෝඩියම් හයිඩ්‍රොක්සයිඩ්, කැල්සියම් හයිඩ්‍රොක්සයිඩ් විද්‍යාගාරයේ භාවිත වන භස්ම කිහිපයක් සඳහා නිදසුන් වේ.
- සීනි, ලුනු, භූමිතෙල්, ග්ලූකෝස්, ආදිය නිවසේ දී භාවිත වන උදාසීන ද්‍රව්‍ය වේ.

## අභ්‍යාස

- පහත ප්‍රශ්නවලට දී ඇති පිළිතුරු අතුරින් නිවැරදි හෝ වඩාත් ගැළපෙන පිළිතුර තෝරන්න.

(01) අම්ල අඩංගු ද්‍රව්‍ය පමණක් අන්තර්ගත වන පිළිතුර කුමක් ද?

1) දෙහි, සබන්, ලුණු

2) හුනු, ලුණු, විනාකිරි

3) විනාකිරි, දෙහි, සියඹලා

4) ලුණු, විනාකිරි, දෙහි

(02) රතු ලිට්මස්වල වර්ණය නිල් පැහැයට හරවන්නේ,

1) ලුණු ද්‍රාවණය යි. 2) හුනු දියරය යි. 3) දොඩම් යුෂ යි. 4) ජලය යි.

(03) විද්‍යාගාරයේ භාවිත කරන දර්ශකයක් වන්නේ,

1) සෝඩියම් හයිඩ්‍රොක්සයිඩ් ය. 2) මීතයිල් ඔරේන්ජ් ය.

3) සල්ෆියුරික් අම්ලය ය. 4) කැල්සියම් හයිඩ්‍රොක්සයිඩ් ය.

(04) විද්‍යාගාරයේ භාවිත කරන pH කඩදාසිවල වර්ණය කුමක් ද?

1) කහ 2) නිල් 3) රතු 4) දම්

(05) පහත සඳහන් කුමන ජලීය ද්‍රාවණයකට ෆිනොප්තැලීන් දැමූ විට රෝස පාට වේ ද?

1) තනුක සල්ෆියුරික් අම්ලය 2) සෝඩියම් හයිඩ්‍රොක්සයිඩ්

3) තනුක නයිට්‍රික් අම්ලය 4) සෝඩා වතුර

අම්ල, භස්ම හා උදාසීන ගුණ පෙන්වන ද්‍රාවණ තුනක් A, B හා C ලෙස නම් කළ බඳුන් තුනකට දමා ඇත. එක් එක් ද්‍රාවණයට නිල් හා රතු ලිට්මස් දැමූ විට ලැබුණු වර්ණ පහත වගුවේ දැක්වේ.

| | A ද්‍රාවණය | B ද්‍රාවණය | C ද්‍රාවණය |
|---|---|---|---|
| නිල් ලිට්මස් දැමූ විට | නිල් පාට | නිල් පාට | රතු පාට |
| රතු ලිට්මස් දැමූ විට | රතු පාට | නිල් පාට | රතු පාට |

1. ආම්ලික ගුණ පෙන්වන ද්‍රාවණය කුමක් ද?
2. භාස්මික ගුණ පෙන්වන ද්‍රාවණය කුමක් ද?
3. උදාසීන ගුණ පෙන්වන ද්‍රාවණය කුමක් ද?
4. එක් භාජනයක තිබුණේ ජලය නම් ජලය තිබූ භාජනය නම් කර තිබූ ඉංග්‍රීසි අකුර කුමක් ද ?

## පාරිභාෂික වචන

| | |
|---|---|
| අම්ලය | - Acid |
| භස්මය | - Base |
| උදාසීන ද්‍රව්‍ය | - Neutral substance |
| දර්ශක | - Indicators |

# 06 සත්ත්ව විවිධත්වය

## 6.1 පෘෂ්ඨවංශීන් හා අපෘෂ්ඨවංශීන්

සත්ත්ව ලෝකය සතුන් මිලියන ගණනකින් සමන්විත වේ. ඔවුන් අතර අතිශය පුළුල් විවිධත්වයක් ඇත.

**පැවරුම 6.1**

- පාසල් වත්ත නිරීක්ෂණය කර එහි දක්නට ලැබෙන සතුන් දස දෙනෙකු හඳුනා ගෙන නම් කරන්න.
- එම සතුන් විවිධ ලක්ෂණ පදනම් කර ගනිමින් කාණ්ඩවලට වෙන් කරන්න.
- ඔබ සතුන් කාණ්ඩවලට වෙන් කළ ආකාරය ඔබේ කණ්ඩායමේ මිතුරන් විසින් වෙන් කළ ආකාරය සමග සංසන්දනය කරන්න

විවිධ නිර්ණායක පදනම් කර ගනිමින් ඔබ සහ ඔබේ මිතුරන් සතුන් කාණ්ඩවලට වෙන් කරන්නට ඇත. සංචරණ ක්‍රමය, දේහ හැඩය, ශරීර වර්ණය, ශරීර ප්‍රමාණය හා පෝෂණය ලබා ගැනීමේ ක්‍රමය එවැනි නිර්ණායක කිහිපයකි. මේ අනුව සත්ත්වයින් අතර පුළුල් විවිධත්වයක් ඇති බව ඔබට අවබෝධ වන්නට ඇත. මිනිසා ද සත්ත්ව ලෝකයේ එක් සාමාජිකයෙකි.


මිනිසා


කැස්බෑවා


ගොළුබෙල්ලා


ගැඩවිලා


කපුටා


කකුළුවා


අලියා


මැඩියා



6.1 රූපය ▲ විවිධ සත්ත්ව විශේෂ කිහිපයක්

සත්ත්ව ලෝකය තුළ සත්ත්ව විශේෂ ඉතා විශාල සංඛ්‍යාවක් ඇත. මෙම සත්ත්ව විශේෂ නම් කිරීම, හඳුනා ගැනීම පහසු වීම පිණිස මෙන් ම ජීවීන් පිළිබඳව අධ්‍යයනය කිරීමේ පහසුව සඳහා ද සතුන් කාණ්ඩවලට වෙන් කර තිබේ. විවිධ නිර්ණායක පදනම් කරගනිමින් ඔබ සතුන් කාණ්ඩ ගත කළ ආකාරය සිහිපත් කරන්න. පියඹා යෑම යන සංචරණ ක්‍රමය පදනම් කරගෙන සතුන් කාණ්ඩ කිරීමේ දී වවුලා, සමනලයා, කපුටා වැනි සතුන් එකම කාණ්ඩයට වැටේ. එහෙත් එම සතුන්ගේ අනෙකුත් ලක්ෂණ සැලකූ විට විශාල විවිධත්වයක් පෙන්වයි. එබැවින් විද්‍යාත්මකව සතුන් කාණ්ඩ කිරීමේ ක්‍රමයක අවශ්‍යතාවක් මතු වේ.



6.2 රූපය ▲ මිනිසාගේ අස්ථි සැකිල්ල

පාසල් විද්‍යාගාරයේ තිබෙන මිනිස් සැකිල්ලක රූපසටහනක් හොඳින් නිරීක්ෂණය කරන්න. 6.2 රූපයේ පෙන්වා ඇති පරිදි හිස් කබලේ පිටුපස

සිට සිරස්ව පහළට දිවෙන අස්ථි පෙළක් ඇති බව ඔබට දැක ගත හැකිවනු ඇත. ඔබේ ශරීරයේ පිට පෙදෙස (පෘෂ්ඨීය ප්‍රදේශය) ස්පර්ශ කර එම අස්ථි පෙළ හඳුනා ගන්න. එම අස්ථි පෙළ **කොඳුඇට පෙළ** හෙවත් කශේරුව ලෙස හැඳින්වේ.

මිනිසා ඇතුළු බොහෝ සතුන්ට මෙවැනි කොඳුඇට පෙළක් පවතී. 6.3 රූපසටහන නිරීක්ෂණය කර සතුන්ගේ කොඳුඇට පෙළෙහි ස්වභාවය හඳුනා ගන්න.




6.3 රූපය ▲ කොඳුඇට පෙළ සහිත සත්ත්ව සැකිලි කිහිපයක්

අප අවට පරිසරයේ දක්නට ලැබෙන ඇතැම් සතුන්ට කොඳුඇට පෙළක් නැත. කොඳුඇට පෙළක් දක්නට නොමැති සත්ත්ව විශේෂ කිහිපයක් පහත දැක්වේ.



කූඩැල්ලා



සමනලයා



කුරුමිණියා



ඉස්සා



ගොළුබෙල්ලා



මකුළුවා

6.4 රූපය ▲ කොඳුඇට පෙළක් නොමැති සත්ත්ව විශේෂ කිහිපයක්

මේ අනුව සතුන් කොඳුඇට පෙළක් ඇති හා කොඳුඇට පෙළක් නැති සතුන් යනුවෙන් කාණ්ඩ කළ හැකි ය.

කොඳුඇට පෙළක් ඇති සතුන් **පෘෂ්ඨවංශීන්** ලෙස ද කොඳුඇට පෙළක් නැති සතුන් **අපෘෂ්ඨවංශීන්** ලෙස ද හැඳින්වේ.

සතුන් < කොඳුඇට පෙළක් ඇති සතුන් (පෘෂ්ඨවංශීන්)
කොඳුඇට පෙළක් නැති සතුන් (අපෘෂ්ඨවංශීන්)

පරිසරයේ ජීවත් වන පෘෂ්ඨවංශීන් හා අපෘෂ්ඨවංශීන් තවදුරටත් හඳුනා ගැනීම සඳහා 6.2 පැවරුමෙහි නිරතවන්න.

## පැවරුම 6.2

මුහුදු වෙරළ ආශ්‍රිතව හමුවන සත්ත්ව විශේෂ කිහිපයක් ඇතුළත් රූපයක් පහත දැක්වේ. ඔවුන් පෘෂ්ඨවංශීන් හා අපෘෂ්ඨවංශීන් ලෙස කාණ්ඩ දෙකකට වෙන් කරන්න.

1. මුහුදු ලිහිණියා
2. කැස්බෑවා
3. මත්ස්‍ය විශේෂයක්
4. ඉස්සා
5. තාපස කකුළුවා
6. දෙපියන් බෙල්ලා
7. පසැඟිල්ලා
8. මුහුදු මල
9. ගොළුබෙල්ලා
10. පණුවා




6.5 රූපය ▲ මුහුදු වෙරළ ආශ්‍රිත ව හමුවන සත්ත්ව විශේෂ කිහිපයක්

ඔබ සතුන් වෙන් කළ ආකාරය පහත සඳහන් වගුව සමග සසඳා බලන්න.

6.1 වගුව ▼

| පෘෂ්ඨවංශීන් | අපෘෂ්ඨවංශීන් |
|---|---|
| මුහුදු ලිහිණියා | තාපස කකුළුවා |
| මත්ස්‍ය විශේෂයක් | පසැඟිල්ලා |
| කැස්බෑවා | මුහුදු බෙල්ලා |
| | ගොළුබෙල්ලා |
| | ඉස්සා |
| | පණුවා |
| | මුහුදු මල |

## අමතර දැනුමට

පෘෂ්ඨවංශීන් තවදුරටත් පහත සඳහන් කාණ්ඩවලට බෙදා දක්විය හැකි ය.

- මත්ස්‍යයින්
- උභය ජීවීන්
- උරගයින්
- පක්ෂීන්
- ක්ෂීරපායින්

## A-මත්ස්‍යයින්


හල්මල් දණ්ඩියා


බුලත් හපයා


මෝරා


කෙළවල්ලා

## B-උභය ජීවීන්


ගෙම්බා


පණු ගෙම්බා


මැඩියා


සලමන්දරා

## C-උරගයන්


කැස්බෑවා


කටුස්සා


නයා


කිඹුලා

## D-පක්ෂීන්


උකුස්සා


පිලිහුඩුවා


පොල්කිච්චා


කහ කුරුල්ලා

## E-ක්ෂීරපායීන්


ලේනා


වවුලා


ඩොල්ෆින්


මුවා

පහත සඳහන් ක්‍රියාකාරකමෙහි නිරත වෙමින් එහි දක්නට ලැබෙන සතුන්, පෘෂ්ඨවංශීන් හා අපෘෂ්ඨවංශීන් ලෙස කාණ්ඩවලට වෙන් කරන්න.

### ක්‍රියාකාරකම 6.1

සිසුවකු විසින් අඳින ලද වනාන්තරයක රූපයක් පහත දක්වා ඇත. එහි සිටින සතුන් හඳුනා ගන්න.



6.6 රූපය

එම සතුන් සියලු දෙනාම පෘෂ්ඨවංශීන් හා අපෘෂ්ඨවංශීන් ලෙස කාණ්ඩ දෙකකට වෙන් කරන්න.

| පෘෂ්ඨවංශීන් | අපෘෂ්ඨවංශීන් |
|---|---|
| ............................. | ............................. |
| ............................. | ............................. |
| ............................. | ............................. |
| ............................. | ............................. |
| ............................. | ............................. |

## 6.2 ජීවීන් පරිසරයට දක්වන අනුවර්තන

සතුන් විවිධ පරිසරවල ජීවත් වේ. ජලය, ගොඩබිම, වායුගෝලය මෙන් ම වෙනත් ජීවීන් මත හා ජීවීන් තුළ ද සත්තු වෙසෙති. මේ හැරුණු විට හිම මත, ගැඹුරු මුහුදු පතුලේ සහ කාන්තාරවල ද පවා ජීවත් වන සතුන් ඇත. ඔවුන්ට එම අහිතකර පරිසර තත්ත්ව යටතේ පවා ජීවත් වීමට හැකියාව ලැබී

ඇත්තේ එම සතුන්ට එම පරිසරයට හැඩ ගැසීමට ඇති හැකියාව නිසා ය.

සතුන් තම පරිසරයට දක්වන හැඩගැසීම් **අනුවර්තන** ලෙස හැඳින්වේ. මෙම අනුවර්තන ඔවුන්ගේ විවිධ අවශ්‍යතා (නිදසුන් :- ආහාර, වාසස්ථාන, ආරක්ෂාව) සපුරා ගැනීමට උදව් වේ. එමගින් ජීවීහු පරිසරය තුළ සිය පැවැත්ම තහවුරු කර ගනිති.

**සත්ත්වයින්ගේ පැවැත්ම සඳහා වර්ණය උපකාරී වන ආකාරය**

සමහර සත්ත්ව විශේෂ තම ශරීර වර්ණය තමා සිටින පරිසරය සමග ගැළපීම මගින් සිය පැවැත්ම තහවුරු කර ගැනීමට අනුවර්තන දක්වයි. ඒ පිළිබඳ සොයා බැලීමට පහත ක්‍රියාකාරකමෙහි නිරත වන්න.

### ක්‍රියාකාරකම 6.2

**අවශ්‍ය ද්‍රව්‍ය :-** කුඩා ප්‍රමාණයේ ඉරටු කැබලි සියයක් පමණ, රතු, කොළ, සුදු හා දුඹුරු වර්ණ (ඉරටු කැබලි වෙනුවට ටූත්පික්/ Toothpicks භාවිත කළ හැකි ය.)

**ක්‍රමය :-**

- එක් වර්ණයකින් 25 බැගින් ඉරටු කැබලි වර්ණ ගන්වන්න.
- වර්ණ කරන ලද ඉරටු කැබලි සියයම තණ පිට්ටනියක අහඹු ලෙස විසුරුවා හරින්න.
- සිසුන් හතර දෙනෙකු විසින් එකම අවස්ථාවේ දී ඉරටු කැබලි ඇහිදීමට පටන් ගන්න.
- පළමුව ඇහිදීම අවසන් කළේ කුමන වර්ණයේ ඉරටු කැබලි ද? අවසානයට ඇහිඳ අවසන් කළේ කුමන වර්ණයේ ඉරටු කැබලි ද?
- දැන් මෙම ඉරටු කැබලි සියල්ලම බොරළු පොළවක විසුරුවා හරින්න.
- පළමු ආකාරයටම ඒවා ඇහිදීමට සැලැස් වූ විට අවසානයටම ඇහිඳ අවසන් කරන්නේ කුමන වර්ණයේ ඉරටු කැබලි ද?
- දැන් මේ ආකාරයට විවිධ පරිසරවල මෙම ක්‍රියාකාරකම සිදු කරන්න.

තණ පිට්ටනියේ දී ඔබ විසින් අවසානයට ම ඇහිඳ ගන්නට ඇත්තේ කොළ පැහැති ඉරටු කැබලි බව නිසැක ය. එයට හේතුව තණ කොළවල කොළ පැහැය සමග ඉරටු කැබලිවල කොළ පැහැය ඉතා හොඳින් මුසු වී තිබීමයි. එවිට ඒවා හොඳින් වෙන්කර හඳුනා ගැනීම අපහසු වේ.

එසේ ම බොරළු පොළවක දුඹුරු පාට ඉරටු කැබලි අවසානයට ඇහිඳ ගන්නට ඇත. ඊට හේතු වන්නට ඇත්තේ දුඹුරු පාට බොරළුවලින් ඒවා වෙන් කර හඳුනා ගැනීම අපහසු වීමයි.

පහත පින්තූරවල 6.7 රූපය දක්වෙන සත්ත්වයින් පරිසරයේ වර්ණයට හොඳින් ගැළපී ඇති අයුරු නිරීක්ෂණය කරන්න.


පේර කොළයා


සලබයා


තණකොළපෙත්තා


සමනලයා


දළඹුවා


ඇහැටුල්ලා

6.7 රූපය ▲ පරිසරයට ගැළපී සිටින සතුන් කිහිපදෙනෙක්

## පැවරුම 6.3

ඉහත දක්වූ 6.7 රූපය ඇසුරින් පහත දක්වා ඇති වගුව සම්පූර්ණ කරන්න.

| සත්ත්වයාගේ නම | පරිසරය | පරිසරයේ වර්ණය | ශරීර වර්ණය |
|---|---|---|---|
| තණකොළ පෙත්තා | ශාක පත්‍ර | ..................... | ..................... |
| පේර කොළයා | පේර ශාක පත්‍ර | ..................... | ..................... |
| සමනලයා | පුෂ්ප | ..................... | ..................... |
| දළඹුවා | ශාක පත්‍ර | ..................... | ..................... |
| ඇහැටුල්ලා | ශාක අතු | ..................... | ..................... |
| සලබයා | ශාක කඳ | ..................... | ..................... |

මේ ආකාරයට බොහෝ සතුන් තම පරිසරය හා ගැළපීම නිසා විලෝපීයයන්ට පහසුවෙන් දර්ශනය නොවී ආරක්ෂා වීම සිදු වේ.
ශරීරයේ වර්ණය පරිසරයේ වර්ණය සමග ගැළපීම නිසා සත්ත්වයින් පහසුවෙන් පරිසරයෙන් වෙන් කර ගැනීම අපහසු වීම **වේශාන්තරය** ලෙස හැඳින්වේ. වේශාන්තරය නිසා සත්ත්වයින්ට පහත සඳහන් වාසි අත් වේ.
සතුන්ගේ ශරීර වර්ණය ඔවුන් ජීවත් වන පරිසරය සමග මනාව මුසු වී ඇති නිසා විලෝපීයයන්ට තම ගොදුරු එකවර හඳුනා ගැනීම අපහසු වේ. එබැවින් බොහෝ සතුන්ට විලෝපීයයන්ගෙන් ආරක්ෂා වීමට හැකියාව ලැබී ඇත.



6.8 රූපය ▲ ගොදුරකට මාන බලන දිවියෙක්

විලෝපීයන්ගෙන් ආරක්ෂා වීමට මෙන් ම ගොදුරු පහසුවෙන් සොයා ගැනීමට ද සතුන්ට තම ශරීර වර්ණය උපකාරී වන අවස්ථා ඇත.

නිදසුන් :- දිවියාගේ ශරීරය දුවිලි පැහැති වීම සහ පුල්ලි පිහිටීම නිසා වෙනත් සතුන්ට ඔවුන් පහසුවෙන් හඳුනාගත නොහැකි ය. මේ නිසා ගොදුරට නොපෙනී ගොදුර කරා ළඟාවීමට දිවියාට හැකියාව ලැබේ.

එමෙන් ම පරිසරයේ සිදුවන වෙනස්කම් අනුව එම පරිසරයේ නො නැසී ජීවත් වීම සඳහා ද සතුන්ට තම වර්ණය උපකාරී වූ අවස්ථා තිබේ.

## අමතර දැනුමට

බ්‍රිතාන්‍යයේ මැන්චෙස්ටර් නුවර කලකට ඉහත දී *Biston betularia* නැමැති සුදු සහ කළු පැහැති සලබ විශේෂයක් දක්නට ලැබුණි. සුදු පැහැති සලබයින් පරිසරයට සුදුසු වර්ණ දැරීම නිසා විලෝපීයයන්ගෙන් ආරක්ෂා වූ අතර කළු පැහැති සලබයින් පහසුවෙන් විලෝපීයයන්ගේ ගොදුරු බවට පත් විය. නමුත් කාර්මික විප්ලවයට පසු පරිසරය දුර්වර්ණ වීම නිසා කළු පැහැති සලබයින් ආරක්ෂා වී සුදු පැහැති සලබයින් විලෝපීයයන්ට ගොදුරු විය.

සමහර කටුසු වර්ගවල වර්ණය ජීවත් වන පරිසරය අනුව වෙනස් වේ.



6.9 රූපය ▲ ශරීර වර්ණය වෙනස් කර ගත හැකි කටුසු විශේෂයක්

## පැවරුම 6.4

වෛශාන්තරය පෙන්වන සතුන් සඳහා හැකි තරම් පමණ හඳුනා ගන්න. ඔවුන්ගේ පින්තූර එකතුවක් සකස් කරන්න.

**සත්ත්වයන්ගේ පැවැත්ම සඳහා හැඩය උපකාරී වන ආකාරය**

සත්ත්වයන්ට ආරක්ෂාව සඳහා ශරීර වර්ණය වැදගත් වන ආකාරයට ම සංචරණය සඳහා ශරීරයේ හැඩය ද වැදගත් වේ. ඒ පිළිබඳව සොයා බැලීමට පහත ක්‍රියාකාරකමෙහි නිරත වෙමු.

## ක්‍රියාකාරකම 6.3

**සංචරණය සඳහා ශරීරයේ හැඩය වැදගත් වන ආකාරය සොයා බැලීම**

**අවශ්‍ය ද්‍රව්‍ය** :- බණ්ඩක්කා කරල් කිහිපයක්, 50cm පමණ දිග නූල් කැබලි දෙකක්, කුඩා ක්ලේ ගුලි දෙකක්, අල්පෙනිති

**ක්‍රමය** : රූපයේ දැක්වෙන ආකාරයට බණ්ඩක්කා කරල් කපා සකසා ගන්න.




කපා සකස් කර ගත් බණ්ඩක්කා කරල්වලට පහත දැක්වෙන ආකාරයට කුඩා බරක් සම්බන්ධ කරගන්න.



රූපයේ දැක්වෙන ආකාරයට සකස් කර ගත් දිගින් සමාන බණ්ඩක්කා ව්‍යූහ දෙක එකම තැටියක ජලයේ ගමන් කිරීමට සලස්වන්න.




මෙම ව්‍යූහ දෙකම ජලයේ එකම වේගයෙන් ගමන් කරන්නේ ද නැතහොත් එක් එක් ව්‍යූහයේ වේග වෙනස්දැයි නිරීක්ෂණය කරන්න.

B-C ව්‍යූහය දෙකෙළවර උල් හැඩයක් ගනී. මෙවැනි ව්‍යූහයක් අනාකූල හැඩති ව්‍යූහයක් ලෙස හැඳින්විය හැකි ය. A-A ව්‍යූහය, අනාකූල හැඩයක් නොදරයි.




කුඩා ක්ලේ ගුලි දෙක පහළට ගමන් කරන විට බණ්ඩක්කා කරල් දෙක තැටියේ වූ ජලය දිගේ ගමන් කරයි. අනාකූල හැඩති ව්‍යූහය අනෙක් ව්‍යූහයට වඩා කලින් තැටිය කෙළවරට ගමන් කරනු ඔබට දකින්නට හැකිවනු ඇත.



මත්ස්‍යයා



පක්ෂියා

6.10 රූපය ▲ අනාකූල හැඩය සහිත මත්ස්‍යයකු හා පක්ෂියකු

අනාකූල හැඩය සහිත සතුන් සිහියට නගා ගන්න.

බොහෝ පක්ෂීන් මෙන් ම මත්ස්‍යයන් ද අනාකූල හැඩය සහිත බව ඔබට පෙනෙනු ඇත.

ජලයෙහි සහ වාතයෙහි ජීවත් වන සතුන්ට සංචරණයේ දී ජලය හෝ වාතය මගින් ඇතිකරන බාධාව (ප්‍රතිරෝධය) මැඩපැවැත්වීමට අනාකූල හැඩය ආධාර වන බව පැහැදිලි ය.

මත්ස්‍යයන්ගේ මෙන් ම පක්ෂීන්ගේ ද ශරීර අනාකූල හැඩයක් ගෙන ඇත්තේ සංචරණය කාර්යක්ෂම කිරීම සඳහා ය. ජීවීන් දක්වන අනාකූල හැඩය උපයෝගී කරගෙන ගුවන් යානා හා ජෙට්යානා නිපදවීම ආරම්භ කෙරුණි.

## 6.3 ජීවීන් වර්ගීකරණය සඳහා දෙබෙදුම් සුචි භාවිතය

6 ශ්‍රේණියේ දී දෙබෙදුම් සුචි භාවිතයෙන් ශාක පත්‍ර කිහිපයක් කාණ්ඩගත කරගත් ආකාරය සිහිපත් කරන්න. ජීවීන්ගේ යම් ලක්ෂණයක් පදනම් කරගෙන එම ලක්ෂණය ජීවියා තුළ පැවතීම හෝ නොපැවතීම (ඇති හෝ නැති බව) අනුව ජීවීන් වර්ග කිරීම දෙබෙදුම් සුචි ක්‍රමය ලෙස හඳුන්වයි. මෙහි දී තෝරා ගන්නා ලක්ෂණ පහසුවෙන් නිරීක්ෂණය කළ හැකි බාහිර ලක්ෂණ වීම වඩාත් සුදුසු ය.

**දෙබෙදුම් සුචියක ලක්ෂණ**

- පහසුවෙන් වෙන්කර දැක්විය හැකි ලක්ෂණයක් තෝරා ගැනීම
- වරකට එක ලක්ෂණයක් පමණක් ඇති / නැති ආකාරයට වෙන් කිරීම
- අවසානයේ දී එක ජීවියෙක්/ ද්‍රව්‍යයක් පමණක් සිටින සේ වෙන් කිරීම

පහත දක්වා ඇත්තේ සත්ත්වයන් කිහිපදෙනකු දෙබෙදුම් සුචියක් ආධාරයෙන් වර්ග කර ඇති ආකාරයයි.




මේ ආකාරයට පහත දක්වා ඇති ශාක ද දෙබෙදුම් සුචියක් ආධාරයෙන් වර්ග කළ හැකි ය.




ශාක සහ සතුන් දෙබෙදුම් සුචියක් මගින් කාණ්ඩ කිරීමෙන් ඔවුන් පහසුවෙන් වෙන් කර හඳුනා ගැනීමට හැකි වන බව ඔබට අවබෝධ වන්නට ඇත.

## පැවරුම 6.5

- පාසල් වත්තේ/ ගෙවත්තේ සිටින පක්ෂීන් නිරීක්ෂණය කරන්න.
- එම පක්ෂීන්ගේ විවිධ ලක්ෂණ පදනම් කර ගනිමින් දෙබෙදුම් සුචියක් සකස් කරන්න.

## සාරාංශය

- සතුන් ප්‍රධාන වශයෙන් කොඳුඇට පෙළක් සහිත හා කොඳුඇට පෙළක් රහිත සතුන් ලෙස කාණ්ඩ දෙකකට බෙදිය හැකි ය.
- කොඳුඇට පෙළක් සහිත සතුන් පෘෂ්ඨවංශීන් ලෙස හැඳින්වෙන අතර කොඳුඇට පෙළක් රහිත සතුන් අපෘෂ්ඨවංශීන් ලෙස හැඳින්වේ.
- පෘෂ්ඨවංශීන් අතර සමානකම් මෙන් ම අසමානකම් ද දක්නට ලැබේ.
- ජීවීන් තම පැවැත්ම සඳහා පරිසරයට අනුව දක්වන විවිධ හැඩගැසීම් අනුවර්තන ලෙස හැඳින්වේ.
- තම ශරීර වර්ණය සහ ශරීර හැඩය ජීවත් වන පරිසරයට අනුව අනුවර්තනය වූ ජීවීන් ජෛව ලෝකයේ දක්නට ලැබේ.
- ප්‍රධාන වශයෙන් බාහිර ලක්ෂණ යොදා ගනිමින් ජීවීන් වර්ග කිරීම සඳහා දෙබෙදුම් සුචි භාවිත කෙරේ.

## අභ්‍යාස

1. නිවැරදි පිළිතුර තෝරන්න.

i). පෘෂ්ඨවංශීන් පමණක් ඇතුළත් වන පිළිතුර තෝරන්න.

a. ගවයා, ගොළුබෙල්ලා, කපුටා b. සමනලයා, ගේ කුරුල්ලා, වවුලා

c. හූනා, තලගොයා, කිඹුලා d. කකුළුවා, ඉස්සා, මෝරා

ii). අපෘෂ්ඨවංශියකු වනුයේ,

a. ගෙම්බා ය. b. මුහුදු අශ්වයා ය. c. ඉස්සා ය. d. ගැරඬියා ය.

2. සතුන් ලැයිස්තුවක් පහත දැක්වේ.

තලගොයා, මඳුරුවා, ලේනා, ලූලා, තල්මසා, කපුටා, වවුලා, කකුළුවා, ගවයා, සමනලයා, මී මැස්සා, ගෝනුස්සා, හැකරැල්ලා

i) ඉහත ලැයිස්තුවේ ඇති සත්ත්වයින් පෘෂ්ඨවංශීන් හා අපෘෂ්ඨවංශීන් ලෙස වෙන් කරන්න.

ii) මෙම පෘෂ්ඨවංශී සතුන් ඇතුළත් කර දෙබෙදුම් සුචියක් ගොඩ නගන්න.

3.

i) වේශාන්තරය පෙන්වන සතුන් තිදෙනෙකු නම් කරන්න.

ii) වේශාන්තරය නිසා සතුන්ට සැලසී ඇති වාසි තුනක් සඳහන් කරන්න. ඒ සඳහා නිදසුන් දෙන්න.

4. පහත දැක්වෙන ජීවීන් ඔවුන් ජීවත් වන පරිසරයට අනුව දක්වන අනුවර්තන දෙකක් ලියන්න.

| | | | | |
|---|---|---|---|---|
| මත්ස්‍යයා | - | වරල් පිහිටීම | - | අනාකූල හැඩය |
| ඇහැටුල්ලා | - | ...................... | - | ...................... |
| කුරුල්ලා | - | ...................... | - | ...................... |
| හැකරැල්ලා | - | ...................... | - | ...................... |
| කෝටුවන්දා | - | ...................... | - | ...................... |
| දැළඹුවා | - | ...................... | - | ...................... |

## පාරිභාෂික වචන

| | | |
|---|---|---|
| පෘෂ්ඨවංශීන් | - | Vertebrates |
| අපෘෂ්ඨවංශීන් | - | Invertebrates |
| අනුවර්තන | - | Adaptation |
| වේශාන්තරය | - | Camouflage |
| අනාකූල හැඩය | - | Streamlined shape |
| දෙබෙදුම් සුචිය | - | Dichotomous key |

# 07 ශක්ති ආකාර සහ භාවිත

එදිනෙදා ජීවිතයේ දී අප විසින් බොහෝ කාර්ය සිදු කරනු ලැබේ. එපමණක් නොව සතුන්, යන්ත්‍ර සූත්‍ර ආදිය ද විවිධ කාර්ය සිදු කරයි. එවැනි අවස්ථා කිහිපයක් සඳහා නිදසුන් 7.1 රූපයේ දැක්වේ.



වාහනයක් ගමන් කිරීම



බරක් එසවීම



පංකාවක් කරකැවීම



දිවීම

7.1 රූපය

ඉහත සඳහන් කළ කාර්යවලට අමතරව එදිනෙදා ජීවිතයේ දී සිදු කරනු ලබන තවත් බොහෝ කාර්ය ඇත. එවැනි කාර්ය සඳහා ඔබට නිදසුන් දැක්විය හැකි ද ?

**පැවරුම 7.1**

- එදිනෙදා ජීවිතයේ දී කාර්ය සිදු කරන අවස්ථා සඳහා නිදසුන් පහක් දක්වන්න.

මිනිසා, යන්ත්‍ර සූත්‍ර මෙන් ම සතුන් ද කාර්ය සිදු කරන බව ඔබට පැහැදිලි වනු ඇත. කාර්යය කිරීම සඳහා මිනිසාට මෙන්ම අනෙකුත් වස්තූන්ට ද අවශ්‍ය වන්නේ මොනවාද යන්න දැන් අපි සලකා බලමු. මේ සඳහා 7.1 හා 7.2 ක්‍රියාකාරකම්වල යෙදෙමු.

## ක්‍රියාකාරකම 7.1


7.2 රූපය

අවශ්‍ය ද්‍රව්‍ය :- 2 cm පමණ පළල සහ 30 cm පමණ දිග බයිසිකල් ටියුබ් පටියක් හෝ ඇදෙනසුලු වෙනත් පටියක්, මීටර් රූලක්

ක්‍රමය :- රබර් පටිය එක් එක් සිසුවාට ලබා දී හැකිතාක් දෙපසට අදින ලෙස උපදෙස් දෙන්න. එක් එක් සිසුවා විසින් අදිනු ලබන උපරිම දිග ප්‍රමාණය සටහන් කර ගන්න.

7.1 වගුව

| නම | අදින ලද උපරිම දිග |
|---|---|
| | |

- සිසුන් විසින් රබර් පටිය අදින ලද දුර ප්‍රමාණය වෙනස් වීමට හේතුව සාකච්ඡා කරන්න.
- රබර් පටිය ඇදීමට ඔවුන් පාවිච්චි කළේ කුමක් ද?

## ක්‍රියාකාරකම 7.2

අවශ්‍ය ද්‍රව්‍ය :- මීටර 1 පමණ දිග නූලක්, ආධාරකයක්, ගල් කැටයක්

ක්‍රමය :-

- ගල් කැටය නූලෙහි කෙළවරක ගැට ගසන්න.
- නූලෙහි අනෙක් කෙළවර ආධාරකය මත හෝ වෙනත් උචිත ස්ථානයක එල්ලන්න.
- ගල් කැටය මත අතින් තල්ලුවක් යොදන්න.
- ගල් කැටය චලනය වන අයුරු හොඳින් නිරීක්ෂණය කරන්න.


7.3 රූපය නූලක එල්ලූ ගල් කැටයක චලිතය

- ගල් කැටය චලනය වන දුර ක්‍රමයෙන් අඩු වීමට හේතුව ඔබට සඳහන් කළ හැකි ද ?
- නිශ්චල වූ ගල් කැටය නැවත චලනය කිරීම සඳහා ඔබ අනුගමනය කරන ක්‍රියාමාර්ගය සාකච්ඡා කරන්න.

කාර්යයක් සිදුවීම සඳහා **ඇදීමක්** හෝ **තල්ලුකිරීමක්** මගින් වස්තුවක් චලනය වීමක් සිදු විය යුතු ය. ඔබ විසින් සිදු කරන ලද ක්‍රියාකාරකම 7.1 හි රබර් පටිය ඇදීමේදීත්, ක්‍රියාකාරකම 7.2 හි ගල් කැටය චලනය කිරීමේදීත් කාර්යයක් සිදු වී ඇති බව පැහැදිලි වේ.

- **කාර්ය කිරීමට ඇති හැකියාව ශක්තිය ලෙස හැඳින්වේ.**
- **ශක්තිය මනින අන්තර් ජාතික ඒකකය ජූල් (J) වේ.**

සෑම කාර්යයක් සිදු කිරීම සඳහා ම ශක්තිය අවශ්‍ය වේ. සිදු කරන කාර්යය ප්‍රමාණය වැඩිවන විට ඒ සඳහා යෙදිය යුතු ශක්තිය ද වැඩි වේ. නිදසුනක් ලෙස ක්‍රියාකාරකම 7.2 හි ගල් කැටය වඩා ඈතකට චලනය කරවීමට නම්, පෙරට වඩා වැඩි ශක්තියක් ඔබ විසින් සැපයිය යුතු ය.

ශක්තිය එකිනෙකට වෙනස් ආකාර ගණනාවකින් පවතී. කාර්යය කිරීමේ හැකියාව හෙවත් ශක්තිය පැවතිය හැකි විවිධ ආකාර පිළිබඳව දැන් සලකා බලමු. මේ සඳහා එකිනෙකට වෙනස් කාර්ය කිහිපයක් සිදු කරන අවස්ථා සහ එහි දී අපට දැකිය හැකි එකිනෙකට වෙනස් ශක්ති ආකාර පිළිබඳව තව දුරටත් අවධානය යොමු කරමු.

එකිනෙකට වෙනස් ශක්ති ආකාර විවිධ කාර්ය සඳහා භාවිත කරයි. අප විසින් සිදු කරනු ලබන විවිධ කාර්ය සඳහා භාවිත වන ශක්ති ආකාර මොනවා ද යන්න ඔබට වෙන්කර දැක්විය හැකි ද? මේ සඳහා 7.3 ක්‍රියාකාරකම සිදු කරමු.

**ක්‍රියාකාරකම 7.3**

**ශක්ති ආකාර හඳුනා ගැනීම**

පහත සඳහන් ද්‍රව්‍ය සපයා ගන්න.

අවශ්‍ය ද්‍රව්‍ය :- විදුලි පන්දම් බල්බය, වියළි කෝෂ හා වයර් කැබලි, බැටරියෙන් ක්‍රියාකරන බිත්ති ඔරලෝසුව, සංගීත හඬ නිපදවන සුබ පැතුම් පත, බයිසිකල් ඩයිනමෝව, ගුවන් විදුලි යන්ත්‍රය, බැටරි හෝ දුණු මගින් ක්‍රියා කරන විවිධ ක්‍රීඩා භාණ්ඩ, විදුලි මෝටර, මේස ඔරලෝසුව

ක්‍රමය :-

- සිසුන් කණ්ඩායම් වශයෙන් බෙදී සපයන ලද උපකරණවල ක්‍රියාකාරිත්වය අධ්‍යයනය කරන්න.
- එක් එක් උපකරණය ක්‍රියා කිරීම සඳහා මූලික වූ ශක්ති ආකාරය හඳුනා ගන්න.
- උපකරණ ක්‍රියාත්මක වීමේ දී ඇතිවන වෙනත් ශක්ති ආකාර තිබේ නම් ඒවා ද හඳුනා ගන්න.
- ඔබේ නිරීක්ෂණ ඇසුරෙන් පහත වගුව සම්පූර්ණ කරන්න.



7.4 රූපය

වගුව 7.2

| උපකරණය | ක්‍රියාත්මක කිරීමට මූලික වූ ශක්ති ආකාරය | ක්‍රියාත්මක වීමේ දී ඇතිවන වෙනත් ශක්ති ආකාර |
|---|---|---|
| විදුලි බල්බය | විද්‍යුත් ශක්තිය | ආලෝක ශක්තිය, තාප ශක්තිය |
| | | |
| | | |
| | | |
| | | |
| | | |
| | | |

බොහෝ අවස්ථාවල දී හමුවන ශක්ති ආකාර කිහිපයක් ක්‍රියාකාරකම 7.3 හි දී ඔබ හඳුනා ගන්නට ඇත. මේවායින් බොහොමයක් විවිධ කාර්ය සඳහා බහුල ව යොදා ගනු ලැබේ. ක්‍රියාකාරකම 7.3හි දී හඳුනාගත් ප්‍රධාන ශක්ති ආකාර කිහිපයක් පහත පරිදි ලැයිස්තු ගත කළ හැකි ය.

- චාලක ශක්තිය
- විභව ශක්තිය
- විද්‍යුත් ශක්තිය
- ධ්වනි/ශබ්දය ශක්තිය
- තාපජ ශක්තිය
- රසායනික ශක්තිය
- ආලෝක ශක්තිය

ඔබ හඳුනාගත් ශක්ති ආකාර කිහිපයක් පිළිබඳව තව දුරටත් අධ්‍යයනය කරමු.

## 7.1 චාලක ශක්තිය

අප හට බොහෝ අවස්ථාවල දී චලනයක් සහිත දේ හමු වේ. නිදසුන් කිහිපයක් ලෙස සුළඟ, ගමන් කරන රථයක්, ගලා යන ජල පහරක්, චලනය වන ගල් කැටයක් වැනි දේ දැක්විය හැකි ය.

චලනය වන්නා වූ වස්තු සතුව කිසියම් ශක්තියක් තිබේද යන්න සොයා බලමු.

### ක්‍රියාකාරකම 7.4

**අවශ්‍ය ද්‍රව්‍ය** - තහඩුවලින් සාදාගත් තල බමරයක් (කිරල මූඩියකට තහඩු කැබලි සවි කිරීමෙන්), කම්බි කුරක්, බෝලයක්, ගමන් කරන සෙල්ලම් කාරයක්, ගල් කැටයක්, ජල බේසමක්

**ක්‍රමය** -

- මේසය මත බෝලයක් නිශ්චලව තබා ඒ වෙත ගමන් කරන සෙල්ලම් කාරය එවන්න.
- නිශ්චල ජලයට ගල් කැටයක් දමන්න.
- ජල කරාමය විවෘත කර තල බමරය අල්ලා බලන්න.
- ඔබේ නිරීක්ෂණ හා ඒ සඳහා හේතු සාකච්ඡා කරන්න.



7.5 රූපය

ක්‍රියාකාරකම 7.4 හි සෑම අවස්ථාවක දී ම කිසියම් කාර්යයක් සිදුවූ බව ඔබට නිරීක්ෂණය වන්නට ඇත. ඒ සඳහා අවශ්‍ය ශක්තිය ලැබුණේ කෙසේ දැයි ඔබට කිව හැකි ද ?

ඉහත අවස්ථාවල දී කාර්ය සිදුවීමට අවශ්‍ය ශක්තිය ලැබුණේ චලනය වන දෙයක්/වස්තුවක් මගිනි.

නිදසුන් :- ගලා යන ජලය, චලනය වන ගල් කැටය

මේ අනුව චලනය වන වස්තුවක් සතුව ශක්තියක් පවතින බව පැහැදිලි වනු ඇත.

- **චලනය වන වස්තුවක් සතු ශක්තිය චාලක ශක්තිය ලෙස හැඳින්වේ.**

මුහුදු රළ සතු චාලක ශක්තිය මගින් විදුලිය උත්පාදනය, සුළං සතු චාලක ශක්තිය මගින් ධාන්‍ය ඇඹරීම, ජලය පොම්ප කිරීම, විදුලිය නිෂ්පාදනය ආදිය ද සිදු කරයි. ජල විදුලි බලාගාරයක විදුලි උත්පාදනය කරනුයේ ජලය සතු චාලක ශක්තියෙනි.



**පැවරුම 7.2**

- චාලක ශක්තිය භාවිතයෙන් එදිනෙද ජීවිතයේ දී කාර්ය සිදු කරන අවස්ථා ලැයිස්තු ගත කරන්න.

## ශක්ති පරිණාමනය

ශක්ති ආකාර මගින් කාර්ය කර ගැනීමේ දී ඒවා වෙනත් ශක්ති ආකාර බවට පරිවර්තනය වන අවස්ථා අපට හමු වේ.

නිදසුනක් ලෙස සුළඟ සතු චාලක ශක්තියෙන් විදුලිය උත්පාදනය කරන අවස්ථාවක් සලකමු. එහි දී චාලක ශක්තිය, සුළං මෝල සම්බන්ධ ඩයිනමෝව මගින් විද්‍යුත් ශක්තිය බවට පරිවර්තනය වීම සිදු වේ.

**එක් ශක්ති ආකාරයක් වෙනත් ශක්ති ආකාරයක් බවට පත් වීම ශක්ති පරිණාමනය ලෙස හැඳින්වේ.**

සුළඟ මගින් විදුලිය නිෂ්පාදනය කිරීමේ දී සිදුවන ශක්ති පරිණාමනය පහත ආකාරයට දැක්විය හැකි ය.

චාලක ශක්තිය ⟶ විද්‍යුත් ශක්තිය

## ස්ව අධ්‍යයන අභ්‍යාස

1. පහත සඳහන් එක් එක් අවස්ථාවල දී සිදුවන ශක්ති පරිණාමනය දැන් ඔබට ලියා දැක්විය හැකි ද?
   I. විදුලි බල්බයකින් ආලෝකය ලබා ගැනීම
   II. ඩයිනමෝවකින් විදුලිය නිපදවා ගැනීම

## 7.2 විභව ශක්තිය

ගලා යන ජල පහරක් සතුව චාලක ශක්තිය පවතී. එමගින් විවිධ කාර්ය සිදු කර ගත හැකි බව අපි දනිමු. නිදසුන් ලෙස තළ බමරයක් කරකැවීම දැක්විය හැකි ය. එහෙත් ජලය ගලා යාමට අවශ්‍ය ශක්තිය ලැබුණේ කෙසේ ද යන්න පිළිබඳ ඔබ සිතා බැලුවා ද? සෑම ස්ථානයකම ඇති ජලයට ගලා යාමේ හැකියාව තිබේ ද?



7.6 රූපය ▲ ඉහළ ස්ථානයකින් ජලය පහළට ගලා ඒම

සෑම විටම ගලා යාමකට ලක් වනුයේ ඉහළ ස්ථානයක ඇති ජලයයි. නිදසුනක් ලෙස ඉහළ ටැංකියක හෝ ඉහළ ප්‍රදේශයක ජලාශයක් තුළ ඇති ජලය දැක්විය හැකි ය. එනම් ඉහළ ස්ථානයක ඇති ජලය තුළ ශක්තිය ගබඩා වී ඇති බවත් එම ජලයට කාර්යය කිරීමේ හැකියාවක් ඇති බවත් පැහැදිලි වේ.





එතීමට පෙර     එතීමෙන් පසු

7.7 රූපය ▲ සර්පිල දුන්න

වයින් කිරීම මගින් ක්‍රියා කරන ඔරලෝසුවක් හෝ සෙල්ලම් කාරයක් සලකා බලමු. වයින් කිරීමේ දී සිදුවන්නේ සර්පිල දුන්නක් එතීමයි. දුන්න එතීමේ දී සිදුවන්නේ ඒ තුළ ශක්තිය ගබඩා වීමයි. එතැන් සිට උපකරණය ක්‍රියා කිරීමට අවශ්‍ය ශක්තිය සපයනුයේ එතූ දුන්න මගිනි. දුන්න එතීමේ දී එහි හැඩය වෙනස් වීම සිදු වේ.

- **පිහිටීමේ වෙනසක් නිසා හෝ හැඩය වෙනස් වීමක් නිසා වස්තුවක් තුළ ගබඩා වන ශක්තිය විභව ශක්තිය ලෙස හැඳින්වේ.**



7.8 රූපය ▲ - දුන්න සහිත ඔරලෝසුවක ඇතුළත කොටසක්

ඉහළ ජලාශයක ඇති ජලයේත්, ඔතන ලද දුන්නක් තුළත් ගබඩා වී ඇත්තේ විභව ශක්තිය බව දැන් ඔබට පැහැදිලි වනු ඇත. දුන්න දිග හැරීමේ දී එහි ගබඩා වී ඇති විභව ශක්තිය ක්‍රමයෙන් චාලක ශක්තිය බවට පත් වේ.

## ක්‍රියාකාරකම 7.5

### සෙල්ලම් කරත්තයක් සෑදීම

අවශ්‍ය ද්‍රව්‍ය :- හිස් ටින් එකක් හෝ නූල් ඔතන බොබිනයක්, රබර් පටියක්, 20 cmක් පමණ දිග සවිමත් කම්බියක්

ක්‍රමය :-

- ටින් එක ස්ථාන දෙකකින් සිදුරු කර රබර් පටියක් ඒ තුළින් යවන්න. (රූපයේ පරිදි)
- කම්බි නවා එහි දෙකෙළවර රබර් පටිය ගැට ගසන්න.
- ඔබ සකසාගත් සෙල්ලම් කරත්තයෙහි රෝදය අතින් කරකැවීමෙන් රබර් පටිය ඔතාගන්න.
- දැන් සෙල්ලම් කරත්තය මේසය මත තබා නිරීක්ෂණය කරන්න.





7.9 රූපය ▲

- සෙල්ලම් කරත්තය තවදුරටත් අලංකාර ලෙස නිර්මාණය කරන අයුරු සලකා බලන්න.
- සෙල්ලම් කරත්තය චලනය වීම සඳහා අවශ්‍ය ශක්තිය ලැබුණේ කෙසේ ද?

## ස්ව අධ්‍යයන අභ්‍යාස

1. විභව ශක්තිය ගබඩා කළ හැකි අවස්ථා පහක් සඳහන් කරන්න.

විභව ශක්තිය හා චාලක ශක්තිය යන ශක්ති ආකාර පොදුවේ යාන්ත්‍රික ශක්තිය ලෙස හඳුන්වයි.

## 7.3 විද්‍යුත් ශක්තිය

විද්‍යුතය ප්‍රයෝජනවත් ශක්තියක් බව ඔබ විසින් අධ්‍යයනය කර ඇත. එම කරුණු සිහිපත් කරමින් ක්‍රියාකාරකම 7.6 හි යෙදෙමු.

### ක්‍රියාකාරකම 7.6

- විදුලිය භාවිතයෙන් සිදු කරනු ලබන කාර්ය සිහිපත් කරමින් විද්‍යුතය ප්‍රයෝජනයට ගන්නා අවස්ථා ලැයිස්තු ගත කරන්න.
- ඔබ කණ්ඩායම සටහන් කළ කරුණු සාකච්ඡා කරන්න.

ඔබ සටහන් කළ කරුණු සමහරක් පහත රූප සටහන් තුළ තිබේ ද යන්න පරීක්ෂා කරන්න.



මෝටරයක් කරකැවීම



සෙල්ලම් කාරයක් ක්‍රියාකරවීම



බල්බයක් දැල්වීම



ඉස්ත්‍රික්කයකින් රෙදි මැදීම

7.10 රූපය

බොහෝ කාර්ය ඉටුකර ගැනීම සඳහා අවශ්‍ය වන ශක්තියක් ලෙස විද්‍යුත් ශක්තිය නම් කළ හැකි ය. විද්‍යුත් ශක්තිය මගින් විදුලි පංකා කරකැවීම, ජලය පොම්ප කිරීම, ආලෝකය නිපදවා ගැනීම, තාපය නිපදවා ගැනීම වැනි ප්‍රයෝජන රාශියක් ලබා ගත හැකි ය.

විද්‍යුත් ශක්තියෙන් ක්‍රියා කරන උපකරණ කිහිපයක් හා ඒවායේ ප්‍රයෝජන දැක්වෙන පහත වගුව සම්පූර්ණ කරන්න.

වගුව 7.3

| උපකරණය | ප්‍රයෝජනය |
|---|---|
| කුඩා විදුලි මෝටරය | |
| පරිගණකය | |
| විදුලි ඉස්ත්‍රික්කය | |
| | |
| | |

## ක්‍රියාකාරකම 7.7

### විදුලියෙන් ක්‍රියා කරන සීනුවක් සෑදීම

අවශ්‍ය ද්‍රව්‍ය :-

කිරල ඇබයක් හෝ රබර් ඇබයක්, ලෑලි කැබැල්ලක් (10 cm x 10 cm), විදුලි මෝටරයක්, සීනු පියනක්, තහඩු කැබැල්ලක්, වියළිකෝෂ දෙකක්, යකඩ ඇණ හා වයර් කැබලි

ක්‍රමය :-

- යකඩ ඇණය මගින් ලෑලි කැබැල්ල මත සීනු පියන සම්බන්ධ කරන්න.
- විදුලි මෝටරයේ ඇක්සලයට කිරල ඇබය සවි කරන්න.
- විදුලි මෝටරයට සම්බන්ධ කළ කිරල ඇබය යන්තම් සීනු පියනේ ගෑවෙන ලෙස විදුලි මෝටරය ලෑල්ලට සවි කරන්න (තහඩුව මගින්).
- වියළි කෝෂ මගින් මෝටරයට විදුලිය සපයන්න.
- සීනු හඬ ඇසෙන ලෙස සීනු පියන සහ විදුලි මෝටරය සකසන්න.
- සීනුව ක්‍රියාත්මක වීමේ දී සිදුවන ශක්ති පරිණාමනය ලියා දක්වන්න.



7.11 රූපය

- මෙම උපකරණය තව දුරටත් වැඩි දියුණු කරගත හැකි ක්‍රම සාකච්ඡා කරන්න.

## 7.4 ධ්වනි (ශබ්ද) ශක්තිය

ගිගිරුම් හඬ ඇතිවන ඇතැම් අවස්ථාවල දී ඔබ නිවසේ දොර ජනේල දෙදරනු ඔබ අත් විඳ ඇත. වාහනයක අධික නලා හඬ ඇතැම්විට කනට වේදනාකාරී වේ. කුරුලු හඬ, මිහිරි සංගීත හඬ වැනි ශබ්ද සඳහා අප ඇලුම් කරනවා මෙන් ම අමිහිරි ශබ්ද සඳහා අප දක්වන්නේ අකමැත්තකි. ශබ්ද සතුව ද ශක්තිය පවතී. මේ පිළිබඳ අවබෝධ කර ගැනීම සඳහා පහත ක්‍රියාකාරකම සිදු කරමු.

### ක්‍රියාකාරකම 7.8

**අවශ්‍ය ද්‍රව්‍ය** :-ගුවන් විදුලි යන්ත්‍රයක්, කඩදාසියක්, කුඩා පොලිස්ටයරීන් කැබලි කිහිපයක්

**ක්‍රමය** :-

- ගුවන් විදුලි යන්ත්‍රය උඩු අතට තබා එහි හඬ තරමක් වැඩි කරන්න.
- කඩදාසි කොළය මත කුඩා පොලිස්ටයරීන් කැබලි කිහිපයක් තබා ගුවන් විදුලි යන්ත්‍රයට ඉහළින් අල්ලන්න.
- නිරීක්ෂණ සටහන් කරගන්න.



7.12 රූපය

- ශබ්දය නිසා කඩදාසිය දෙදරීම මෙන් ම පොලිස්ටයරීන් කැබලි ඉහළ - පහළ චලනය වීම නිරීක්ෂණය කළ හැකි ය. එනම් ශබ්දය සතුව ශක්තියක් ඇතිබව පැහැදිළි වේ.
- ශබ්දය සතු ශක්තිය හඳුන්වනුයේ **ධ්වනි ශක්තිය** ලෙස ය. ගුවන් විදුලි යන්ත්‍රයක් තුළ හඬ නිපදවීමේ දී සිදුවන ශක්ති පරිණාමනය පහත පරිදි වේ.

විද්‍යුත් ශක්තිය ⟶ ධ්වනි ශක්තිය

### අමතර දැනුමට

දේශනයක් හෝ රැස්වීමක් වැනි අවස්ථාවක සාමාන්‍ය කටහඬෙහි ඇති ධ්වනි ශක්තිය ප්‍රමාණවත් නොවන බැවින් විද්‍යුතය භාවිතයෙන් ධ්වනිය වර්ධනය කර විකාශනය කරයි. මේ සඳහා භාවිත කරන යන්ත්‍ර ශබ්ද විකාශන යන්ත්‍ර ලෙස හැඳින්වේ.

**පැවරුම 7.3**

- ධ්වනි ශක්තිය ප්‍රයෝජනවත් ලෙස භාවිත කරන අවස්ථා හතරක් නම් කරන්න

## 7.5 ආලෝක ශක්තිය

ආලෝකය මගින් අපට ලැබෙන වැදගත් ප්‍රයෝජනයක් නම් පෙනීම ඇති වීමයි. මේ නිසා ආලෝකය නිපදවා ගැනීමට අතීතයේ සිට අද දක්වා විවිධ උපක්‍රම භාවිත කරයි. එසේම හරිත ශාක විසින් ආහාර නිපදවීම හෙවත් ප්‍රභාසංශ්ලේෂණය සඳහා ද ආලෝක ශක්තිය භාවිත කරයි.

**පැවරුම 7.4**

- ආලෝක ප්‍රභව සහ ඒවායේ ආලෝකය නිපදවීම සඳහා භාවිත කර ඇති ද්‍රව්‍ය වගුගත කරන්න.





7.13 රූපය

වගුව 7.4

| ආලෝක ප්‍රභවය | ආලෝකය නිපදවීම සඳහා භාවිත කර ඇති ද්‍රව්‍ය |
|---|---|
| විදුලි පන්දම | වියළි කෝෂ |
| ඉටිපන්දම | ............................................... |
| පන්දම/හුළු අත්ත | ............................................... |
| කුප්පි ලාම්පුව | ............................................... |

පෙනීම ඇති කර ගැනීමට අමතරව ආලෝකය භාවිතයෙන් සිදු කර ගන්නා තවත් කාර්ය බොහෝ ය. ඉන් එක් කාර්යයක් ලෙස විදුලිය උත්පාදනය දැක්විය හැකි ය.

**ක්‍රියාකාරකම 7.9**

අවශ්‍ය ද්‍රව්‍ය :- සූර්ය කෝෂය, විදුලි මෝටරය, විදුලි පන්දම් බල්බය

ක්‍රමය :- • සූර්ය කෝෂයට විදුලි මෝටරය සවිකර ආලෝකයට නිරාවරණය කරන්න.



7.14 රූපය

- නිරීක්ෂණ සටහන් කරගන්න.
- විදුලි මෝටරය ඉවත් කර විදුලි පන්දම් බල්බය සම්බන්ධ කරන්න.
- නිරීක්ෂණ මගින් පැහැදිලි වන්නේ කුමක් දැයි සාකච්ඡා කරන්න.

ඉහත ක්‍රියාකාරකමෙහිදී විදුලි මෝටරය හා විදුලි බල්බය ක්‍රියාත්මක වූයේ ආලෝක ශක්තිය නිසා ය. මේ අනුව ආලෝක ශක්තිය විවිධ කාර්ය සඳහා යොදාගත හැකි බව තවදුරටත් පැහැදිලි වනු ඇත.

පෘථිවිය මතට ආලෝකය සැපයෙන ප්‍රධාන ප්‍රභවය වන්නේ සූර්යයා ය.

දිනපතා විශාල ආලෝක ශක්ති ප්‍රමාණයක් සූර්යයාගේ සිට පෘථිවි තලය මත පතිත වුව ද ප්‍රයෝජනවත් ලෙස යොදා ගනුයේ එම ශක්තියෙන් ඉතා සුළු ප්‍රමාණයකි. ඉතා විශාල ශක්ති ප්‍රමාණයක් අපතේ යයි. එබැවින් වර්තමානයේ සූර්යයාගෙන් ලැබෙන ආලෝක ශක්තිය වැඩිපුර භාවිතයට ගැනීමට යොමු වෙමින් පවතී.

සූර්ය කෝෂයක් මගින් විදුලිය උත්පාදනයේ දී සිදුවන ශක්ති පරිණාමනය

**ආලෝක ශක්තිය ⟶ විද්‍යුත් ශක්තිය**

ආලෝකය සතු ශක්තිය භාවිතයෙන් හරිත ශාක විසින් ආහාර නිපදවයි. මෙම ක්‍රියාවලිය ප්‍රභාසංශ්ලේෂණය ලෙස හැඳින්වේ.
එහි දී ආලෝක ශක්තිය ආහාර තුළ ගබඩා වෙයි. මුළු මහත් ජෛව ලෝකයටම ශක්තිය සපයන්නේ මෙම ආහාර මගිනි.

**ස්ව අධ්‍යයන අභ්‍යාස**

1. ආලෝක ශක්තිය ප්‍රයෝජනයට ගන්නා වෙනත් අවස්ථා ලැයිස්තු ගත කරන්න.

## 7.6 තාපජ ශක්තිය

ගිනි මැලයක් ආසන්නයේ සිටින විට ඔබට කුමක් දැනේ ද? එසේ අපට දැනෙනුයේ තාපජ ශක්තියයි.

බොහෝ කාර්ය කරගැනීම සඳහා වැදගත් වන ඉතා ප්‍රයෝජනවත් ශක්තියක් ලෙස තාපජ ශක්තිය හැඳින්විය හැකි ය.

අපගේ ආහාර වේල සැකසීම සඳහා මෙන් ම වෙනත් බොහෝ කාර්ය සඳහා ද තාපජ ශක්තිය භාවිත කරයි.

තාපජ ශක්තිය පිළිබඳව අවබෝධ කර ගැනීම සඳහා 7.10 ක්‍රියාකාරකම සිදු කරමු.

## ක්‍රියාකාරකම 7.10

අවශ්‍ය ද්‍රව්‍ය :- වීදුරු බෝතලයක් (750 ml), එය ගිල්ලවිය හැකි ප්‍රමාණයේ බඳුනක්, බැලූනයක්


7.15 රූපය

ක්‍රමය :-

- හිස් බෝතලයේ කටට බැලූනය සවි කරන්න.
- බෝතලය උණු වතුර සහිත බඳුනෙහි සෙමින් ගිල්වන්න.
- නිරීක්ෂණ සටහන් කරන්න.
- නිරීක්ෂණ සඳහා හේතු සාකච්ඡා කරන්න.

බැලූනය විශාල වීමට හේතුව තාපය සතු ශක්තිය මගින් බඳුන තුළ ඇති වූ වාතයේ පරිමාව වැඩි කිරීමයි.

තාප ශක්තිය මගින් කළ හැකි දේ බොහෝ ය. තාපය සතු ශක්තිය මගින් සිදුවන තවත් දෑ කිහිපයක් ක්‍රියාකාරකම 7.11 මගින් ඔබට පැහැදිලි වනු ඇත.

## ක්‍රියාකාරකම 7.11

අවශ්‍ය ද්‍රව්‍ය :- ඉටි පන්දමක්, PVC බටයක්, කඩදාසියක්, ජලය ස්වල්පයක් දැමූ කැකෑරුම් නළයක්, පරීක්ෂා නළ අඬුව, කෝව අඬුව


7.16 රූපය

ක්‍රමය :-

- ඉටි පන්දම දල්වන්න.
- කඩදාසිය ඉටි පන්දම් දැල්ලට ළං කර බලන්න.
- PVC බටය රත් කර නවන්න.
- ජලය සහිත පරීක්ෂා නළය තදින් රත් කරන්න.
- එක් එක් අවස්ථාව සඳහා නිරීක්ෂණ සටහන් කරන්න.
- නිරීක්ෂණ සඳහා හේතු සාකච්ඡා කරන්න.

තාපය නිසා ද්‍රව්‍යවල හැඩය වෙනස් වීම, උණු වීම, ගිනි ගැනීම, වාෂ්ප වීම, වර්ණය වෙනස් වීම වැනි දේ සිදු වේ. මීට හේතුව තාපය සතු ශක්තියයි.

වර්තමානයේ තාපජ ශක්තිය භාවිතයෙන් විදුලි උත්පාදනය, හුමාල එන්ජින් ක්‍රියාකරවීම ඇතුළු තවත් කාර්ය සිදු කරනු ලැබේ. තාපජ ශක්තිය භාවිතයෙන් ක්‍රියාත්මක වන ඇටවුමක් නිර්මාණය කරමු.

## ක්‍රියාකාරකම 7.12

### හුමාල බමරයක් සෑදීම

අවශ්‍ය ද්‍රව්‍ය :- කුඩා ලෝහ ටින් එකක්, ඇලුමිනියම් තහඩුවක්, කිරල ඇබයක්, කම්බි කැබලි, තෙපාව, දාහකය



7.17 රූපය

ක්‍රමය :-

- ටින් බඳුනේ පියන මත කුඩා සිදුරක් විදින්න.
- ටින් බඳුන තුළට ජලය ස්වල්පයක් එක් කර පියන වසන්න.
- කිරල ඇබයට තහඩු කැබලි සවි කිරීමෙන් සෑදූ තල බමරය සිදුරට ඉහළින් රඳවන්න. (මේ සඳහා කම්බි කැබලි යොදාගත හැකි ය.)
- ඇටවුම තෙපාව මත තබා දාහකයෙන් රත් කරන්න.
- නිරීක්ෂණ සඳහා හේතු සාකච්ඡා කරන්න.

ඉහත ආකාරයට හුමාලයෙන් ක්‍රියා කරන විශාල තල බමරවලට ඩයිනමෝ සම්බන්ධ කර කරකැවීමෙන් තාප බලාගාරවල විදුලිය නිපදවාගනු ලබයි.





7.18 රූපය ▲ තාප විදුලි බලාගාරයක කොටස්

## ස්ව අධ්‍යයන අභ්‍යාස

1. තාප විදුලි බලාගාරයක සිදුවන ශක්ති පරිණාමනය ලියන්න

සුළං ඇතිවීම, ජල චක්‍රය ක්‍රියා කිරීම, රෙදි වියළීම ආදී කාර්ය සඳහා වැදගත් වන්නේ ද තාපජ ශක්තියයි.

**පැවරුම 7.5**

- එදිනෙදා ජීවිතයේ දී තාපජ ශක්තිය භාවිත කරන අවස්ථා පහක් ලැයිස්තු ගත කරන්න.

## 7.7 රසායනික ශක්තිය

රසායනික ද්‍රව්‍ය ඝන, ද්‍රව හෝ වායු ලෙස පැවතිය හැකි ය. බොහොමයක් රසායනික ද්‍රව්‍ය තුළ අධික ශක්තියක් ගබඩා වී පවතී.

රසායනික ද්‍රව්‍ය තුළ ගබඩා වී ඇති ශක්තිය **රසායනික ශක්තිය** ලෙස හැඳින්වේ.

රසායනික ද්‍රව්‍ය තුළ ගබඩා වී ඇති ශක්තිය හෙවත් රසායනික ශක්තිය පිළිබඳ ව අවබෝධ කර ගැනීම සඳහා පහත ක්‍රියාකාරකමෙහි යෙදෙමු.

**ක්‍රියාකාරකම 7.13**

අවශ්‍ය ද්‍රව්‍ය :- ඉටි පන්දම, ගිනි පෙට්ටිය, තනුක හයිඩ්‍රොක්ලෝරික් අම්ලය, මැග්නීසියම් පටි කැබැල්ල, පරීක්ෂා නළය

ක්‍රමය :-

- ගිනි කූරක් දල්වා නිරීක්ෂණය කරන්න.
- ඉටි පන්දම දල්වා මේසය මත සවි කරන්න. මිනිත්තු කිහිපයක් නිරීක්ෂණය කර ඔබ නිරීක්ෂණ සටහන් කරන්න.
- තනුක හයිඩ්‍රොක්ලෝරික් අම්ලය සහිත පරීක්ෂා නළයට මැග්නීසියම් පටි කැබැල්ල දමන්න. නිරීක්ෂණ සටහන් කරන්න.





7.19 රූපය
රසායනික විපර්යාස කිහිපයක්

ඉටි පන්දම, තනුක හයිඩ්‍රොක්ලෝරික් අම්ලය, මැග්නීසියම් පටි කැබැල්ල, ගිනි කූර ආදිය රසායනික ද්‍රව්‍ය වේ. ඔබ මීට පෙර අධ්‍යයනය කළ වියළි කෝෂය තුළ ද අන්තර්ගත වන්නේ රසායනික ද්‍රව්‍යයයි. ක්‍රියාකාරකම 7.13 හි දී නිදහස් වූයේ රසායනික ද්‍රව්‍ය තුළ ගබඩා වී තිබූ ශක්තියයි.

## පැවරුම 7.6

- රසායනික ශක්තිය වෙනත් ශක්තියක් බවට පත්වන අවස්ථා සොයා බලා ලියා දක්වන්න.

අප ගන්නා ආහාර, භූමිතෙල්, දර වැනි ඉන්ධන වර්ග, රතිඤ්ඤා, ගිනි කූරු හා බෝම්බ වැනි විනාශකාරී ද්‍රව්‍යවල ක්‍රියාකාරීත්වයට යොදා ගෙන ඇත්තේ ද රසායන ද්‍රව්‍යවල අඩංගු රසායනික ශක්තියයි.

වියළි කෝෂයකින් විද්‍යුතය නිපදවීමේ දී සිදුවන ශක්ති පරිණාමනය

**රසායනික ශක්තිය ⟶ විද්‍යුත් ශක්තිය**

අප මෙතෙක් අධ්‍යයනය කළ ශක්ති ආකාරවලට අමතරව තවත් බොහෝ ශක්ති ආකාර පවතී. ඒවා පිළිබඳ ඉදිරි ශ්‍රේණිවල දී අධ්‍යයනය කරනු ඇත.

## සාරාංශය

- කාර්ය කිරීම සඳහා ශක්තිය අවශ්‍ය වේ.
- විවිධ කාර්ය සඳහා යොදා ගන්නා විවිධ ශක්ති ආකාර පවතී. ඒවා කිහිපයක් නම් යාන්ත්‍රික ශක්තිය, විද්‍යුත් ශක්තිය, ආලෝක ශක්තිය, තාපජ ශක්තිය, ධ්වනි ශක්තිය සහ රසායනික ශක්තියයි.
- එක් ශක්ති ආකාරයක් වෙනත් ශක්ති ආකාරයක් බවට පත් කිරීම ශක්ති පරිණාමනයයි.
- අප භාවිත කරන බොහෝ උපකරණ ක්‍රියාත්මකවීමේ දී එක් ශක්ති ආකාරයක් වෙනත් ශක්ති ආකාර බවට පරිවර්තනය වීම සිදු වේ.

## අභ්‍යාස

1. චන්ද්‍රකාන්ත නම් ශිෂ්‍යයා පාසල් පැමිණෙන්නේ බස් රථයෙනි. එහි නළාව ඉහළ හඬකින් යුක්ත ය. බස් රථය තුළ ආලෝකය ඇති කිරීමට විදුලි බුබුළු සවි කර ඇත. බොහෝ වේලාවක් ධාවනය කරන විට බස් රථයේ එන්ජිම අසල රත් වීම සිදු වේ.

I. බස් රථය තුළ හඳුනාගත හැකි ශක්ති ආකාර හතරක් ලියන්න.

II. රථය තුළ විවිධ ශක්ති ඇති කිරීම සඳහා මූලික වූ ශක්ති වර්ගය කුමක් ද?

III. ඔබ සඳහන් කළ එක් එක් ශක්ති ආකාරය මගින් ලබා ගත හැකි වෙනත් ප්‍රයෝජන තුන බැගින් සඳහන් කරන්න.

2. පහත වගුව සම්පූර්ණ කරන්න.

| උපකරණය | උපකරණය ක්‍රියාත්මක වීමට යොදා ගත් ශක්තිය | උපකරණය ක්‍රියා කිරීමේ දී උත්පාදනය වන වෙනත් ශක්ති ආකාර |
|---|---|---|
| විදුලි බල්බය | විද්‍යුත් ශක්තිය | ........................................ |
| රූපවාහිනිය | ........................................ | ........................................ |
| විදුලි සීනුව | ........................................ | ........................................ |
| වයින් කරන ඔරලෝසුව | ........................................ | ........................................ |
| ජල රෝදය | ජලය සතු චාලක ශක්තිය | ........................................ |

## පාරිභාෂික වචන

| | | |
|---|---|---|
| කාර්යය | - | Work |
| ශක්තිය | - | Energy |
| තාපජ ශක්තිය | - | Heat energy |
| විද්‍යුත් ශක්තිය | - | Electrical energy |
| චාලක ශක්තිය | - | Kinetic energy |
| විභව ශක්තිය | - | Potential energy |
| ආලෝක ශක්තිය | - | Light energy |
| රසායනික ශක්තිය | - | Chemical energy |
| ධ්වනි ශක්තිය | - | Sound energy |

# පෘථිවියේ ස්වභාවය

# 08

## 8.1 පෘථිවියේ ව්‍යුහය

අප ජීවත්වන පෘථිවිය, සෞරග්‍රහ මණ්ඩලයට අයත් ග්‍රහලෝක අතරින් සූර්යයාගේ සිට තුන්වන ග්‍රහලෝකය යි.




8.1 රූපය ▲ සෞරග්‍රහ මණ්ඩලය

සෞරග්‍රහ මණ්ඩලයේ අනෙකුත් ග්‍රහලෝක හා සසඳන විට, පෘථිවියේ මතුපිට කඳු, ගංගා, මුහුදු, ගස් වැල්, වනාන්තර ආදිය පිහිටන බැවින් ඉතා අලංකාර ය. ජීවීන්ට ජීවත්වීමට සුදුසු පරිසර තත්ත්ව පෘථිවිය මත පවතින බැවින් පෘථිවියෙහි ජීවය පවතියි. එහෙත් මෙවැනි පරිසර තත්ත්ව අනෙකුත් ග්‍රහලෝකවල දැනට සොයාගෙන නොමැති බැවින් ඒවායේ ජීවය නැතැයි සැලකේ.



8.2 රූපය ▲ පෘථිවිය මතුපිට හමුවන විවිධ පරිසර

පෘථිවියේ ඇතුළත ස්වභාවය කෙබඳු ද?

පෘථිවියේ ඇතුළත ස්වභාවය පිළිබඳව භූ විද්‍යාඥයෝ විවිධ ක්‍රම ඔස්සේ තොරතුරු ලබා ගනිති.

ගිනිකඳු පිපිරීම්වල දී පෘථිවිය අභ්‍යන්තරයේ ඇති පාෂාණ වර්ග පොළොව මතුපිටට පැමිණෙයි. ඒවා පරීක්ෂා කිරීමෙන් පෘථිවියේ ඇතුළත පිළිබඳව තොරතුරු ලබා ගත හැකි වේ.

භූ විද්‍යාඥයන්ට, පෘථිවියේ ඇතුළත පිළිබඳව වැඩියෙන් ම තොරතුරු ලැබෙන්නේ භූ කම්පන පිළිබඳ ව අධ්‍යයනය කිරීමෙනි. භූ කම්පනයක දී පෘථිවිය ඇතුළත පිහිටි විශාල පාෂාණ චලනය වීමක් සිදු වේ. මෙම චලන නිසා **භූ කම්පන තරංග** හට ගනී. මෙම තරංග, පෘථිවියේ විවිධ ස්තර හරහා ගමන් කර පෘථිවිය මතුපිටට ළඟා වෙයි.

පෘථිවියේ විවිධ ස්ථානවල භූ කම්පනමාන පිහිටුවා ඇත. මේවා මගින් ස්වයංක්‍රීය ව භූ කම්පන තරංග සටහන් කරනු ලැබේ. (ශ්‍රී ලංකාවේ පල්ලෙකැලේ ප්‍රදේශයේ භූ කම්පනමානයක් පිහිටුවා ඇත.) පෘථිවියේ විවිධ ස්තර හරහා භූ කම්පන තරංග ගමන් කරන වේග වෙනස් ය. එම වේග මැනීමෙන් පෘථිවියේ අභ්‍යන්තර ස්තරවල ස්වභාවය පිළිබඳ ව තොරතුරු ලබා ගත හැකි ය.

එම තොරතුරු ඇසුරෙන් පෘථිවියේ අභ්‍යන්තරය එකිනෙකට වෙනස් ස්තර කිහිපයකින් යුක්ත බව සොයා ගෙන ඇත. රූපයේ දක්වෙන පරිදි පෘථිවි අභ්‍යන්තරය ප්‍රදේශ තුනක ට බෙදිය හැකි ය. එනම් **හරය, ප්‍රාවරණය** හා **කබොල** වශයෙනි.



8.3 රූපය
පෘථිවියේ හරස්කඩ


8.4 රූපය
තැම්බූ බිත්තරයක හරස්කඩ

මෙය තැම්බූ බිත්තරයක් හරස් අතට කැපූ විට පෙනෙන දර්ශනයට අනුරූප වේ. ඒ අනුව බිත්තරයක කොටස් සමඟ පෘථිවියේ අභ්‍යන්තර ප්‍රදේශ මෙසේ සංසන්දනය කළ හැකි ය.

| | | |
|---|---|---|
| **බිත්තර කහමදය** | → | **පෘථිවියේ හරය** |
| **බිත්තර සුදුමදය** | → | **පෘථිවියේ ප්‍රාවරණය** |
| **බිත්තර කටුව** | → | **පෘථිවියේ කබොල** |

පෘථිවියේ මතුපිට සිට එහි ඇතුළතට යාමේ දී හමු වන ප්‍රදේශ පිළිබඳ තොරතුරු පහත දැක්වේ.

### කබොල (Crust)

පෘථිවියේ සියලු ම ජීවීන් ජීවත් වන මතුපිට කොටස, එහි කබොල නම් වේ. පෘථිවියේ විශාලත්වය සමග සසඳන විට, කබොල ඉතා තුනී ස්තරයකි. කඳුවැටි, තැනිතලා හා සාගර පිහිටා ඇත්තේ මෙම කබොලෙහි ය. එහි ඝනකම පෘථිවියේ තැනින් තැනට වෙනස් ය. ගැඹුරු සාගර පතුලේ දී එහි ඝනකම කිලෝමීටර් 5ක් පමණ වේ. ගොඩබිම දී එහි ඝනකම කිලෝමීටර් 35ක් තරම් වේ. කබොල සෑදී ඇත්තේ පාෂාණ හා පස්වලිනි. එහි වැඩිපුර ම ඇත්තේ ඔක්සිජන්, සිලිකන් හා ඇලුමිනියම් යන මූලද්‍රව්‍ය ය.

අපේ ජීවිතය පවත්වා ගැනීමට අවශ්‍ය බොහෝ දේ ලැබෙන්නේ පෘථිවි කබොලෙනි.

නිදසුන් - ගොඩනැගිලි ද්‍රව්‍ය, ලෝහ, ෆොසිල ඉන්ධන, බෝග වගාව සඳහා අවශ්‍ය පස

### ප්‍රාවරණය (Mantle)

පෘථිවියේ කබොලට යටින් කිලෝමීටර 2900 ක පමණ ඝනකමින් යුතු ප්‍රදේශය ප්‍රාවරණයයි. මෙය පාෂාණවලින් සෑදී ඇත. මෙම පාෂාණවල ඔක්සිජන්, සිලිකන්, මැග්නීසියම් හා අයන් (යකඩ) යන මූලද්‍රව්‍ය බහුල ව අඩංගු වේ. ප්‍රාවරණයේ ඉහළ කොටස ඝන පාෂාණවලින් යුක්ත ය. අධික උෂ්ණත්වය නිසා එහි පහළ කොටසේ පාෂාණ ද්‍රව තත්ත්වයේ පවතී.




8.5 a රූපය
පෘථිවියේ ඇතුළත ස්වභාවය

### හරය (Core)

පෘථිවියේ ඇතුළතින් ම ඇත්තේ හරය යි. එහි ඝනකම කිලෝමීටර 3500 පමණ වේ. හරයේ ඉහළ කොටස, ද්‍රව වූ අයන් (යකඩ) හා නිකල් යන ලෝහවලින් සෑදී ඇත. මෙම කොටසේ උෂ්ණත්වය සෙල්සියස් අංශක 4400 ත් 5000 ත් අතර වේ (4400 $^0$C - 5000 $^0$C).




8.5. b රූපය
පෘථිවියේ ඇතුළත ස්තරවල ඝනකම

හරයේ ඇතුළත කොටස අධික පීඩනය නිසා, ඝන ව පවතී. එහි උෂ්ණත්වය සෙල්සියස් අංශක 5000 ට වඩා වැඩි ය. සූර්යයාගේ මතුපිට පවතින තරම් අධික උෂ්ණත්වයක් මෙහි ඇත.

වගුව 8.1 ▾ පෘථිවියේ අභ්‍යන්තර ස්තර

| පෘථිවියේ කොටස | ඝනකම | සංයුතිය | අඩංගු මූලද්‍රව්‍ය | විශේෂ කරුණු |
|---|---|---|---|---|
| කබොල | ගැඹුරු සාගර පතුල 5 km<br>ගොඩබිම 35 km | පාෂාණ, පස් | ඔක්සිජන්, සිලිකන්, ඇලුමිනියම් | ඉතා තුනී ස්තරයකි. |
| ප්‍රාවරණය | 2900 km | ඝන පාෂාණ හා ද්‍රව පාෂාණ | ඔක්සිජන්, සිලිකන්, මැග්නීසියම්, අයන් | ඉහළ කොටස ඝන පාෂාණවලින් ද පහළ කොටස අධික උෂ්ණත්වය නිසා ද්‍රව පාෂාණවලින් ද සෑදී ඇත. |
| හරය | 3500 km | හරයේ ඉහළ කොටස, ද්‍රව වූ අයන් (යකඩ) හා නිකල් යන ලෝහවලින් සෑදී ඇත. | ද්‍රව වූ අයන් හා නිකල් | උෂ්ණත්වය සෙල්සියස් අංශක 4400 ත් 5000 ත් අතර වේ. |

## ක්‍රියාකාරකම 8.1

**පෘථිවියේ අභ්‍යන්තර ව්‍යුහය ආදර්ශනය කිරීම**

**අවශ්‍ය ද්‍රව්‍ය :-** 35 x 35 cm පමණ කාඩ්බෝඩ් කැබැල්ලක්, ලී කුඩු, වර්ණ තුනකින් තීන්ත, ගම්

**ක්‍රමය :-**

- කාඩ්බෝඩ් කැබැල්ලේ හරි මැද 1 cm අරය සහිත වෘත්තයක් අඳින්න.
- එය සමග ඒකකේන්ද්‍රික වන සේ 7 cm අරය සහිත වෘත්තයක් අඳින්න.
- එම වෘත්ත දෙකම සමග ඒකකේන්ද්‍රික වන සේ 13 cm අරය සහිත වෘත්තයක් අඳින්න.
- දැන් ඔබට 8.5 b රූපය වැනි රූපයක් ලැබී ඇත.
- ලී කුඩු, වර්ණ තුනකින් වර්ණ ගන්වා ඉහත රූපයේ ආකාරයට ප්‍රදේශ තුනෙහි අලවන්න. එම ප්‍රදේශ නම් කරන්න.
- ඔබේ නිර්මාණය පන්තියේ ප්‍රදර්ශනය කරන්න.

## ක්‍රියාකාරකම 8.2

**පෘථිවියේ අභ්‍යන්තර ව්‍යුහය නිරූපණය කරන ත්‍රිමාන ආකෘතියක් සෑදීම**

**අවශ්‍ය ද්‍රව්‍ය :-** වර්ණ 3කින් ක්ලේ, තියුණු පිහියක්

**ක්‍රමය :-**

- එක් වර්ණයක ක්ලේ යොදාගෙන කුඩා දෙහි ගෙඩියක් තරම් ගෝලයක් සාදන්න.
- එම ගෝලය මැදි වන සේ කලින් ගෝලයේ විෂ්කම්භයෙන් බාගයක් පමණ ඝනකමින් යුක්ත ව වෙනත් වර්ණයක ක්ලේ තට්ටුවක් අලවන්න.
- දෙවන ක්ලේ තට්ටුව මත වෙනත් වර්ණයකින් හැකි තරම් තුනී ක්ලේ තට්ටුවක් අලවන්න.



8.6 රූපය ▲ පෘථිවි ව්‍යුහ ආකෘතියක් සෑදීම

- සාදාගත් ක්ලේ ගෝලය තියුණු පිහියකින් හරි මැදින් දෙකට කපන්න.
- පෘථිවියේ ඇතුළත ස්තර පිහිටා ඇති ආකාරය, ඉහත ගෝලයේ හරස්කඩින් පැහැදිලිව පෙනේ.

**පැවරුම 8.1**

ක්‍රියාකාරකම 8.2 හි දී සාදන ලද ආකෘතිය, මැටි/ පොලිස්ටයිරීන්/ කඩදාසි පල්ප වැනි ද්‍රව්‍යයක් භාවිත කර නිර්මාණය කරන්න. එම ද්‍රව්‍ය යොද නිර්මාණය කළ පෘථිවි ගෝල ආකෘතියෙහි හරස්කඩ කපා නිරීක්ෂණය කරන්න.

## 8.2 භූ තැටි සහ භූ තැටි චලනය

පෘථිවි කබොල චලනය වන බව ඔබ දන්නෙහි ද? එසේ පෘථිවි කබොල චලනය වීමෙන් සිදු වූ ජීවිත හා දේපළ හානිය පිළිබඳව ඔබ අසා ඇති. 2015 අප්‍රේල් 25වන දින නේපාලයේ කත්මණ්ඩු අගනුවර ආසන්නයේ ඇති වූ භූ කම්පනය සිදු වී ඇත්තේ යුරේසියානු හා ඉන්දියානු භූ තැටි මායිමෙහි ය. මෙම ප්‍රදේශය ආශ්‍රිත ව 1905 වර්ෂයේ හා 1934 වර්ෂයේ දී ද විනාශකාරී භූ කම්පන වාර්තා වී ඇත.

-අන්තර්ජාල ප්‍රවෘත්තියක්-




8.7 රූපය ▲ 2015/04/25 වන දින භූ කම්පනය සිදු වූ ස්ථානය

පෘථිවියේ මතුපිට ස්තරය කබොල යි. එය භූ තැටි නම් වූ කොටස්වලට බෙදී ඇති බව සොයාගෙන ඇත. මෙම භූ තැටි එකිනෙකට සාපේක්ෂ ව චලනය වන බවට ද සාක්ෂි ලැබී ඇත.



8.8 රූපය ▲ පෘථිවියේ භූ තැටි දක්වන සිතියම

## පැවරුම 8.2

පෘථිවියේ භූ තැටි දක්වන 8.8 රූපය අධ්‍යයනය කරන්න. එහි ශ්‍රී ලංකාව, ඉන්දියාව, නේපාලය යන රටවල් අයත් වන භූ තැටි මොනවාදැයි සොයා බලන්න.

පෘථිවියේ භූ තැටි එකිනෙකට සාපේක්ෂ ව චලනය විය හැකි ආකාර තුනක් ඇත.



8.9 රූපය ▲

a රූපයේ දැක්වෙන ආකාරයේ චලනයක දී භූ තැටි දෙක එකිනෙකින් ඈත් වේ. මෙහි දී ගැඹුරු අගාධයක් (Trench) ඇති විය හැකි ය.

b රූපයේ දැක්වෙන ආකාරයේ චලනයක දී එක් භූ තැටියක් අනෙක් තැටිය පහළට තෙරපා ඉහළට ගමන් කරයි. මෙහි දී භූ කම්පනයක් ඇති විය හැකි ය.

c රූපයේ දැක්වෙන ආකාරයේ චලනයක දී භූ තැටි එකිනෙක මත ලිස්සා යයි. මෙහි දී ද භූ කම්පන ඇති විය හැකි ය.

භූ තැටි චලනය වන්නේ ඉතා සෙමිනි. එය වසරකට 1-2 cm පමණ වේ.

මෙම චලන හඳුනා ගත හැක්කේ භූ තැටි මායිම්වල දී ය. භූ තැටි මායිම් බොහොමයක් පිහිටා ඇත්තේ සාගර පතුලෙහි ය. භූ තැටි මායිමක් ගොඩබිමෙහි පිහිටා ඇති විට භූ තැටි චලනය පහසුවෙන් හඳුනාගත හැකි වේ.



8.10 රූපය ▲ සැන් ඇන්ඩ්‍රියාස් විභේදය

එවැනි භූ තැටි මායිමක් උතුරු අමෙරිකාවේ පිහිටා ඇත. එය සැන් ඇන්ඩ්‍රියාස් විභේදය (San Andreas Fault) නම් වේ. උතුරු අමෙරිකාවේ කැලිෆෝනියා ප්‍රාන්තයෙහි 1000 km පමණ දිග පැල්මක් ලෙස එය මෙසේ ගුවනට දිස් වේ.

මෙම භූ තැටි මායිම දෙපස උතුරු ඇමෙරිකා භූ තැටිය හා පැසිෆික් භූ තැටිය පිහිටා ඇත. මෙම භූ තැටි වසරකට 2.5 cm පමණ එකිනෙක ඇතිල්ලීමෙන් ලිස්සා යයි. මෙම භූ තැටි මායිම අසල නිතර භූමිකම්පා ඇති වේ.

භූ තැටි, ප්‍රාවරණයේ පහළ ඇති ද්‍රව කොටස මත පාවෙමින් පවතී. එම ද්‍රව කොටසේ ඇතිවන චලන හේතුවෙන් භූ තැටි චලනය වේ.



8.11 රූපය ▲ භූතැටි ලිස්සා යන අයුරු

## පැවරුම 8.3

පෘථිවියේ භූ විද්‍යාත්මක ඉතිහාසය ගවේෂණය කිරීම සඳහා සාහිත්‍ය විමර්ශනයක් සිදු කර වාර්තාවක් සකස් කරන්න. ඒ සඳහා සුදුසු මූලාශ්‍ර වන අන්තර්ජාලය, භූ විද්‍යාත්මක සොයාගැනීම් වාර්තා, භූගෝල විද්‍යා පොත්පත් ආදිය පරිහරණය කරන්න.

## ක්‍රියාකාරකම 8.3

**භූ තැටි චලනය ආදර්ශනය කිරීම**

**අවශ්‍ය ද්‍රව්‍ය :-** ඝනකම ලෙල්ලක් සහිත කහ පැහැති දොඩම් ගෙඩියක්, පිහියක්



8.12 රූපය
දොඩම් ගෙඩියක් යොදාගෙන භූතැටි චලන ආදර්ශනය කිරීම

**ක්‍රමය :-**

- දොඩම් ගෙඩියෙහි ලෙල්ල ගෙඩියේ තිබිය දී ම විවිධ හැඩැති කොටස්වලට කපන්න.
- දොඩම් ගෙඩිය දෙඅත්ලට මැදි කර ගන්න. සෙමින් තද කරමින් ලෙල්ලෙහි වෙන් වූ කොටස්වල මායිම් චලනය වන ආකාරය නිරීක්ෂණය කරන්න.

## අමතර දැනුමට

2004 වර්ෂයේ දී ශ්‍රී ලංකාවේ මුහුදුබඩ ප්‍රදේශවලට සුනාමි රළ මගින් දැඩි ලෙස හානි සිදුවිය. මෙම සුනාමි රළ හටගත්තේ සුමාත්‍රා දූපත් අසල භූ තැටිවල ගැටීමක් නිසා හටගත් භූමිකම්පාවක් හේතුවෙනි.

පෘථිවියේ අප ජීවත් වන කොටස වන පෘථිවි කබොල නිශ්චල දෙයක් නොවන බව දැන් ඔබට වැටහෙනවා ඇත.

## සාරාංශය

- සෞරග්‍රහ මණ්ඩලයේ ග්‍රහලෝක අතරින් ජීවීන්ගේ පැවැත්ම සඳහා සුදුසු ම ග්‍රහලෝකය වන්නේ පෘථිවිය යි.
- පෘථිවියේ අභ්‍යන්තරය හරය, ප්‍රාවරණය හා මතුපිටින් කබොල නම් වූ ප්‍රධාන ස්තර තුනකින් යුක්ත වේ.
- පෘථිවි කබොල එකිනෙකට සාපේක්ෂ ව චලනය වන භූ තැටි ගණනාවකින් සෑදී ඇත.
- භූ තැටි මායිම් ආශ්‍රිත ව ගිනිකඳු පවතින අතර භූ කම්පන ද හට ගනී.

## අභ්‍යාස

1. අලිපේර ගෙඩියක හරස්කඩක් මෙම රූපයේ දැක්වේ.



පෘථිවියේ හරස්කඩක අඩංගු වන හරය, ප්‍රාවරණය හා කබොල යන ප්‍රදේශ අනුරූප වන්නේ අලිපේර ගෙඩියෙහි කුමන කොටස්වලට ද?

2.

I. පෘථිවි කබොලෙන් මිනිසාට ලැබෙන සම්පත් හතරක් සඳහන් කරන්න.

II. ශ්‍රී ලංකාව පිහිටා ඇත්තේ කිනම් භූ තැටියක ද? ශ්‍රී ලංකාවට ප්‍රබල භූ කම්පන බල නොපෑමට හේතුව කුමක් විය හැකි ද?

III. භූ විද්‍යාඥයින් පෘථිවියේ අභ්‍යන්තර ව්‍යුහය පිළිබඳ තොරතුරු ලබා ගන්නා ක්‍රම දෙකක් සඳහන් කරන්න.

IV. නිතර භූ කම්පනවලට ලක්වන රටවල් තුනක් නම් කරන්න.

### පාරිභාෂික වචන

| | | |
|---|---|---|
| හරය | - | Core |
| ප්‍රාවරණය | - | Mantle |
| කබොල | - | Crust |
| පාෂාණ | - | Rocks |
| භූ තැටි | - | Tectonic plates |
| භූ තැටි චලනය | - | Plate tectonics |
| භූ කම්පන | - | Earthquakes |
| භූ කම්පන තරංග | - | Seismic waves |
| භූ කම්පනමානය | - | Seismometer |
| ගිනි කඳු | - | Volcanoes |

# 09 ආලෝකය

## 9.1 ඡායා සහ උප ඡායා ඇති වීම

පහත දැක්වෙන රූප කෙරෙහි ඔබේ අවධානය යොමු කරන්න.



9.1 රූපය ▲ ඡායා/සෙවනැලි ඇති වන අවස්ථා කිහිපයක්

ඡායා හෙවත් සෙවනැලි ඇති වන අවස්ථා කිහිපයක් එම රූපවල දැක්වේ. එදිනෙදා ජීවිතයේ දී සෙවනැලි හෙවත් ඡායා නිරතුරුවම වාගේ දැකිය හැකිවේ. ඡායා හෙවත් සෙවනැලි ඇති වන්නේ කෙසේ ද? ඒ පිළිබඳ සොයා බැලීම සඳහා පහත දැක්වෙන ක්‍රියාකාරකමෙහි යෙදෙමු.

### ක්‍රියාකාරකම 9.1

**අවශ්‍ය ද්‍රව්‍ය :-** ඉටි පන්දමක්, සුදු තිරයක්, කුඩා බෝලයක්

**ක්‍රමය :-** මේසය මත ඉටි පන්දම දල්වා එය ඉදිරියේ බෝලයක් තබා රූපයේ දැක්වෙන පරිදි එහි ඡායාව තිරයක්/බිත්තියක් මතට ලබා ගන්න.



9.2 රූපය ▲

මෙහි දී තිරය මත බෝලයේ සෙවනැල්ල හෙවත් ඡායාව හොඳින් නිරීක්ෂණය කළ හැකි වේ.

ඉටි පන්දමෙන් නිකුත් වන ආලෝකය පාරාන්ධ වස්තුවක් වන බෝලය තුළින් ගමන් නොකිරීම හේතුවෙන් තිරය මත බෝලයේ ඡායාවක් ඇති වේ.

ඡායා පිළිබඳ තවදුරටත් අධ්‍යයනය සඳහා පහත ක්‍රියාකාරකමෙහි යෙදෙමු.

## ක්‍රියාකාරකම 9.2

**අවශ්‍ය ද්‍රව්‍ය :-** විදුලි පන්දමක්, තිරයක්, කුඩා බෝලයක්, පාරදෘශ්‍ය වීදුරු තහඩුවක්, පාරභාසක වීදුරු තහඩුවක් (මල් වීදුරු), කාඩ්බෝඩ් තහඩුවක්

**ක්‍රමය :-**

- විදුලි පන්දම දල්වා, රූපයේ දැක්වෙන පරිදි පාරදෘශ්‍ය වීදුරු තහඩුව තබා බෝලයෙහි ඡායාව තිරයක්/බිත්තියක් මතට ලබා ගන්න.




9.3 රූපය

- ඡායාවෙහි ස්වභාවය නිරීක්ෂණය කරන්න.
- පසුව පාරදෘශ්‍ය වීදුරු තහඩුව ඉවත් කර ඒ වෙනුවට පාරභාසක වීදුරු තහඩුව තබා තිරය මත ඇති වන ඡායාව හොඳින් නිරීක්ෂණය කරන්න.
- ඉන්පසු පාරභාසක වීදුරු තහඩුව ඉවත් කර ඒ වෙනුවට කාඩ්බෝඩ් තහඩුව තබා තිරය මත ඡායාවක් ගත හැකි දැයි බලන්න.

ඉහත ඔබගේ නිරීක්ෂණ පහත සඳහන් රූප සටහන් සමඟ සසඳා බලන්න.




9.4 රූපය

පාරදෘශ්‍ය වීදුරු තහඩුව තැබූ අවස්ථාවේ දී තිරය මත පැහැදිලි ඡායාවක් ද පාරභාසක වීදුරු තහඩුව තැබූ අවස්ථාවේ දී අපැහැදිලි ඡායාවක් ද (බොඳවූ) ලැබේ. කාඩ්බෝඩ් තහඩුව තැබූ අවස්ථාවේ දී තිරය මතට බෝලයෙහි ඡායාව ලබා ගත නොහැකි ය. එයට හේතුව විදුලි පන්දමෙන් නිකුත් වන ආලෝකය පාරාන්ධ ද්‍රව්‍යයක් වන කාඩ්බෝඩ් හරහා ගමන් නොකිරීමයි.

වස්තු මත සූර්යාලෝකය වැටෙන ප්‍රමාණය හා දිශාව අනුව සෙවනැලිවල දිග හා දිශාව වෙනස් වේ. ඡායා හෙවත් සෙවනැලිවල දිග අතීතයේ දී කාලය මැනීමට අභිමත ඒකක ලෙස භාවිත කර ඇත.

නිදසුන-:- හිරු තැටිය



9.5 රූපය ▲ හිරු තැටිය

ඡායා හෙවත් සෙවනැලි මගින් විවිධ නිර්මාණ කළ හැකි ය. අත් සහ අත්වල ඇඟිලි මගින් කරන ලද නිර්මාණ කිහිපයක් පහත දැක්වේ.



9.6 රූපය ▲ ඡායාවලින් කළ හැකි නිර්මාණ කිහිපයක්

## පැවරුම 9.1

ඡායාවලින් ඉහත 9.6 රූපයේ දැක්වෙන ආකාරයේ නිර්මාණ කළ හැකිදැයි අත්හදා බලන්න. ඔබේ මිතුරන් සමඟ එවැනි නිර්මාණ එකතුවක් ඉදිරිපත් කරන්න.

සෙවනැලි භාවිතයෙන් කරනු ලබන විවිධ නිර්මාණාත්මක ප්‍රසංග නූතන කලා ලෝකයේ ජනප්‍රිය වෙමින් පවතී. එවැනි ප්‍රසංග අවස්ථා කිහිපයක් පහත දැක්වේ.



9.7 රූපය ▲ සෙවනැලි ආශ්‍රිත ප්‍රසංග

## පැවරුම 9.2

සෙවනැලිවලින් කරන ලද නිර්මාණාත්මක ප්‍රසංග වීඩියෝ පටයකින් හෝ අන්තර්ජාලයෙන් හෝ නරඹා රස විඳින්න.

ඡායා පිළිබඳ තවදුරටත් අධ්‍යයනය කිරීම සඳහා පහත දැක්වෙන ක්‍රියාකාරකමෙහි යෙදෙමු.

## ක්‍රියාකාරකම 9.3

අවශ්‍ය ද්‍රව්‍ය :- විදුලි පන්දමක්, තිරයක්, කුඩා බෝලයක්

ක්‍රමය :-

- විදුලි පන්දම දල්වා එය ඉදිරියේ බෝලයක් තබා රූපයේ දැක්වෙන පරිදි එහි ඡායාව තිරයක්/බිත්තියක් මතට ලබා ගන්න.



9.8 රූපය ▲

- එහි තද අඳුරු පැහැති ඡායාව සහ එය වටා පිහිටි තද පැහැය අඩු උප ඡායාවත් හඳුනා ගන්න.
- බෝලය සහ විදුලි පන්දම අතර දුර වෙනස් කරමින් ඡායාව සහ උප ඡායාව වෙනස් වන ආකාරය හොඳින් නිරීක්ෂණය කරන්න.

ඔබගේ නිරීක්ෂණ පහත රූප සටහන් සමඟ සසඳා බලන්න.




9.9 රූපය

බෝලය සහ විදුලි පන්දම ඉතා ආසන්නව පිහිටි අවස්ථාවේ දී තිරය මත වැටෙන ඡායාව පැහැදිලි නැත. ඡායාව වටා උප ඡායාව ද නිරීක්ෂණය කළ හැකි ය.

විදුලි පන්දම සහ බෝලය අතර දුර වැඩිවත්ම උප ඡායාව ක්‍රමයෙන් නොපෙනී යයි. විදුලි පන්දම ඈතට ගෙන යන විට ඡායාව පමණක් නිරීක්ෂණය කළ හැකි වේ. මේ අනුව පැහැදිලි ඡායාවක් ලබා ගත හැකි වන්නේ ආලෝක ප්‍රභවය වස්තුවට ඈතින් පිහිටන අවස්ථාවේදී ය.

උප ඡායාව ඇතිවන ආකාරය පිළිබඳ ව තවදුරටත් සොයා බලමු.

## ක්‍රියාකාරකම 9.4

**අවශ්‍ය ද්‍රව්‍ය :-** පොලිතින් කැබැල්ලක්, විදුලි පන්දමක්, රතු හා නිල් මාකර් පෑන් / ප්ලැටිග්නම්, කුඩා බෝලයක්, තිරයක්



9.10 රූපය

**ක්‍රමය :-**

- පොලිතින් කැබැල්ල විදුලි පන්දමේ මුහුණතට හොඳින් ගැට ගසා එය අර්ධ වෘත්ත දෙකකට බෙදා ගන්න.

- එහි එක් අර්ධ වෘත්තයක් නිල් පාටින් ද අනෙක රතු පාටින් ද වර්ණ කර ගන්න. එසේ නැතහොත් වර්ණ දෙකක සෙලෝෆේන් කඩදාසි යොදා ගන්න.
- ඉන්පසු විදුලි පන්දම දල්වා තිරය මතට විදුලි පන්දමින් එන ආලෝකය යොදාගත් වර්ණ දෙකේ මිශ්‍ර වර්ණයක් වනසේ විදුලි පන්දම ඉදිරියට හා පසුපසට ගෙන එන්න.
- ඉන් පසු බෝලයේ ඡායාව තිරය මතට වැටෙන පරිදි විදුලි පන්දම හා තිරය අතරට බෝලය ගෙන එන්න. (9.10 රූපයේ දැක්වෙන පරිදි)
- ඡායාවේ සහ උප ඡායාවේ වර්ණ හොඳින් නිරීක්ෂණය කරන්න.

ඔබගේ නිරීක්ෂණ පහත නිරීක්ෂණ සමග සසඳ බලන්න.



9.11 රූපය

උප ඡායාවේ ඉහළ කොටස එක් වර්ණයකින් ද (නිල් පාටින්) පහළ කොටස අනෙක් වර්ණයෙන් (රතු පාටින්) ද දිස් වේ.

## අමතර දැනුමට

ඉහත 9.4 ක්‍රියාකාරකම තවදුරටත් පැහැදිලි කිරීම




ආලෝක ප්‍රභවයෙන් නිකුත් වන මුළු ආලෝකය ම බෝලය තුළින් ගමන් නොකිරීම නිසා තිරය මත ඡායාව ඇති වේ. උප ඡායාවේ ඉහළ කොටසට ආලෝකය ලැබෙනුයේ ප්‍රභවයේ නිල් කොටසින් ය. පහළ කොටසට ආලෝකය ලැබෙනුයේ ප්‍රභවයේ රතු කොටසින් ය. ඒ බව ඉහත රූප සටහනින් හා ඔබ කළ ක්‍රියාකාරකමෙන් පැහැදිලි වේ. ආලෝක ප්‍රභවයෙන් නිකුත් වන අනිකුත් ආලෝක කිරණ නිසා (දෙපසින් නිකුත් වන) උප ඡායාව ඇති වේ. මේ අනුව උප ඡායාව කොටස ඇති වන්නේ ප්‍රභවයේ එක් කොටසකින් පමණක් ලැබෙන ආලෝකය නිසා බව පැහැදිලි වේ.

**අමතර දැනුමට**

සූර්යග්‍රහණ සහ චන්ද්‍රග්‍රහණ ඇති වන්නේ සෙවනැලි (ඡායා) ඇතිවීම හේතුවෙනි.




සූර්යයා සහ චන්ද්‍රයා අතරට පෘථිවිය පැමිණි විට සහ මේවා සියල්ල එකම සරල රේඛාවක පිහිටි විට පෘථිවියේ සෙවනැල්ල (ඡායාව) චන්ද්‍රයා මතට වැටීම නිසා චන්ද්‍රග්‍රහණයක් ඇති වේ.




සූර්යයා සහ පෘථිවිය අතරට චන්ද්‍රයා පැමිණි විට චන්ද්‍රයාගේ සෙවනැල්ල පෘථිවිය මතට වැටී සූර්යයා නොපෙනී යයි. මෙම සිදුවීම සූර්යග්‍රහණයක් ලෙස හැඳින්වේ.

## 9.2 තල දර්පණ මගින් සෑදෙන ප්‍රතිබිම්බ

මුහුණ බලන කණ්ණාඩියක් තුළින් ඔබේ මුහුණ බලන්න. කණ්ණාඩිය තුළ ඔබේ ප්‍රතිබිම්බය ඔබට දැකගත හැකි ය. ඔබේ ප්‍රතිබිම්බය සෑදුනේ කෙසේ ද? හොඳින් සූර්යාලෝකය ඇති දිනයක මුහුණ බලන කණ්ණාඩියක් මගින් එළිමහනේ සිට සූර්යාලෝකය නිවස තුළ ඇති බිත්තියක් මතට ගත් අවස්ථා ඔබට මතක ඇති.



9.12 රූපය ▲ - ආලෝක පරාවර්තනය නිරූපණය

මෙහි දී මුහුණ බලන කණ්ණාඩිය මගින් සිදුවන්නේ එය මතට වැටෙන ආලෝකය නිවස තුළට හරවා යැවීමකි.



9.13 රූපය ▲ ආලෝක පරාවර්තනය

මෙසේ ආලෝක කිරණ යම් පෘෂ්ඨයක පතිත වීමෙන් පසු එම මාධ්‍යය ඔස්සේ ම ආපසු හැරී ගමන් කිරීම ආලෝක පරාවර්තනය ලෙස හැඳින්වේ.

සුමට ඔප දැමූ පෘෂ්ඨවලින් හොඳින් ආලෝකය පරාවර්තනය වේ.

සුමට දිලිසෙන පෘෂ්ඨ දර්පණ ලෙස ක්‍රියා කරයි. දර්පණවලින් ප්‍රතිබිම්බ සෑදෙන්නේ ආලෝක පරාවර්තනයේ ප්‍රතිඵලයක් ලෙස ය. 9.14 රූපයේ දැක්වෙන්නේ දර්පණයකින් සෑදුණ ප්‍රතිබිම්බයකි.



9.14 රූපය ▲ තල දර්පණයකින් පෙනෙන ප්‍රතිබිම්බය

සුමට දිලිසෙන සමතල පෘෂ්ඨයක් තල දර්පණයක් ලෙස හැඳින්විය හැකි ය. රූප සටහනක තල දර්පණයක් දක්වන්නේ මෙසේ ය (9.15 රූපය)







9.15 රූපය ▲ තල දර්පණය

9.16 රූපය ▲ තල දර්පණයකින් ආලෝකය පරාවර්තනය වන අයුරු

තල දර්පණයක් ඉදිරියේ තබන ලද ඉටිපන්දමක ප්‍රතිබිම්බය පහත රූපයේ දැක්වේ.

තල දර්පණවලින් සෑදෙන ප්‍රතිබිම්බ පිළිබඳ සොයා බැලීම සඳහා පහත දැක්වෙන ක්‍රියාකාරකමෙහි යෙදෙමු.



9.17 රූපය

## ක්‍රියාකාරකම 9.5

අවශ්‍ය ද්‍රව්‍ය :-

තල දර්පණයක්, ඉටි පන්දමක්, අඩි කෝදුව

ක්‍රමය :-

- රූපයේ දැක්වෙන පරිදි තල දර්පණයක් ඉදිරියේ දැල් වූ ඉටි පන්දමක් සවි කරන්න.
- තල දර්පණයෙන් සෑදෙන ප්‍රතිබිම්බයේ ස්වභාවය හොඳින් නිරීක්ෂණය කරන්න.



9.18 රූපය තල දර්පණයකින් ප්‍රතිබිම්බයක් නිරීක්ෂණය කිරීම

- ප්‍රතිබිම්බයේ ස්වභාවය පිළිබඳ ඔබගේ නිරීක්ෂණ පහත වගුවෙහි සටහන් කරන්න.

9.1 වගුව

| ප්‍රතිබිම්බයේ ලක්ෂණ | නිරීක්ෂණය |
|---|---|
| තිරයකට ගතහැකි/නොහැකි බව | |
| උඩුකුරු /යටිකුරු බව | |
| ප්‍රතිබිම්බයේ ප්‍රමාණය | |

සෑදෙන ප්‍රතිබිම්බය තිරයක් මතට ගත හැකි ප්‍රතිබිම්බ තාත්වික ප්‍රතිබිම්බ ලෙස ද තිරයක් මතට ගත නොහැකි ප්‍රතිබිම්බ අතාත්වික ප්‍රතිබිම්බ ලෙස ද හඳුන්වයි.




9.19 රූපය

තල දර්පණයක් වෙනුවට වීදුරු තහඩුවක් භාවිතයෙන් ප්‍රතිබිම්බය සෑදෙන ස්ථානය හා එහි විශාලත්වය අධ්‍යයනය කිරීමට 9.6 ක්‍රියාකාරකමෙහි යෙදෙමු.

## ක්‍රියාකාරකම 9.6

අවශ්‍ය ද්‍රව්‍ය :- වීදුරු තහඩුවක්, සර්වසම ඉටිපන්දම් දෙකක්, අඩි රූලක්, තිරයක්

ක්‍රමය :-



9.20 රූපය

- රූපයේ දැක්වෙන පරිදි වීදුරු තහඩුවක් ඉදිරියේ අඩි රූලක් තබා එහි කෙළවර දැල්වූ ඉටිපන්දමක් සවි කරන්න.
- වීදුරු තහඩුවෙන් පෙනෙන ප්‍රතිබිම්බයේ ස්වභාවය නිරීක්ෂණය කරන්න. දර්පණයෙන් දුටු ආකාරයට ම ඔබට ප්‍රතිබිම්බයක් දිස්වනු ඇත. (මෙම ක්‍රියාකාරකම අඳුරු ස්ථානයක දී සිදු කිරීම වඩාත් සුදුසු ය)
- ප්‍රතිබිම්බයේ පිහිටීම සොයා බැලීමට පහත ආකාරයට කළ හැකි ය.
- අනෙක් ඉටිපන්දම ප්‍රතිබිම්බය සෑදි ඇති ස්ථානයේ තබන්න. ප්‍රතිබිම්බයේ හා මෙම ඉටිපන්දමේ විශාලත්ව සංසන්දනය කරන්න.
- වීදුරු තහඩුව සිට පළමු ඉටිපන්දමට දුර (වස්තු දුර) හා වීදුරු තහඩුව සිට දෙවන ඉටිපන්දමට දුර (ප්‍රතිබිම්බ දුර) මනින්න.
- ඔබගේ නිරීක්ෂණ පහත වගුවෙහි සටහන් කරන්න.

9.2 වගුව

| ප්‍රතිබිම්බයේ ලක්ෂණ | නිරීක්ෂණය |
|---|---|
| ප්‍රතිබිම්බයේ ප්‍රමාණය | |
| වීදුරු තහඩුවේ සිට පළමු ඉටිපන්දමට දුර | |
| වීදුරු තහඩුවේ සිට දෙවන ඉටිපන්දමට දුර | |

තල දර්පණයෙන් සෑදෙන ප්‍රතිබිම්බයක පහත සඳහන් ලක්ෂණ නිරීක්ෂණය කළ හැකි වේ.

- තිරයකට ගත නොහැකි ය (අතාත්වික ය).
- උඩුකුරු ය.
- ප්‍රතිබිම්බයේ ප්‍රමාණය වස්තුවේ ප්‍රමාණයට සමාන ය.
- දර්පණයේ සිට වස්තුවට ඇති දුර (වස්තු දුර) දර්පණයේ සිට ප්‍රතිබිම්බයට ඇති දුරට (ප්‍රතිබිම්බ දුර) සමාන වේ.
- ප්‍රතිබිම්බයේ වම දකුණ මාරු වී ඇත. (පාර්ශ්වික අපවර්තනය වී ඇත).



9.21 රූපය

## පාර්ශ්වික අපවර්තනය

### ක්‍රියාකාරකම 9.7

**අවශ්‍ය ද්‍රව්‍ය** :- තල දර්පණයක්, O, B, D හා P ලෙස සකසා ගත් අක්ෂර

**ක්‍රමය** :- තල දර්පණයක් ඉදිරියේ ඉංග්‍රීසි අක්ෂර එක බැගින් තබා සෑදෙන ප්‍රතිබිම්බ හොඳින් නිරීක්ෂණය කරන්න.




9.22 - A රූපය




9.22 - B රූපය

B, D සහ P අක්ෂරවල ප්‍රතිබිම්බවල වම දකුණ මාරු වී පෙනෙනු බව නිරීක්ෂණය කළ හැකි ය. O අක්ෂරයෙහි ප්‍රතිබිම්බයෙහි එසේ වම දකුණ මාරුවීමක් සිදුවුව ද එහි සමමිතික භාවය නිසා වෙනස නොපෙනේ.

තල දර්පණයක් තුළින් යම් කිසි වස්තුවක ප්‍රතිබිම්බය පෙනෙන විට ප්‍රතිබිම්බයේ වම දකුණ මාරු වී පෙනීම **පාර්ශ්වික අපවර්තනය** නම් වේ.

9.23 රූපයේ දැක්වෙන තල දර්පණය තුළින් ප්‍රතිබිම්බ පෙනෙන ආකාරයෙන් පාර්ශ්වික අපවර්තනය තවදුරටත් පැහැදිලි වනු ඇත.



9.23 රූපය ප්‍රතිබිම්බයේ වම දකුණ මාරු වී පෙනෙන ආකාරය



ගිලන් රථවල AMBULANCE යන වචනය පහත දැක්වෙන ආකාරයට යොදා ඇත්තේ කුමක් නිසාදැයි සිතා බලන්න.

### පැවරුම 9.3

ඉංග්‍රීසි හෝඩියේ අකුරුවලින් පාර්ශ්විකව අපවර්තනය වී පෙනෙන අකුරු හා එසේ නොවන ලෙස පෙනෙන අකුරු මොනවාදැයි සොයා බලා වගුගත කරන්න.

## බහු ප්‍රතිබිම්බ සෑදීම



9.24 රූපය ▲ බහු ප්‍රතිබිම්බ සෑදෙන අවස්ථා ස්වර්ණාභරණ වෙළෙඳසැලක්

ස්වර්ණාභරණ අලෙවිසැල්වල, පාවහන් අලෙවිසැල්වල භාණ්ඩ සංඛ්‍යාව කිහිප ගුණයකින් වැඩි කර පෙන්වීම සඳහා භාණ්ඩවලට පිටුපසින් හා පැත්තෙන් එකිනෙකට සමාන්තරව තල දර්පණ තබා සකස් කර ඇත. ඒවායින් ආලෝකය පරාවර්තනය වී ප්‍රතිබිම්බ රාශියක් එකවර නිරීක්ෂණය කළ හැකි වේ.

තල දර්පණ දෙකක් හෝ ඊට වැඩි සංඛ්‍යාවක් එකිනෙකට ආනතව හෝ සමාන්තරව තබා ඒ අතරින් වස්තුවක් තැබූ විට ප්‍රතිබිම්බ එකකට වඩා වැඩි සංඛ්‍යාවක් සෑදේ. මේවා බහු ප්‍රතිබිම්බ ලෙස හඳුන්වයි.

බහු ප්‍රතිබිම්බ පිළිබඳව තවදුරටත් සොයා බැලීමට පහත ක්‍රියාකාරකමෙහි යෙදෙමු.

### ක්‍රියාකාරකම 9.8

අවශ්‍ය ද්‍රව්‍ය : ඉටි පන්දමක්, තල දර්පණ දෙකක්, කෝණ මානය

ක්‍රමය :-

- තල දර්පණ දෙකක් ගෙන පළමුව ඒවා $90^0$ ක කෝණයකින් තබා ඒ අතරින් දැල් වූ ඉටි පන්දමක් තබන්න.
- සෑදෙන ප්‍රතිබිම්බ සංඛ්‍යාව නිරීක්ෂණය කරන්න (ගණන් කරන්න).
- පසුව තල දර්පණ දෙක අතර කෝණය $60^0$, $45^0$, $30^0$ වන එක් එක් අවස්ථාවේ දී සෑදෙන ප්‍රතිබිම්බ සංඛ්‍යාව නිරීක්ෂණය කරන්න.
- ඔබගේ නිරීක්ෂණ පහත ආකාරයට වගුගත කරන්න.




9.25 රූපය ▲

9.3 වගුව ▼

| තල දර්පණ දෙකක් අතර කෝණය (අංශක) | සෑදෙන ප්‍රතිබිම්බ සංඛ්‍යාව |
|---|---|
| 90 | |
| 60 | |
| 45 | |
| 30 | |

ඔබගේ නිරීක්ෂණ පහත තොරතුරු සමග සසඳා බලන්න.



9.26 රූපය
බහු ප්‍රතිබිම්බ ඇතිවන ආකාරය

9.4 වගුව

| තල දර්පණ දෙකක් අතර කෝණය (අංශක) | සෑදෙන ප්‍රතිබිම්බ සංඛ්‍යාව |
|---|---|
| 90 | 3 |
| 60 | 5 |
| 45 | 7 |
| 30 | 11 |

තල දර්පණ දෙක අතර කෝණය අඩුවන විට සෑදෙන ප්‍රතිබිම්බ සංඛ්‍යාව වැඩි වේ.

## පැවරුම 9.4

- තල දර්පණ දෙක අතර කෝණය ක්‍රමයෙන් කුඩා කරමින් සෑදෙන ප්‍රතිබිම්බ සංඛ්‍යාව නිරීක්ෂණය කරන්න.
- තල දර්පණ දෙක එකිනෙකට සමාන්තරව තබා ඒ අතර වස්තුවක් තැබූ විට නිරීක්ෂණය කළ හැකි ප්‍රතිබිම්බ සංඛ්‍යාව/ප්‍රතිබිම්බයේ ස්වභාවය සඳහන් කරන්න.
- ඔබේ පිළිතුර පිළිබඳව ගුරුතුමා/ගුරුතුමිය සමග සාකච්ඡා කරන්න.

## පැවරුම 9.5

එදිනෙදා ජීවිතයේ දී තල දර්පණවලින් බහු ප්‍රතිබිම්බ ප්‍රයෝජනයට ගෙන ඇත. එවැනි අවස්ථා කිහිපයක් සොයා බලා වාර්තා කරන්න.

### තල දර්පණ භාවිත වන අවස්ථා

- මුහුණ බලන කණ්ණාඩි ලෙසට
- වාහනය තුළ ඇති පසුපස බලන කණ්ණාඩිය ලෙසට
- අණ්වීක්ෂවල කදාව මතට ආලෝකය යොමු කිරීමට
- බහුරූපේක්ෂය නිර්මාණය කිරීමට
- පරික්ෂය නම් උපකරණය නිර්මාණය කිරීමට

බහු ප්‍රතිබිම්බ සෑදීම ප්‍රයෝජනයට ගන්නා අවස්ථාවක් ලෙස බහුරූපේක්ෂය හැඳින්විය හැකි ය. බහුරූපේක්ෂය නිර්මාණය කිරීමට පහත දැක්වෙන ක්‍රියාකාරකමෙහි නිරත වෙමු.

## ක්‍රියාකාරකම 9.9

**අවශ්‍ය ද්‍රව්‍ය :-** සමාන දිග හා පළලින් යුතු තල දර්පණ තීරු තුනක් (6cm දිග හා 2cm පළල) කළු කඩදාසි, ගම් ටේප්

**ක්‍රමය :-**

- රූපයේ දැක්වෙන පරිදි තල දර්පණ තීරු ත්‍රිකෝණාකාර ලෙස තබා කළු කඩදාසියකින් ආවරණය කර ගම් ටේප්වලින් හොඳින් ඔතා ගන්න.
- උපකරණයේ එක් කෙළෙවරක (කළු කඩදාසිවලින් ආවරණය කිරීමට පෙර) ට්‍රේසිං කඩදාසියක් රූපයේ පරිදි යොදා ගන්න.
- ට්‍රේසිං කඩදාසිය යෙදූ කෙළවරට පබළු වැනි ද්‍රව්‍ය දමා අනෙක් කෙළවරින් ඇස තබා නිරීක්ෂණය කරන්න. මල් පෙති/ පබළු සොලවමින් ඒවායේ පිහිටීම වෙනස් කරමින් නිරීක්ෂණය කරන්න.




9.27 රූපය

ඔබට විසිතුරු රටා නිරීක්ෂණය කළ හැකි වේ. එවැනි විසිතුරු රටා ඇති වන්නේ දර්පණ කිහිපයකින් ආලෝකය පරාවර්තනය හේතුවෙනි. බහුරූපේක්ෂයෙන් මැවෙන විසිතුරු රටා රෙදිපිළි, පිඟන් ගඩොල් ආදියේ මෝස්තර නිර්මාණය සඳහා භාවිත කෙරේ.



9.28 රූපය
බහුරූපේක්ෂයකින් මැවෙන විසිතුරු රටා

තල දර්පණවලින් සිදුවන ආලෝක පරාවර්තනය භාවිත කරමින් නිපදවන ලද උපකරණයක් ලෙස පරික්ෂය හැඳින්විය හැකි ය. පරික්ෂයක් නිර්මාණය කිරීම සඳහා පහත ක්‍රියාකාරකමෙහි නිරත වෙමු.

## ක්‍රියාකාරකම 9.10

අවශ්‍ය ද්‍රව්‍ය :- සර්වසම තල දර්පණ දෙකක්,
සනකම කාඩ්බෝඩ්, ඇලවුම් පටි

ක්‍රමය :-



9.29 රූපය

- රූපයේ දැක්වෙන පරිදි කාඩ්බෝඩ් නළ සකස් කරගෙන $45^0$ පමණ කෝණයකින් තල දර්පණ දෙක තබා උපකරණය සකස් කර ගන්න. මේ සඳහා ඔබේ ගුරුතුමා/ගුරුතුමියගේ සහයෝගය ලබා ගන්න.
- සාදා ගත් උපකරණය භාවිත කර විවිධ වස්තු නිරීක්ෂණය කරන්න.

පහළ මට්ටමක සිටිමින් ඉහළ මට්ටමක සිදුවන දෙයක් නිරීක්ෂණය සඳහා පරික්ෂය භාවිත කළ හැකි ය. සබ්මැරීනවල හා බංකරවල මෙය භාවිත වේ.

## පැවරුම 9.6

පරික්ෂය භාවිත වන වෙනත් අවස්ථා පිළිබඳව සොයා බලා වාර්තා කරන්න.

## පැවරුම 9.7

එදිනෙදා ජීවිතයේ දී තල දර්පණ භාවිත වන විවිධ අවස්ථා සඳහන් කරන්න.

# 9.3 වක්‍ර දර්පණ මගින් සෑදෙන ප්‍රතිබිම්බ




9.30 රූපය ▲ වක්‍ර පෘෂ්ඨ සහිත වස්තු කිහිපයක්

ලෝහ හැන්දක් තුළින් ඔබගේ මුහුණේ ප්‍රතිබිම්බය දැක තිබේ ද? හැන්දේ ඇතුළු පෘෂ්ඨයෙන් හා පිටත පෘෂ්ඨයෙන් එකිනෙකට වෙනස් ආකාරයේ ප්‍රතිබිම්බ ඔබට දැක ගත හැකි ය. මෙසේ සිදුවන්නේ හැන්දේ පෘෂ්ඨ වක්‍ර දර්පණ ලෙස ක්‍රියා කිරීම නිසා ය.

ප්‍රධාන වශයෙන් උත්තල හා අවතල යනුවෙන් වක්‍ර දර්පණ වර්ග දෙකකි. අවතල දර්පණයක පරාවර්තක වක්‍ර පෘෂ්ඨය ඇතුළට නැඹුරුව පවතී. උත්තල දර්පණයක පරාවර්තක වක්‍ර පෘෂ්ඨය පිටතට නෙරා පවතී.




9.31 රූපය ▲

ආලෝක කිරණයක් සරල රේඛා මගින් ද එහි ගමන් දිශාව රේඛාව මත ඇඳි ඊ හිසකින් ද නිරූපණය කළ හැකි බව ඔබ හය වන ශ්‍රේණියේ දී අධ්‍යයනය කර ඇත.

ආලෝක කදම්බයක් සෑදී ඇත්තේ ආලෝක කිරණ සමූහයක් එකතු වීමෙනි. සමාන්තර ආලෝක කදම්බ, අපසාරී ආලෝක කදම්බ හා අභිසාරී ආලෝක කදම්බ පහත ආකාරයට නිරූපණය කරනු ලැබේ.




9.32 රූපය ▲ ආලෝක කිරණ සහ කදම්බ

## අවතල දර්පණ

අවතල දර්පණයක් මතට සමාන්තර ආලෝක කදම්බයක් පතනය වූ පසු කුමක් සිදුවේ ද? ඒ පිළිබඳව සොයා බැලීමට පහත දැක්වෙන ක්‍රියාකාරකමෙහි යෙදෙමු.

**ක්‍රියාකාරකම 9.11**

අවශ්‍ය ද්‍රව්‍ය :- අවතල දර්පණයක්, තල දර්පණයක්

ක්‍රමය :-

- අවතල දර්පණයක් ගෙන එහි දිලිසෙන පෘෂ්ඨය මතට පටු සමාන්තර ආලෝක කදම්බයක් වැටීමට සලස්වන්න. (තල දර්පණයක් මගින් ආලෝක කදම්බය අවතල දර්පණය මත යොමු කළ හැකි ය.)
- පසුව සිදුවන දෑ නිරීක්ෂණය කරන්න.

ආලෝක කදම්බය අවතල දර්පණය ඉදිරියේ එක් ස්ථානයකට එකතු වන බව ඔබට නිරීක්ෂණය කළ හැකි ය.




9.33 රූපය

මෙසේ සමාන්තර ආලෝක කදම්බයක් දර්පණය ඉදිරියේ එක් ස්ථානයකට එකතුවීම ආලෝකය අභිසාරී වීම ලෙස හඳුන්වයි. එනිසා අවතල දර්පණ ආලෝකය **අභිසරණය** කිරීමට යොදා ගත හැකි ය.

උත්තල දර්පණයක් මතට පටු සමාන්තර ආලෝක කදම්බයක් පතනය වූ පසු කුමක් සිදුවේ ද? ඒ පිළිබඳ ව සොයා බැලීමට පහත දැක්වෙන ක්‍රියාකාරකමෙහි යෙදෙමු.

**ක්‍රියාකාරකම 9.12**

අවශ්‍ය ද්‍රව්‍ය :- උත්තල දර්පණයක්, තල දර්පණයක්, විදුලි පන්දමක්

ක්‍රමය :-

- උත්තල දර්පණයක් මතට සමාන්තර ආලෝක කදම්බයක් පතනය වීමට සලස්වන්න. මේ සඳහා තල දර්පණයක් භාවිත කළ හැකි ය.
- පසුව සිදුවන දේ නිරීක්ෂණය කරන්න.

උත්තල දර්පණයක් මතට පතනය වන ආලෝකය පරාවර්තනයෙන් පසුව විහිදී යනු නිරීක්ෂණය කළ හැකි ය. මෙසේ පරාවර්තනයෙන් පසු ආලෝකය විහිදී යාම **අපසරණය** ලෙස හඳුන්වයි. ඒ නිසා උත්තල දර්පණ අපසාරී දර්පණ වේ.



9.34 රූපය

## අවතල දර්පණය මගින් සෑදෙන ප්‍රතිබිම්බ

අවතල දර්පණයකින් සෑදෙන ප්‍රතිබිම්බවල ස්වභාවය නිරීක්ෂණය කිරීමට පහත දැක්වෙන ක්‍රියාකාරකමෙහි යෙදෙමු.

### ක්‍රියාකාරකම 9.13

**අවශ්‍ය ද්‍රව්‍ය :-**

අවතල දර්පණයක්, දර්පණ ආධාරකයක්, ඉටි පන්දමක්, තිරයක්, මීටර් කෝදුව

**ක්‍රමය :-**




9.35 රූපය

- අවතල දර්පණයක් ඉදිරියේ දර්පණයට ඉතාම ආසන්නව A ස්ථානයේ දැල්වූ කුඩා ඉටි පන්දමක් තබන්න.
- සෑදෙන ප්‍රතිබිම්බය තිරය මතට ලබා ගත හැකි දැයි බලන්න.
- ප්‍රතිබිම්බයේ ස්වභාවය නිරීක්ෂණය කරන්න. (මේ සඳහා ඔබේ ගුරුතුමා/ගුරුතුමියගේ සහාය ලබා ගන්න.)
- පසුව පිළිවෙළින් B,C,D ස්ථාන තෝරා ගැනීමට ගුරුතුමාගේ සහාය ලබා ගන්න. B,C,D ස්ථානවල ද ඉටිපන්දම තබා ප්‍රතිබිම්බයේ ස්වභාවය නිරීක්ෂණය කරන්න.
- ඔබගේ නිරීක්ෂණ පහත ආකාරයට වගු ගත කරන්න.

9.4 වගුව

| ඉටි පන්දම තැබූ ස්ථානය | ප්‍රතිබිම්බය තිරයකට ගත හැකි / නොහැකි බව | උඩුකුරු/යටිකුරු බව | ප්‍රතිබිම්බයේ ප්‍රමාණය |
|---|---|---|---|
| A | | | |
| B | | | |
| C | | | |
| D | | | |

ඔබගේ නිරීක්ෂණ පහත සඳහන් නිරීක්ෂණ සමග සසඳා බලන්න.

9.6 වගුව



9.36 රූපය
අවතල දර්පණයකින් ප්‍රතිබිම්බ සෑදෙන අවස්ථාවක්

| ඉටි පන්දම තැබූ ස්ථානය | ප්‍රතිබිම්බය තිරයකට ගත හැකි / නොහැකි බව | උඩුකුරු/ යටිකුරු බව | ප්‍රතිබිම්බයේ ප්‍රමාණය |
|---|---|---|---|
| A | නොහැකිය | උඩුකුරු | වස්තුවට වඩා විශාලයි |
| B | ගත හැකිය | යටිකුරු | වස්තුවට වඩා විශාලයි |
| C | ගත හැකිය | යටිකුරු | සමානයි. |
| D | ගත හැකිය | යටිකුරු | වස්තුවට වඩා කුඩායි |

## එදිනෙදා ජීවිතයේ දී අවතල දර්පණ භාවිත වන අවස්ථා

- රැවුල කැපීමේ දී මුහුණ බැලීම සඳහා භාවිත කරන කණ්ණාඩි ලෙස
- දන්ත වෛද්‍යවරුන්ට රෝගීන්ගේ දත් පරීක්ෂා කිරීම සඳහා
- පරාවර්තක දුරේක්ෂවල
- සූර්ය උඳුන් සකස් කර ගැනීම
- අන්වීක්ෂවල කදව මතට ආලෝකය යොමු කිරීම





9.37 රූපය

### පැවරුම 9.8

එදිනෙදා ජීවිතයේ දී අවතල දර්පණ භාවිත වන වෙනත් අවස්ථා ලැයිස්තුවක් සකස් කරන්න.

## උත්තල දර්පණ

උත්තල දර්පණවලින් සෑදෙන ප්‍රතිබිම්බවල ස්වභාවය නිරීක්ෂණය සඳහා පහත ක්‍රියාකාරකමෙහි යෙදෙමු.

## ක්‍රියාකාරකම 9.14



9.38 රූපය

අවශ්‍ය ද්‍රව්‍ය :-

උත්තල දර්පණයක්, දර්පණ ආධාරකයක්, ඉටි පන්දමක්, තිරයක්, මීටර් කෝදුව

ක්‍රමය :-

- උත්තල දර්පණයක් ඉදිරියේ දර්පණයට ආසන්නව A ස්ථානයේ දැල්වූ ඉටි පන්දමක් තබන්න.
- සෑදෙන ප්‍රතිබිම්බය තිරය මතට ලබා ගත හැකි දැයි බලන්න.
- ප්‍රතිබිම්බයේ ස්වභාවය නිරීක්ෂණය කරන්න.
- පසුව පිළිවෙළින් B, C ස්ථානවල දැල්වූ ඉටි පන්දම තබා සෑදෙන ප්‍රතිබිම්බවල ස්වභාවය නිරීක්ෂණය කරන්න.
- B, C ස්ථාන තෝරා ගැනීමට ගුරුතුමාගේ/ගුරුතුමියගේ සහාය ලබාගන්න.
- ඔබගේ නිරීක්ෂණ පහත ආකාරයට වගු ගත කරන්න.

9.7 වගුව

| ඉටි පන්දම තැබූ ස්ථානය | ප්‍රතිබිම්බය තිරයකට ගත හැකි / නොහැකි බව | උඩුකුරු/යටිකුරු බව | ප්‍රතිබිම්බයේ ප්‍රමාණය |
|---|---|---|---|
| A | | | |
| B | | | |
| C | | | |

ඔබගේ නිරීක්ෂණ පහත නිරීක්ෂණ සමග සසඳ බලන්න.


9.39 රූපය උත්තල දර්පණයකින් සෑදෙන ප්‍රතිබිම්බ

9.8 වගුව

| ඉටි පන්දම තැබූ ස්ථානය | ප්‍රතිබිම්බය තිරයකට ගත හැකි / නොහැකි බව | උඩුකුරු/ යටිකුරු බව | ප්‍රතිබිම්බයේ ප්‍රමාණය |
|---|---|---|---|
| A | නොහැකිය | උඩුකුරු | වස්තුවට වඩා කුඩායි |
| B | නොහැකිය | උඩුකුරු | වස්තුවට වඩා කුඩායි |
| C | නොහැකිය | උඩුකුරු | වස්තුවට වඩා කුඩායි |

උත්තල දර්පණයක් ඉදිරියේ තැබූ වස්තුවක වස්තුවේ සිට දර්පණයට ඇති දුර වෙනස් වන විට සෑදෙන ප්‍රතිබිම්බයේ ස්වභාවය වෙනස් නොවන බව පැහැදිලි වේ.

උත්තල දර්පණවලින් සෑදෙන ප්‍රතිබිම්බවල විශාලත්වය පිළිබඳව අධ්‍යයනය සඳහා පහත දැක්වෙන ක්‍රියාකාරකමෙහි යෙදෙමු.

### ක්‍රියාකාරකම 9.15



9.40 රූපය

**අවශ්‍ය ද්‍රව්‍ය :-** සර්වසම ඉටිපන්දම් දෙකක්, ඔරලෝසු වීදුරුවක්, තිරයක්, දර්පණ ආධාරකයක්

**ක්‍රමය :-**

- රූපයේ දැක්වෙන පරිදි ඔරලෝසු වීදුරුවේ උත්තල පෘෂ්ඨය ඉදිරියේ (A) දැල්වූ ඉටිපන්දමක් තබන්න.
- ඔරලෝසු වීදුරුවෙන් පෙනෙන ප්‍රතිබිම්බයේ ස්වභාවය නිරීක්ෂණය කරන්න. උත්තල දර්පණයෙන් දුටු ආකාරයටම ප්‍රතිබිම්බය දිස්වනු ඇත. (මෙම ක්‍රියාකාරකම අඳුරු ස්ථානයක දී සිදු කිරීම වඩාත් සුදුසු ය.)
- අනෙක් ඉටිපන්දම ප්‍රතිබිම්බය සෑදී ඇති ස්ථානයේ තබන්න. ප්‍රතිබිම්බයේ හා මෙම ඉටිපන්දමේ විශාලත්වය සංසන්දනය කරන්න.
- දැල්වූ ඉටිපන්දම B, C ස්ථානවල ද තබමින් සෑදෙන ප්‍රතිබිම්බවල විශාලත්වය සංසන්දනය කරන්න.
- ඔබගේ නිරීක්ෂණ සටහන් කරන්න.

## එදිනෙදා ජීවිතයේ දී උත්තල දර්පණ භාවිත වන අවස්ථා

- වාහනවල පැති කණ්ණාඩි ලෙස උත්තල දර්පණ භාවිත වේ.

උත්තල දර්පණවලින් වස්තුවට වඩා කුඩා උඩුකුරු ප්‍රතිබිම්බ සෑදෙන බැවින් වාහනය පිටුපස විශාල පෙදෙසක් එකවර රියදුරාට නිරීක්ෂණය කිරීම පහසු වේ.



9.41 රූපය වාහනවල පැති කණ්ණාඩියට වාහනය පිටුපස පෙනෙන ආකාරය

## පැවරුම 9.9

එදිනෙදා ජීවිතයේ දී උත්තල දර්පණ භාවිත වන වෙනත් අවස්ථා ලැයිස්තුවක් සකස් කරන්න.

## සාරාංශය

- එදිනෙදා ජීවිතයේ දී සෙවනැලි හෙවත් ඡායා නිරතුරුවම වාගේ නිරීක්ෂණය කළ හැකි වේ.
- පාරාන්ධ වස්තුවලින් ආලෝකය ගමන් නොකිරීම හේතුවෙන් ඡායා ඇති වේ.
- වස්තුව ආලෝක ප්‍රභවයට ඈතින් පිහිටන අවස්ථාවල දී පැහැදිලි ඡායා ඇති වේ. උප ඡායාවක් දැකිය හැකි වන්නේ ආලෝක ප්‍රභවය වස්තුවට ආසන්නව පිහිටි විට ය.
- සුමට දිලිසෙන පෘෂ්ඨ දර්පණ ලෙස ක්‍රියා කරයි.
- ආලෝක කිරණ යම් පෘෂ්ඨයක පතිත වීමෙන් පසු එම මාධ්‍ය ඔස්සේ ම ආපසු හැරී ගමන් කිරීම ආලෝක පරාවර්තනය ලෙස හඳුන්වයි.
- දර්පණවල ප්‍රතිබිම්බ සෑදෙන්නේ ආලෝකය පරාවර්තනය හේතුවෙනි.
- සෑමවිටම තල දර්පණ ඉදිරියෙන් වස්තුවක් තැබූවිට තිරයකට ලබා ගත නොහැකි, වස්තුවේ ප්‍රමාණයට සමාන, උඩුකුරු ප්‍රතිබිම්බ සෑදේ.
- අවතල දර්පණ මගින් සමාන්තර ආලෝක කදම්බයක් අභිසාරී කළ හැකිවන අතර උත්තල දර්පණවලින් සමාන්තර ආලෝක කදම්බයක් අපසාරී කළ හැකි වේ.
- වස්තුවේ සිට දර්පණයට ඇති දුර අනුව අවතල දර්පණවලින් සෑදෙන ප්‍රතිබිම්බවල ස්වභාවය වෙනස් වේ.
- වස්තුවේ සිට දර්පණයට ඇති දුර අනුව උත්තල දර්පණවලින් සෑදෙන ප්‍රතිබිම්බවල ස්වභාවය වෙනස් නොවේ.
- එදිනෙදා ජීවිතයේ දී විවිධ කටයුතු සඳහා දර්පණ භාවිත වේ.

## අභ්‍යාස

1. වරහන් තුළ දී ඇති වචනවලින් සුදුසු වචනය තෝරා හිස් තැන් පුරවන්න.
   1. පැහැදිලි ඡායාවක් ලබාගත හැකි වන්නේ ...........................මගිනි. (ඉටිපන්දම/විදුලි පන්දම් බල්බය)
   2. සමාන්තර ආලෝක කදම්බයක් අපසරණය කිරීමට යොදා ගන්නේ ..........................දර්පණයි. (උත්තල/අවතල)
   3. තල දර්පණවලින් සෑදෙන ප්‍රතිබිම්බ සෑමවිටම වස්තුවට .......................(සමාන වේ/වඩා කුඩා වේ).
   4. උත්තල දර්පණවලින් සෑදෙන ප්‍රතිබිම්බ සෑමවිටම ...................... (උඩුකුරු ය/යටිකුරු ය).
   5. යටිකුරු ප්‍රතිබිම්බ ලබා ගැනීමට භාවිත කළ යුත්තේ.............................. දර්පණ වේ. (අවතල/උත්තල)

2. දී ඇති පිළිතුරු අතරින් වඩාත් නිවැරදි පිළිතුර තෝරන්න.
   1. තල දර්පණයකින් සෑදෙන ප්‍රතිබිම්බයක ලක්ෂණයක් නොවන්නේ,
      i) තිරයකට ගත හැකි වීම   ii) උඩුකුරු වීම
      iii) වස්තුවේ ප්‍රමාණයට සමාන වීම   iv) පාර්ශ්වික අපවර්තනය වීම
   2. උත්තල දර්පණයකින් සෑදෙන ප්‍රතිබිම්බයක ලක්ෂණයක් වන්නේ,
      i) යටිකුරු වීම   ii) තිරයකට ගත හැකි වීම
      iii) වස්තුවට වඩා කුඩා වීම   iv) වස්තුවට වඩා විශාල වීම
   3. ප්‍රතිබිම්බ තුනක් ලබා ගැනීමට තල දර්පණ දෙකක් ආනතව තැබිය යුතු කෝණය වනුයේ,
      i) $60^0$   ii) $45^0$   iii) $90^0$   iv) $30^0$
   4. තිරයකට ගත හැකි යටිකුරු ප්‍රතිබිම්බ ලබා ගැනීමට භාවිත කළ යුතු දර්පණ වර්ගය වනුයේ,
      i) උත්තල ය   ii) අවතල ය   iii) තල දර්පණ   iv) ඉහත සියල්ලම ය

## පාරිභාෂිත වචන

| | | | |
|---|---|---|---|
| ඡායාව | Umbra | තල දර්පණ | Plane mirror |
| උප ඡායාව | Penumbra | අභිසාරී | Convergent |
| ප්‍රතිබිම්බ | Image | අපසාරී | Divergent |
| පරාවර්තනය | Reflection | පරික්ෂය | Periscope |
| උත්තල දර්පණ | Convex mirror | බහුරූපේක්ෂය | Kaleidoscope |
| අවතල දර්පණ | Concave mirror | | |

# 10 අණ්වීක්ෂයේ නිවැරදි භාවිතය

ඈත අතීතයේ සිට ම කුඩා දේවල් විශාල කර බලා ගැනීම සඳහා විවිධ අයුරින් උත්සාහ දරා ඇති අතර ඒ සඳහා විවිධ උපකරණ නිර්මාණය කර භාවිත කර ඇත.

නිවසේ දී පහසුවෙන් සපයාගත හැකි උපකරණ හෝ ද්‍රව්‍ය ආධාර කර ගනිමින් පහත ක්‍රියාකාරකමෙහි නියැළෙන්න.

## ක්‍රියාකාරකම 10.1

**අවශ්‍ය ද්‍රව්‍ය** :- ජලය පුරවා වසන ලද වීදුරු බෝතලයක්, වීදුරු ගෝලයක්, ජල බිංදුවක් සහිත වීදුරු කදාවක්, ජලය පුරවා මුද්‍රා තබන ලද විනිවිද පෙනෙන පොලිතින් බෑගයක්, ජලය පිරවූ සූත්‍රිකා බල්බයක්

**ක්‍රමය** :- ඉහත එක් එක් උපකරණ/ද්‍රව්‍ය කට්ටල යොදා ගනිමින් කුඩා අකුරු නිරීක්ෂණය කරන්න.

එම කුඩා අකුරු විශාල වී පෙනෙන බව ඔබට අවබෝධ වන්නට ඇත.

ජලය තිබීම හැරුණු විට ඉහත ක්‍රියාකාරකම සඳහා යොදා ගත් උපකරණවල පොදු ලක්ෂණයක් ඔබට හඳුනා ගත හැකි වූවා ද?



10.1 රූපය ▲ වීදුරු ගෝලයක් තුළින් අකුරු විශාල වී පෙනෙන ආකාරය

පිටතට නෙරා ගිය කවාකාර පෘෂ්ඨීය ස්වභාවය ඉහත උපකරණවල පොදු ලක්ෂණයක් ලෙස ඔබට හඳුනා ගත හැකි වනු ඇත. මෙසේ කවාකාර මතුපිටක් සහිත පෘෂ්ඨවලින් කුඩා දේ විශාල කර බැලීමට යොදගත හැකි බව ඔබට වැටහී යනු ඇත. පාසල් විද්‍යාගාරයේ මෙවැනි ලක්ෂණ සහිත උපකරණයක් ලෙස **උත්තල කාචය** හඳුනා ගත හැකි ය.

## 10.1 සරල අණ්වීක්ෂය

උත්තල කාචයකට රාමුවක් සහිත මිටක් සවි කිරීමෙන් අත් කාචය හෙවත් සරල අණ්වීක්ෂය නිපදවා ඇත.



10.2 රූපය ▲ උත්තල කාච



10.3 රූපය ▲ උත්තල කාච යොදා සාදා ඇති අත් කාච

**ක්‍රියාකාරකම 10.2**

ඉහත 10.1 ක්‍රියාකාරකම සඳහා යොදාගත් අකුරු අත් කාචයක් භාවිතයෙන් නිරීක්ෂණයට ලක් කරන්න.

මෙහි දී අත් කාචයත් ඇසත් අතර දුර නොවෙනස් ව තබා ගෙන වස්තුව (අකුරු) පමණක් සීරු මාරු කිරීමට වග බලා ගන්න.

එහි දී අකුරු හා අත් කාචය අතර පරතරය වැඩිවත්ම අකුරු ක්‍රමයෙන් විශාල වේ. එක්තරා සීමාවක දී එය උපරිමයකට ළඟාවේ. දුර තවත් වැඩි කිරීමේ දී අකුරු අපැහැදිලි වන බව ඔබට නිරීක්ෂණය කිරීමට හැකිවනු ඇත.



10.4 රූපය ▲ කාචයකින් වස්තුවක් නිරීක්ෂණය කිරීම

මේ අනුව අත් කාචයකින් වස්තුවක් නිරීක්ෂණය කිරීමේ දී කාචයත් වස්තුවත් අතර නියත දුරක් තිබිය යුතු බව ඔබට වැටහෙනු ඇත.

## 10.2 අණ්වීක්ෂයක විශාලනය හා විභේදන බලය

### විශාලනය

ඉහත 10.1 හා 10.2 ක්‍රියාකාරකම්වල නිරත වීමේ දී අකුරු කිහිප ගුණයකින් විශාල වී ඔබට පෙනෙන්නට ඇත. කිසියම් නිදර්ශකයක් විශාල වී පෙනෙන

වාර ගණන **විශාලනය** හෙවත් විශාලන බලය ලෙස හැඳින්විය හැකි ය.

## ක්‍රියාකාරකම 10.3

අත් කාචයක් යොදා ගනිමින් විවිධ ද්‍රව්‍ය නිරීක්ෂණයට ලක් කරන්න. ඔබගේ නිරීක්ෂණ පහත පරිදි වගුගත කරන්න. ඒ සාම්පලවල ඇති පියවි ඇසට පැහැදිලිව නොපෙනෙන දේ වෙන් කිරීමට උත්සාහ කරන්න.

10.1 වගුව

| නිරීක්ෂණයට ලක් කළ ද්‍රව්‍ය | නිරීක්ෂණ |
|---|---|
| 1. පස් සාම්පලය | විවිධ ප්‍රමාණයේ වැලි කැට, බොරළු දක්නට ලැබුණි. කෘමි සතුන් කිහිපදෙනෙකු දක්නට ලැබුණි. |
| 2. | |
| 3. | |

### විභේදනය

යම්කිසි අනුයාත (එක ළඟ පිහිටි) ලක්ෂ්‍ය දෙකක් පැහැදිලිව වෙන්කර හඳුනා ගැනීමට එම ලක්ෂ්‍ය දෙක අතර තිබිය යුතු අවම දුර **විභේදනය** ලෙස හැඳින්වේ.

එක ළඟ පිහිටි ලක්ෂ්‍ය දෙකක් පියවි ඇසින් බලා වෙන්කර හඳුනා ගැනීමට අවම වශයෙන් එම ලක්ෂ්‍ය දෙක අතර පරතරය 0.1 mm ක් පමණ විය යුතු ය. එනම් පියවි ඇසේ විභේදනය 0.1 mm පමණ වන බව ඔබට වැටහෙනු ඇති.

## ක්‍රියාකාරකම 10.4

**අවශ්‍ය ද්‍රව්‍ය :-** පුවත්පතක වර්ණවත් පින්තූරයක්, අත් කාචයක්

**ක්‍රමය :-** පුවත්පතක තිබෙන පින්තූරයක් අත් කාචයක් භාවිතයෙන් නිරීක්ෂණය කරන්න. ඔබගේ නිරීක්ෂණ පන්තියට ඉදිරිපත් කරන්න.

අත් කාචයෙන් නිරීක්ෂණය කිරීමේ දී අදාළ රූපය කුඩා තිත් රාශියකින් සෑදී ඇති බවත් පියවි ඇසට වඩා අත් කාචයෙන් නිරීක්ෂණයේ දී එය වඩාත් හොඳින් පැහැදිලි වන බවත් ඔබට අවබෝධ වනු ඇත. මෙයින් පෙනී යන්නේ පියවි ඇසේ විභේදන හැකියාවට වඩා අත් කාචයේ විභේදන හැකියාව වැඩි බවයි.

## ක්‍රියාකාරකම 10.5

**අවශ්‍ය ද්‍රව්‍ය හා උපකරණ :-** සුදු කඩදාසියක්, පැන්සලක් හෝ පෑනක්, අත් කාච දෙකක්

**ක්‍රමය :-**



- එකිනෙක නොගෑවෙන සේ හැකි තරම් ආසන්නයෙන් කුඩා ලක්ෂ්‍ය දෙකක් සලකුණු කර ගන්න.



- අත් කාචයක් යොදා ගනිමින් ලක්ෂ්‍ය දෙක අතර පරතරයත් තිත්හි විශාලනයත් නිරීක්ෂණය කරන්න.
- දැන් අත් කාච දෙකක් යොදා ගනිමින් ලක්ෂ්‍ය දෙක අතර පරතරයත් ලක්ෂ්‍යවල විශාලනයත් නිරීක්ෂණය කරන්න.

ලක්ෂ්‍ය දෙක අතර පරතරය වැඩියෙන් තිබෙන සේ නිරීක්ෂණය වූයේත් විශාලනය උපරිම වූයේත් අත් කාච දෙකක් යොදාගත් විට දී බව ඔබට පැහැදිලි වන්නට ඇත.

මේ අනුව වැඩි විශාලනයක් හා වැඩි විභේදන හැකියාවක් ලබා ගැනීම සඳහා අත් කාච දෙකක් එනම් උත්තල කාච දෙකක් යොදාගත යුතු බව ඔබට වැටහෙන්නට ඇත.

විශාලන බලයන්ගෙන් වැඩි උත්තල කාච දෙකක් යොදා ගනිමින් සංයුක්ත ආලෝක අණ්වීක්ෂය නිපදවා ඇත.

## 10.3 සංයුක්ත ආලෝක අණ්වීක්ෂය

අවම වශයෙන් උත්තල කාච දෙකකින් සෑදී ඇති නිසා මෙය සංයුක්ත අණ්වීක්ෂය ලෙස ද භාවිතයේ දී ආලෝකය යොදා ගන්නා බැවින් ආලෝක අණ්වීක්ෂය ලෙස ද හඳුන්වනු ලැබේ.

අත් කාචයකින් ක්ෂුද්‍ර ජීවීන් නිරීක්ෂණය කළ නොහැකි නමුත් සංයුක්ත ආලෝක අන්වීක්ෂය ආධාරයෙන් ක්ෂුද්‍ර ජීවීන් නිරීක්ෂණය කළ හැකි ය.

වැඩි දියුණු කළ සංයුක්ත ආලෝක අණ්වීක්ෂයක උපරිම විශාලනය 2000 වාරයක් පමණ වේ. එහි උපරිම විභේදනය 0.2 μm (0.0002mm) පමණ වේ. (පියවි ඇසේ විභේදන හැකියාව මෙන් 500 ගුණයකි).

## ක්‍රියාකාරකම 10.6

**සංයුක්ත ආලෝක අණ්වීක්ෂයක කොටස් හඳුනා ගැනීම**

- පාසලේ විද්‍යාගාරයේ තිබෙන සංයුක්ත ආලෝක අණ්වීක්ෂය නිරීක්ෂණය කරන්න
- ගුරුතුමා/ගුරුතුමියගේ සහායෙන් එහි ප්‍රධාන කොටස් හා ඒවායේ ප්‍රධාන කාර්ය හඳුනා ගන්න.

සංයුක්ත ආලෝක අණ්වීක්ෂයක කොටස් 10.5 රූපයේ දක්වා ඇත.




10.5 රූපය ▲ සංයුක්ත ආලෝක අණ්වීක්ෂයක කොටස්

වගුව 10.2 ▲ අන්වීක්ෂයක කොටස්

| අණ්වීක්ෂයේ කොටස | විස්තරය |
|---|---|
| උපනෙත | ඇසට සමීප කාචයයි. මෙය උත්තල කාචයකි. ×5, ×10 හෝ ×15 ලෙස විශාලනය දක්වා ඇත. එම ප්‍රමාණවලින් නිදර්ශකය විශාල කර දක්වනු ලැබේ. |
| අවනෙත | වස්තුවට (නිදර්ශකයට) සමීප කාචයයි. එය ද උත්තල කාචයකි. නිදර්ශකය විශාල කර දක්වයි. බොහෝ විට ප්‍රධාන අවනෙත් වර්ග 3ක් හඳුනා ගත හැකි ය. එනම්,<br>1. අවබල අවනෙත - විශාලනය අවම අවනෙත් කාචයයි.<br>(×4, ×5 හෝ ×8 විය හැකි ය.)<br>2. මැදි බල අවනෙත - විශාලනය මධ්‍යස්ථ කාචයයි. (×10)<br>3. අධි බල අවනෙත - විශාලනය උපරිම කාචයයි (×40) |
| දළ සීරු මාරුව | නිදර්ශකය පැහැදිලිව නිරීක්ෂණය කිරීම සඳහා දේහ නළය සීරු මාරු කිරීම |
| සියුම් සීරු මාරුව | නිදර්ශකය වඩාත් පැහැදිලි ලෙස නිරීක්ෂණය කිරීම සඳහා දේහ නළය සියුම් ලෙස සීරු මාරු කිරීම |
| වේදිකාව | නිදර්ශකය සහිත කදාව තැන්පත් කර තබා ගැනීම |
| ක්ලිප | නිදර්ශකය සහිත කදාව වේදිකාව මත රඳවා තබා ගැනීම |
| ප්‍රාචීරය | නිදර්ශකය වෙත ළඟා වන ආලෝක ප්‍රමාණය පාලනය කිරීම |
| දර්පණය | අවතල හා තල පෘෂ්ඨ සහිත ය. ප්‍රභවයකින් ලැබෙන ආලෝකය ප්‍රාචීරය වෙත යොමු කරවයි. |
| පාදය | අණ්වීක්ෂය ආධාරක පෘෂ්ඨය මත නොසෙල් වී තබා ගැනීම |

## අමතර දැනුමට

**ඉතිහාසයෙන් බිඳක්....**

සංයුක්ත ආලෝක අණ්වීක්ෂයක් ප්‍රථම වතාවට නිපදවන ලද්දේ සැචේරියස් ජැන්සන් සහෝදරයන් විසිනි. එහි උපරිම විශාලන බලය ×9 කි.



සැචේරියස් ජැන්සන් සහ ඔහුගේ අණ්වීක්ෂය

නමුත් අණ්වීක්ෂය මුලින් ම නිපදවීමේ ගෞරවය හිමි වන්නේ ඕලන්ද ජාතික ඇන්ටන් වොන් ලීවන්හුක්ට ය (1632-1723). එතෙක් පියවි ඇසින් නුදුටු ලෝකයක් අනාවරණය වූයේ ඔහුගේ උපකරණයෙන් වීම ඊට හේතුවයි.



ඇන්ටන් වොන් ලීවන් හුක් සහ ඔහුගේ අණ්වීක්ෂය

## පැවරුම 10.1

අණ්වීක්ෂයේ ඓතිහාසික තොරතුරු සොයා බලා වාර්තාවක් සකස් කරන්න.

**සංයුක්ත ආලෝක අණ්වීක්ෂයක් භාවිත කිරීමේ නිවැරදි පිළිවෙළ**

1. පළමුව අණ්වීක්ෂය තිරස් මේසයක් මත ස්ථාවරව තබන්න. (දැඩි හිරු රැස් නොවැටෙන ස්ථානයක තබන්න)
2. දළ සීරුමාරුව භාවිතයෙන් අවබල අවනෙත පහළට රැගෙන එන්න.
3. දර්පණය හා ප්‍රාචීරය සීරුමාරු කරමින් පහසු ඇස උපනෙතට තබා දෑස විවෘතව තබා ගනිමින් පැහැදිලි ආලෝක ලපයක් ලබා ගන්න.
4. පිළියෙල කර ගත් කදාව වේදිකාව මත ක්ලිප මගින් සවිකර ගන්න.

5. දැසම විවෘතව තබා පහසු ඇස උපනෙතට 1 cm පමණ දුරින් තබා ගනිමින් අවබල අවනෙත, දළ සීරුමාරුව භාවිතයෙන් පැහැදිලි ප්‍රතිබිම්බයක් ලැබෙන තෙක් ඉහළට රැගෙන එන්න.
6. සියුම් සීරු මාරුව භාවිතයෙන් ප්‍රතිබිම්බය වඩාත් පැහැදිලි කර ගන්න.
7. අවශ්‍ය නම් මැදි බල හා අධි බල අවනෙත යොදා ගනිමින් සීරු මාරුව ආධාරයෙන් තීව්‍ර පැහැදිලි ප්‍රතිබිම්බයක් ලබා ගත හැකි ය.
8. නිරීක්ෂණයෙන් පසුව රළු සීරු මාරුව මගින් අවබල අවනෙත ඉහළට රැගෙන එන්න.
9. නිදර්ශකය ඉවත් කර පිරිසිදු වියළි කපු රෙදි කැබැල්ලකින් කාච හා වේදිකාව පිස දමන්න.

**අණ්වීක්ෂය භාවිතයේ දී සැලකිලිමත් විය යුතු කරුණු**

1. අණ්වීක්ෂය රැගෙන යාමේ දී හුරු අතින් බාහුවෙන් අල්ලාගෙන අනෙක් අත අණ්වීක්ෂය පාදය යටින් තබා ඇඟ දෙසට මඳක් ඇලවෙන සේ දරා සිටිය යුතු ය.



10.6 රූපය

2. භාවිතයෙන් පසු කාච හා වේදිකාව පිරිසිදු කපු රෙදි කැබැල්ලකින් පිස දැමීම
3. දිගු කලක් භාවිත නොකරන්නේ නම් කාච ගලවා සිලිකා ජෙල් හෝ නිර්ජලීය කැල්සියම් ක්ලෝරයිඩ් අඩංගු ඩෙසිකේටරයක බහාලීම
4. අණ්වීක්ෂය දූවිලි නොරැඳෙන සේ සිරස්ව ගබඩා කළ යුතු ය.
5. නිරීක්ෂණයේ දී පිරිසිදු කදා හා වැසුම් පෙති භාවිත කිරීම
6. අණ්වීක්ෂ කිහිපයක් ඇති විට ඒවායේ කාච කට්ටල මාරු නොකිරීම

## අණ්වීක්ෂයක විශාලන බලය ගණනය කිරීම

නිදර්ශකය කොපමණ වාරයක් විශාල කිරීමට ලක් වන්නේ ද යන්න මෙහි අදහසයි. එම වාර ගණන උපනෙත් විශාලනය හා අවනෙත් විශාලනය අතර ගුණිතයෙන් ලැබේ.

අණ්වීක්ෂයේ විශාලනය (විශාලන බලය) = උපනෙත් විශාලනය × අවනෙත් විශාලනය

ගැටලුව :-

එක් අණ්වීක්ෂීය නිරීක්ෂණයක දී උපනෙත $\times 10$ ලෙසත් අවනෙතේ $\times 40$ ලෙසත් සටහන් වී තිබුණි. අණ්වීක්ෂයේ විශාලනය කොපමණ ද?

| | | | | |
|---|---|---|---|---|
| අණ්වීක්ෂයේ විශාලනය (විශාලන බලය) | = | උපනෙත් විශාලනය | $\times$ | අවනෙත් විශාලනය |
| | = | 10 | $\times$ | 40 |
| | = | 400 | | |

අණ්වීක්ෂයෙන් කදාවක් නිරීක්ෂණය කර රේඛීය සටහන් ඇඳීමේ දී විශාලනය පහත ආකාරයට සඳහන් කළ යුතු ය.

> උපනෙතේ විශාලනය × අවනෙතේ විශාලනය × දෘශ්‍ය ප්‍රතිබිම්බය විශාල කර ඇඳ ඇති වාර ගණන

**සංයුක්ත ආලෝක අණ්වීක්ෂය මගින් ශාක හා සත්ත්ව පටක නිරීක්ෂණය**

**ක්‍රියාකාරකම 10.7**

**අවශ්‍ය ද්‍රව්‍ය හා උපකරණ :-** සංයුක්ත ආලෝක අණ්වීක්ෂය, කදා, වැසුම් පෙති, බුලත් කොළයක්, රෝහියෝ පත්‍රයක්, ලූනු ගෙඩියක්, කොපුල් සෛලවලින් සාදාගත් කදාවක්

**ක්‍රමය :-** විවිධ විශාලන බල යටතේ ඉහත දක්වන ලද ශාක හා සත්ත්ව සෛල/පටක නිරීක්ෂණය කරන්න. ඒවායේ රේඛීය සටහන් ඇඳ විශාලනය සඳහන් කරන්න.

පහත දක්වා ඇත්තේ රෝහියෝ පත්‍රයක යටි අපිචර්මීය පටකයක් ආලෝක අණ්වීක්ෂයෙන් නිරීක්ෂණය කිරීමේ දී දක්නට ලැබෙන ආකාරය සහ එහි රේඛීය සටහන යි.



10.7 රූපය ▲ රෝහියෝ යටි අපිචර්මීය පටකය ආලෝක අණ්වීක්ෂයේ අව බලය යටතේ (10 × 4)



10.8 රූපය ▲ රෝහියෝ යටි අපිචර්මීය පටකයේ රේඛීය සටහන (10 × 4 × 3)

මිනිසාගේ කොපුල් සෛල ආලෝක අණ්වීක්ෂයෙන් නිරීක්ෂණය කිරීමේ දී දක්නට ලැබෙන ආකාරය සහ එහි රේඛීය සටහන පහත දැක්වේ.



10.9 රූපය ▲ මිනිසාගේ වර්ණ ගැන්වූ කොපුල් සෛල ආලෝක අණ්වීක්ෂයේ අධි බලයෙන් පෙනෙන ආකාරය (10 × 40)



10.10 රූපය ▲ මිනිසාගේ කොපුල් සෛල රේඛීය සටහන (10 × 40 × 2)

**පැවරුම 10.2**

සරල අණ්වීක්ෂය හා සංයුක්ත ආලෝක අණ්වීක්ෂය අතර වෙනස්කම් ලැයිස්තු ගත කරන්න.

## 10.4 ඉලෙක්ට්‍රෝන අණ්වීක්ෂය

ඉලෙක්ට්‍රෝන අණ්වීක්ෂය ආලෝක කිරණ වෙනුවට ඉලෙක්ට්‍රෝන කදම්බයක් උපයෝගී කරගනු ලැබේ. මේ සඳහා සජීවී නිදර්ශක භාවිත කළ නොහැකි ය. ඉලෙක්ට්‍රෝන අණ්වීක්ෂයක උපරිම විශාලන බලය 500 000 ගුණයක් පමණ වේ. එහි උපරිම විභේදනය 0.0005 µm ($5\times 10^{-7}$ mm) පමණ වේ. මෙය නිරෝගී ඇසක විභේදන හැකියාව මෙන් 200 000 ගුණයකින් ඉහළ වේ. වෛරස් ආලෝක අණ්වීක්ෂයෙන් නිරීක්ෂණය කළ නොහැකි අතර ඉලෙක්ට්‍රෝන අණ්වීක්ෂයෙන් නිරීක්ෂණය කළ හැකි ය.



10.11 රූපය ▲ ඉලෙක්ට්‍රෝන අණ්වීක්ෂය

**ඉලෙක්ට්‍රෝන අණ්වීක්ෂය භාවිත වන අවස්ථා**

- විවිධ රෝගකාරක ජීවීන් (වෛරස්, බැක්ටීරියා) පිළිබඳ පර්යේෂණ කටයුතුවල දී එම ජීවීන්ගේ ක්‍රියාකාරීත්වය නිරීක්ෂණයට අවශ්‍ය වේ.
- සෛලයක අභ්‍යන්තර ව්‍යුහය සවිස්තරාත්මකව අධ්‍යයනය කිරීමට වැදගත් වේ.
- ජාන විද්‍යාත්මක පර්යේෂණ කටයුතු සඳහා යොදා ගනියි.
- අධිකරණ වෛද්‍ය විද්‍යාවේ දී ජානමය සාක්ෂි ලබාගැනීමට භාවිත කරයි.



10.12 රූපය ▲ AIDS වෛරසයේ ඉලෙක්ට්‍රෝන අණ්වීක්ෂීය ඡායාරූපය



10.13 රූපය ▲ බැක්ටීරියාවල ඉලෙක්ට්‍රෝන අණ්වීක්ෂීය ඡායාරූපය

## සාරාංශය

- උත්තල ස්වභාවයක් සහිත පාරදෘශ්‍ය වස්තු මගින් කුඩා දේ විශාල කර නිරීක්ෂණය කළ හැකි ය.
- අත් කාචය, ආලෝක අණ්වීක්ෂය හා ඉලෙක්ට්‍රෝන අණ්වීක්ෂය යනු කුඩා දේවල් විශාල කර බැලීමට යොදා ගන්නා ප්‍රකාශ උපකරණ තුනකි.
- ආලෝක අණ්වීක්ෂයක විශාලනය උපනෙතේ විශාලනය හා අවනෙත් විශාලනය අතර ගුණිතයෙන් ලැබේ.
- යම් කිසි අනුයාත ලක්ෂ්‍ය දෙකක් හෝ වස්තු දෙකක් පැහැදිලිව වෙන් කර හඳුනා ගැනීමට තිබිය යුතු අවම දුර විභේදනය ලෙස හැඳින්වේ.
- ආලෝක අණ්වීක්ෂයට වඩා වැඩි විශාලන බලයක් හා විභේදන හැකියාවක් ඉලෙක්ට්‍රෝන අණ්වීක්ෂය සතුව ඇත.

## අභ්‍යාස

1. පහත දැක්වා ඇති අණ්වීක්ෂයේ A සිට D දක්වා කොටස් නම් කරන්න.




2. සංයුක්ත ආලෝක අණ්වීක්ෂයෙන් කදාවක් නිරීක්ෂණය කිරීමේ දී උපනෙතේ x5 ලෙසත් අවනෙතේ x40 ත් සඳහන් වී තිබුණි. අණ්වීක්ෂයේ විශාලනය කොපමණ ද?

3. අණ්වීක්ෂයක් භාවිතයේ දී සැලකිලිමත් විය යුතු කරුණු දෙකක් ලියා දක්වන්න.

### පාරිභාෂික වචන

| | |
|---|---|
| සරල අණ්වීක්ෂය | - Simple microscope |
| විශාලනය | - Magnification |
| විභේදනය | - Resolution |
| සංයුක්ත ආලෝක අණ්වීක්ෂය | - Compound light microscope |
| උපනෙත | - Eye piece |
| අවනෙත | - Objective lens |
| ඉලෙක්ට්‍රෝන අණ්වීක්ෂය | - Electron microscope |